සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ ඇසළ මස (ව්‍යවහාරික වර්ෂ 2015 ජූලි)

46 වෙනි කලාපය



## දඹ දීපයේ හෙට දවස...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-

# සමතය නම්...





විසමව තිබූ දෑ සම අතකට යන්නේ
අසනට බණ දහම් පිරිසිදු සිත ගන්නේ
එසමෙහි කාම කෙලෙසුන් වස්තුද ලන්නේ
මෙසමතයෙන් අවිදු තණ්හා පහ වන්නේ

සත් තිස් බෝධි පා දම් සිත වැඩෙන තැනේ
අත් වෙන නිවන් මග සමතය ලෙසට දැනේ
මත් වූ විසම බව දුරු විට සුවය ගෙනේ
පත් වෙති සම අතට විදසුන වඩන නැණේ

පස් නීවරණ යටපත් වන ලෙසට සිතේ
දොස් නෙක පහ කරන බණ දම් අදද ඇතේ
හිස් වෙත වටිනකම් ලොව ඇති සමත වෙතේ
කෙස් ගස තරම් කෙලෙසුන් තව ඉතිරි නැතේ

ඇති විට විසම බව යහපත කරනු බැරී
නැති වෙයි මෙලොව පරලොව ජය ලෙසට හරී
නිති සුව ගෙනෙන සමතය ඇත දහමෙ අරී
සිතිවිලි ගෙනෙයි සුගතිය සහ නිවන පිරී

වඩමින් හිඳින සමතය අද ලොවෙහි සත
එසැණින් නිමා වෙයි දොස් එලෙසටම ඇත
නැණසින් ගතොත් ලොව ඇති දේ සමත වෙත
නිවනින් මෙපිට සමතය බුදු දහමෙ නැත

අස්වාදයද එහි ආදීනවය දැක
නිස්සරණයට පත් විට ලොව තියෙන දුක
දොස් සමනයද සිදු වී ඉන් දුරැර සැක
හිස් බව දැනෙයි ලොව අරී මග වැඩිය හැක

සම අත යනෙන සිතිවිලි ලෝ අවැඩ හැරා
විමසයි නියම තතු සරනට නිවන කරා
මම යන කෙනා බැඳ ගෙන ඇති පටිද ඉරා
නිමවයි ලොවේ දුක් කඳ සඟ ගුණය දරා

සුව අත ගෙනෙන සමතය අරී දහමෙ ඇතී
නිවනට ඔබින ලෙස එය හැම කලම නැතී
දවසක එදම යට ගිය විට ලොව නිමිතී
අවනත කරන සමතය ඇත නිවන නැතී

පබැඳුම - නිහිඟු චන්දන සිරිවර්ධන



# ලොව පහළ වන අති දුර්ලභ කරුණු 5 ක්...



කෙලෙස් බරිත සත්ත්වයා ලෝකයේ ඇති තතු නොදකින නිසා ආස්වාදයන් පසු පස හඹා යමින්, ඒවා ලබා ගන්න, රැක ගන්න අපමණ වෙහෙසෙමින්, ආදීනවයන් විඳිමින් නොනවතින ගමනක යෙදී සිටිනවා. යථාර්ථය නොදත් පුහුදුන් සත්ත්වයා, දුර්ලභ වටිනා දේවල් විදිහට සලකන්නෙ කැඩිල බිඳිල විනාස වෙලා යන පංචකාම වස්තූන්. ඒ වගේ ලෝකයක අති දුර්ලභව පහළ වන උත්තම කරුණු 5 ක් පෙන්වා දෙමින්, දුක් සහිත සසර ගමන අත් හැරී නොඇලී මිදී නිමා කර ගැනීමට උපකාර වන කරුණු කිහිපයක් තමයි මේ පැහැදිලි කරන්න උත්සාහ කරන්නෙ.

අපේ තථාගත භාග්‍යවතුන් වහන්සේ විසාලා මහනුවරට ආසන්නව කූටාගාර කියන සාලාවෙ වැඩ වාසය කරන කොට, 500 ක් පමණ ලිච්ඡවීන් ''සාරන්දද'' කියන චෛතිය අසලට රැස් වෙලා, ලෝකයේ පහළ වන දුර්ලභ කරුණු පිළිබඳ සාකච්ඡා කරමින් සිටියා. යම් අවස්ථාවක මේ ප්‍රදේශයට බුදුන් වහන්සේ වඩිනව දැක්කොත්, අපට දැනුම් දෙන්නැයි කියල එක් තැනැත්තෙක් ඒ සඳහා යොදවල තිබුණා. ලිච්ඡවීන් සාරන්දද චෛතිය අසලට එක් රැස් වෙලා, ලොව පහළ වන හස්ති රත්නය, අශ්ව රත්නය, මාණික්‍ය රත්නය, ස්ත්‍රී රත්නය, ගෘහපති රත්නය කියන පංචවිධ රත්නයන් ලෝකයේ දුර්ලභ රත්න බව සාකච්ඡා කරමින් සිටියා. ඒ අවස්ථාවෙදි බුදුන් වහන්සේ දුරදිම වඩිනව දැකල, උන් වහන්සේ වෙත ගිහින් වැඳ නමස්කාර කරල, සාරන්දද චෛතිය වෙත වැඩම කරන්න කියල ආරාධනා කළා. ලිච්ඡවීන්ගෙ ආරාධනාව පිළිගත් උන් වහන්සේ, චෛතිය වෙත වැඩම කරල පනවල තිබුන අසුනේ වැඩ සිටියා.

ඊට පස්සෙ උන් වහන්සේ, ලිච්ඡවීන් අමතමින්, මා මෙතැනට වැඩම කරවීමට පෙර ඔබලා කතා කරමින් සිටියේ කුමක් පිළිබඳවද කියල ප්‍රශ්න කළා. පිළිතුරු පැහැදිලි කළ ලිච්ඡවීන්, ඉහත පංච රත්නයන්ගේ දුර්ලභ බව සාකච්ඡා කරමින් සිටිය බව ප්‍රකාශ කළා. මේ කාරණය අහපු තථාගතයන් වහන්සේ වස්තු කාම, ක්ලේශ කාමයන්හි ඇලී වාසය කරන ඔබලා, රාගාදී කෙලෙස් ඇති වන දේවල් පිළිබඳවම කතා කර ඇති බවත්, ඔබලා සාකච්ඡා කරමින් සිටි ඔය කරුණුවලට වඩා උත්තම රත්න 5 ක් ඇති බවත් පැහැදිලි කරමින් ධර්ම දේශනා කළා. අංගුත්තර නිකායේ සාරන්දද සූත්‍රයේ සඳහන් ඒ දුර්ලභ කරුණු 5 තමයි මේ.

1. තථාගත අරිහත් සම්බුදු රජාණන් වහන්සේගේ පහළ වීම දුර්ලභය.
2. තථාගතයන් වහන්සේ විසින් වදාළ ධර්ම විනය දේශනා කරන පුද්ගලයාගේ පහළ වීම දුර්ලභය.
3. තථාගතයන් වහන්සේ විසින් දෙසා වදාළ ධර්ම විනය දැන ගන්නා පුද්ගලයා දුර්ලභය.
4. තථාගතයන් වහන්සේ විසින් වදාළ ධර්ම විනයට අනුව ධර්මානුධර්ම ප්‍රතිපදාවේ යෙදෙන පුද්ගලයා දුර්ලභය.
5. කළ ගුණ දන්නා පුද්ගලයා ලොව දුර්ලභය.

මේ සඳහන් කළේ, බුදුන් වහන්සේ විසින් දේශනා කොට වදාළ, ලොව පහළ වන අති දුර්ලභ කරුණු 5 ක්. මෙයින් පළවෙනි දුර්ලභ කාරණය තමයි තථාගතයන් වහන්සේගේ ලොව පහළ වීම. ''සුඛෝ බුද්ධානං උප්පාදෝ'' - එවැනි උතුමෙකුගේ පහළ වීම බොහෝ සතුන්ට ලෞකික, ලෝකෝත්තර සැපය පිණිස පවතී. ''කිච්ඡෝ බුද්ධානං උප්පාදෝ'' - බුදුවරයෙකුගේ පහළ වීම ඉතා දුෂ්කරව, ඉතා කලාතුරකින් සිදු වන්නකි. (ඉමස්ස බෝ භික්ඛවේ ඒක පුග්ගලස්ස පාතුභාවෝ දුල්ලභෝ ලෝකස්මිං)

කරුණා දහරාව ගලා යැමෙන් මහ පොළවේ සජීවී අජීවී සැම වස්තුවක්ම යම් කිසි ආකාරයක නිවී සැනසීම් බවට පත් කළ, විරාගී ධර්මයේ ආලෝකයෙන් මුළු තුන් ලෝකයේම සතුන්ගේ සිත් සතන් එළිය කළ, වීතරාගී තිලෝගුරු බුදු පියාණන්ගේ ලොව පහළ වීම අති දුර්ලභය.

මහ බෝසත්වරු සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය, සොළොසාසංඛ්‍ය කල්ප ලක්ෂ ගණනින් සමතිස් පෙරුම් දම් පුරමින් ඥාතත්ථ චරියා (ඥාතීන්ට කළ යුතු යුතුකම්), ලෝකත්ථ චරියා (ලෝ සතුන්ට කළ යුතු යුතුකම්), බුද්ධි චරියා (තමාට කර ගත යුතු ගුණ දහම්) කියන ත්‍රිවිධ චරියාවන් සම්පූර්ණ කරමින් අසමසම වීර්යෙන් අප්‍රතිහත ධෛර්යෙන් ලොව්තුරා බුද්ධත්වයට පත් වෙනවා. මහ බෝසත්වරුන් පාරමිතා පූර්ණ කරන කාලයේ පටන් පැවති ඒකායන ප්‍රාර්ථනය තමයි, තමනුත් සසරින් මිදිල, සසර අනාථ වූ සත්ව ප්‍රජාවත් සංසාර දුකෙන් මුදවාලීම. ඒ බව පහත ගාථාවෙන් විග්‍රහ වෙනවා.

සංසාර සෝතං ජින්දිත්වා
- විද්ධංසෙත්වා තයෝ භවේ

ධම්ම නාවං සමාරුය්හ
- සන්ථාරෙස්සං සදේවකං

සංසාර නමැති කාම, භව, දිට්ඨි, අවිජ්ජා අංගයන් සිඳ කාම, රූප, අරූප යන තුන් භවයම වනසා, ධර්මය නමැති නැවට නැග, දෙව් මිනිසුන් සහිත සත්ව ප්‍රජාව සසර කතරින් එතෙර කරවමි. මේ තමයි ඉහත ගාථාවෙ සරල අර්ථය.

බුද්ධෝහං බෝධයිස්සාමි
- මුත්තෝහං මෝචයේ පරේ
තිණ්ණෝහං තාරයිස්සාමි
- සංසාරෝඝා මහබ්භයා

මම සත්‍යය අවබෝධ කරමි, ලෝක සත්වයාද මුදවමි, මම සසරින් එතෙර වෙමි, ලෝ සතුන්ද සසර දුකින් එතෙර කරවමි, සංසාර ඕඝය බිය ජනකය.

මේ මහා භද්‍ර කල්පයට එහා කල්පයකදී විපස්සී කියන බුදුන් වහන්සේ ලෝකයට පහළ වුණා. උන් වහන්සේ බොහෝ සත්ත්වයින්ට සෙත සලසල පිරිනිවන් පෑවා. ඊට පස්සෙ කල්ප 60 ක් පමණ අති දීර්ඝ කාලයක් කිසිම බුදුවරයෙක් පහළ නොවී බුද්ධ ශූන්‍යව පැවතියා. මේ විදිහට දිගු කලක් සම්බුදු සසුනක් නොමැතිව තිබිල, ඊළඟ කල්පයෙදි සිඛී, වෙස්සභූ කියන බුදුවරයන් වහන්සේලා දෙනම පහළ වුණා. මේ බුදුවරුන් දෙනමගේ පිරිනිවීමෙන් අනතුරුව, නැවතත් කල්ප 30 ක් තරම් දිගු කාලයක් බුද්ධ ශූන්‍යව පැවතියා. ඊට පස්සෙ මේ ගෙවී යන මහා භද්‍ර කල්පය උදා වුණා. කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම කියන සතර බුදු රජාණන් වහන්සේලා මේ කාලය තුළ පහළ වෙලා පිරිනිවන් පෑවා. දැන් මේ ගෙවී යන්නෙ ගෞතම බුදු සසුනේ අවසන් කාල පරිච්ඡේදය.

මනුස්සයින්ගෙ ආයුස පිරිහිලා ගිහින්, අන්තිමට වයස අවුරුදු 10 දක්වා පිරිහුණාම විසාල සත්ව විනාසයක් සිද්ධ වෙලා එයින් ඉතිරි වන සුළු පිරිසකට, දුෂ්චරිතවල බියකරු බව වැටහිලා නැවතත් සුචරිත ගුණ ඇති කර ගැනීමෙන් ආයුස වර්ධනය වෙලා, මේ මහා භද්‍ර කල්පය අවසානයේ අසූ දහසක් පරමායුස පවතින යුගයේ, මෛත්‍රී නම් බුදු රජාණන් වහන්සේ ලෝකයට පහළ වෙනවා.

සම්බුදු රජාණන් වහන්සේලා පහළ වන සාර කල්ප, මණ්ඩ කල්ප, වර කල්ප, සාරමණ්ඩ කල්ප, භද්‍ර කල්ප වශයෙන් ප්‍රභේද 5 ක් සඳහන් වෙනවා. යම් කල්පයක එක බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙනව නම් ඒක සාර කල්පයක්. බුදුවරු දෙනමක් පහළ වෙන කල්පය මණ්ඩ කල්පයක්. වර කල්පය තුළ බුදුවරුන් තුන් නමක් පහළ වෙනවා. සාර මණ්ඩ කල්පයෙදි සිව් නමක් පහළ වෙනවා. සම්බුදු පියාණන් වහන්සේලා පස් නමක් පහළ වෙන යුගය තමයි මහා භද්‍ර කල්පය කියන්නෙ. භද්‍ර කියන්නෙ සශ්‍රීක කියන අර්ථය. පස් වැදෑරුම් කල්පවලින් වඩාත් සශ්‍රීක, බුදුවරු වැඩි ප්‍රමාණයක් පහළ වෙන්නෙ මහා භද්‍ර කල්පයක් තුළ. ඒ නිසා මේ ගෙවිල යන්නෙ ගෞතම බුදු සසුනේ ස්වර්ණමය යුගය.





''ඒක පුග්ගලෝ භික්ඛවේ ලෝකේ උප්පජ්ජමානෝ උප්පජ්ජති, අදුතියෝ, අසහායෝ, අප්පටිමෝ, අප්පටිභාගෝ, අප්පටි පුග්ගලෝ, අසමෝ අසම සමෝ දීපදානං අග්ගෝ, කථමෝ ඒක පුග්ගලෝ තථාගතෝ අරහං සම්මා සම්බුද්ධෝ '' (අ. නි. - ඒකක නිපාතය)

ලෝකයේ කිසිවෙකුටත් දෙවෙනි වෙන්නෙ නැති, අනුන්ගෙ පිහිටක් අවශ්‍ය නැති, වෙනත් රූපයකින් පෙන්වන්න බැරි, කිසිවෙකුටත් සමාන කරන්න බැරි, තවත් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට පමණක් සම කරන්න පුළුවන්, ධර්මාලෝකය සත්වයින්ට ලබා දෙන එකම පුද්ගලයෙක් ලෝකයේ පහළ වෙනවා. ඒ තමයි තථාගත සම්බුදු රජාණන් වහන්සේ.

දුල්ලභෝ පුරිසාජඤ්ඤෝ - නසෝ සබ්බත්ථ ජායති
යත්ථ සෝ ජායතී ධීරෝ - තං කුලං සුඛ මේධතී
(ධම්ම පදය - බුද්ධ වග්ගය)

අජානීය පුරිසයින්ගෙ පහළ වීම අති දුර්ලභයි. හැම තැනම, හැම කාලයේම ඒ වගේ උතුමන් පහළ වෙන්නෙ නෑ. යම් තැනක ඒ වගේ උතුමෙක් පහළ වේද, ඒ කුලයට, ගමට, රටට, මුළු මහත් ලෝක ධාතුවටම මහත් සැනසිල්ලක්. උපමාවකින් කිව්වොත් අජානීය අශ්වයන් වගෙයි. අජානීය අශ්වයාට යම් හරඹයක් පුහුණු කළොත් ඌ ඒක වරද්දන්නෙ නැතිව හොඳට කරනවා. ඒක උප්පත්තියෙන්ම ලබන ස්වභාවයක්. ඒ වගේ ස්වභාවයක් තමයි අජානීය කිව්වම තියෙන්නෙ.

''සත්පුරිසෝ භික්ඛවේ කුලේ ජායමානෝ බහුනෝ ජනස්ස හිතාය සුඛාය සංවත්තති'' සත්පුරිස උතුමෙකුගේ පහළ වීම බහු ජනතාවට, දෙව් මිනිස් ලෝකයාට මහත් සැනසිල්ලට හේතු වේ.

සතුන් අතර හස්තියා ශ්‍රේෂ්ඨයි. ඇත්තු අතර දළ තියෙන ඇත්තු ඉන්නෙ ඉතා අඩුවෙන්. දළ තියෙන ඇතුන් අතරත් ගජ මුතු සහිත ඇත්තු ඉන්නෙ අති දුර්ලභව. ලෝකයේ කොච්චර ගස් වර්ග තිබුණත් ඒ ගස් අතර සඳුන් ගස ශ්‍රේෂ්ඨයි. ඒ වගේ කල්ප කාලාන්තරයකින් මනුස්සයින් අතර පහළ වන තථාගතයන් වහන්සේ උත්තරීතරයි. මේ වගේ උතුමෙක් කෙරෙහි ප්‍රසාද මාත්‍රයක්, ප්‍රේම මාත්‍රයක් ඇති කර ගත්තත් ඒ මාත්‍රය අති මහත්. ඒ නිසා ''සද්ධා මත්තං පේම මත්තං සබ්බේතේ සග්ග පරායනා'' කියන බුදු වදනින්, **බුදුන් වහන්සේ කෙරෙහි සද්ධා මාත්‍රයක්, ප්‍රේම මාත්‍රයක් ඇති කර ගන්න පුද්ගලයා සතර අපායට නොයා සුගතිගාමී වන බව සඳහන් වෙනවා.**

බුද්ධෝපි බුද්ධස්ස
භණෙය්‍ය වණ්ණං
කප්පම්පි චේ අඤ්ඤං
මහාස මානෝ
ඛීයේථ කප්පෝ චිර දීඝ මන්තරේ
වණ්ණෝන ඛීයේථ තථාගතස්ස

අති දීර්ඝ කාලයකින් ලෝකයට පහළ වන සම්මා සම්බුදු රජාණන් වහන්සේ නමකගේ ගුණ අනන්තයි,

අප්‍රමාණයි. යම් තථාගතයන් වහන්සේ නමක් සියලු බුද්ධ කෘත්‍යයන් පැත්තක තියල, තවත් සම්බුදුවරයෙකුගේ බුදු ගුණ දේශනා කිරීම කල්ප ආරම්භයේදී පටන් ගත්තත්, කල්පය ගෙවිල අවසන් වෙනව මිසක් ගුණ නිමා වෙන්නෙ නෑ. මෙයින් පෙනී යන්නෙ, බුදුන් වහන්සේ නමකටවත් තවත් බුදුවරයන් වහන්සේ නමකගෙ ගුණ දේශනා කරල අවසන් කරන්න බැරි බව.

ඒවං අචින්තියා බුද්ධා
බුද්ධ ගුණා අචින්තියා
අචින්තියේසු පසන්නානං
විපාකෝ හෝති අචින්තියා

ලෝකයේ පහළ වූ බුදුවරු අප්‍රමාණයි. ඒ උතුමන්ලාගේ ගුණත් හිතල නිම කරන්න බෑ. ඒ වගේ ගුණ තියෙන තථාගතයන් වහන්සේ කෙරෙහි යමෙක් සිත පහදවා ගන්නවද, එයින් ලැබෙන යහපත් ප්‍රතිඵලත් හිතල නිම කරන්න බෑ.

යම් සැදැහැවතෙක් අප්‍රමාණ ගුණ තියෙන සර්වඥයින් වහන්සේ නමක් කෙරෙහි සිත පහදවා ගන්නවද, ඒ පුද්ගලයා මේ ලෝකයේ පැහැදෙන්න තියෙන කරුණු අතර අග්‍රස්ථානයේම සිත පහදවා ගත්ත වෙනවා. ඒ පැහැදීම හේතු කොට ගෙන අග්‍රවූම ලෞකික, ලෝකෝත්තර සැප ලබන කෙනෙකුත් වෙනවා. (යේ භික්ඛවේ බුද්ධේ පසන්නා අග්ගේ තේ පසන්නා අග්ගේ බෝ පන පසන්නානං අග්ගෝ විපාකෝ හෝති)

මේ ලෝකයේ ඊළඟ දුර්ලභ කාරණය තමයි, තථාගතයන් වහන්සේගෙ ධර්ම විනය දේශනා කරන පුද්ගලයින්ගෙ පහළ වීම. සම්බුදුවරයෙක් ලෝකයට පහළ වෙලා ධර්ම දේශනා කරන කොට, ඒ උතුම් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල සෝවාන්, සකදාගාමී, අනාගාමී, අරිහත් කියන සතර මග සතර ඵල ලාභී උතුමන් ලොව ජීවමාන වෙනවා.

මහ බෝසතාණන් වහන්සේ ලොව්තුරා බුද්ධත්වයට පත් වෙලා බරණැස ඉසිපතනාරාමයෙදි පස්වග තවුසන්ට ධර්ම දේශනා කළා. ධම්ම චක්ක සහ අනත්ත ලක්ඛණ සූත්‍ර දේශනාවන් ශ්‍රවණය කරල, ඒ පස් දෙනා අරිහත්වයට පත් වුණා. යස කුල පුත්‍රයා ඇතුළු යහළුවන් 54 දෙනෙක් සද්ධර්මය ශ්‍රවණය කරල සම්බුදු සසුනේ පැවිදි වෙලා නිවන් අවබෝධ කර ගත්තා. සම්බුදු සසුනේ පළමු රහත් 60 නම විදිහට සඳහන් වෙන්නෙ මේ පිරිස.

බුදුන් වහන්සේ මේ 60 නම අමතල මේ විදිහට අනුදැන වදාළා. ''මහණෙනි, බොහෝ දෙනාගේ හිත සුව පිණිස, සැප පිණිස, ලෝකයාට අනුකම්පා පිණිස, දෙව් මිනිසුන්ට අර්ථය පිණිස, හිත පිණිස, ධර්ම චාරිකාවෙහි හැසිරෙන්න. දෙදෙනෙක් එක මග නොයා මුල යහපත්, මැද යහපත්, අග යහපත්, අර්ථ සහිත, ව්‍යංජන සහිත, සර්වාකාරයෙන් සම්පූර්ණ සාසන බ්‍රහ්ම චරියාව (නිවන් මග) දේශනා කරන්න'' (චරථ භික්ඛවේ චාරිකං බහුජන හිතාය, බහු ජන සුඛාය ලෝකානුකම්පාය අත්ථාය හිතාය සුඛාය දේව මනුස්සානං දේසේථ භික්ඛවේ ධම්මං ආදි කල්‍යාණං



මජ්ජෙ කල්‍යාණං පරියෝසාන කල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කේවල පරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං ප්‍රකාසේත)

මේ ලෝකයේ පහළ වූ සංඛත අසංඛත ධර්මයන් අතර තථාගතයන් වහන්සේ විසින් දේශනා කොට වදාළ විරාගී ශ්‍රී සද්ධර්මය අග්‍රයි, ශ්‍රේෂ්ඨයි. (යාවතා භික්ඛවේ සංඛතා වා අසංඛතා වා විරාගෝ තේසං ධම්මානං අග්ග මක්ඛායති - අ. නි. <u>අග්ගප්පසාද සූත්‍රය</u>)

අවිද්‍යා අන්ධකාරයේ ගිලිල, සසර කතරේ අනාථ වෙච්ච සත්ත්වයාට ප්‍රඥා ලෝකය උපදවා ගන්න ශ්‍රී සද්ධර්මය හැර වෙන පිහිටක් නෑ. ''සුඛා සද්ධම්ම දේසනා'' සද්ධර්ම දේශනය ශ්‍රාවක, දේශක දෙපිරිසටම වැඩ දායකයි. ''ඒතග්ගං භික්ඛවේ ශේෂ දානමය පුඤ්ඤාණං යදිදං ධම්ම දානං'' කියන බුදු වදනට අනුව, ලෝකයේ අග්‍ර දානය තමයි ධර්ම දානය. බුද්ධ පරිනිර්වාණයෙන් පසුව ධර්මය සාස්තෘත්වයේ තබා ගන්න කියල ආනන්ද හාමුදුරුවන්ට පැහැදිලි කළා. (ආනන්ද මයා ධම්මෝච විනයෝච දේසිතෝ පඤ්ඤත්තෝ සෝ වෝ මමච්චයේන සත්ථා - දී.නි. <u>පරිනිර්වාණ සූත්‍රය</u>)

''නඛෝ පනානන්ද සුඛරං පරේසං ධම්මං දේසේතුං'' කියන බුදු වදන අනුව, අන්‍යයන්ට ධර්මය දේශනා කිරීම පහසු කාරණයක් නෙවෙයි. තමන්ගෙ මති මතාන්තර, දහමට නොගැලපෙන දේවල් බුද්ධ දේශනා විදිහට ප්‍රකාශ කිරීමෙන් තවත් විසාල ශ්‍රාවක පිරිසක් දුෂ්ටානුගතියට වැටෙන්න හේතු වෙනවා. එයින් ශ්‍රාවක / දේශක දෙපිරිසටම සිද්ධ වෙන්නෙ මහත් අවැඩක්. ඒ නිසා බුද්ධ වචනය ප්‍රකාශ කරන කොට ඉතා පරිස්සමින් වගකීමෙන් කටයුතු කිරීමට දේශකයන් වගබලා ගන්න ඕන.

වර්තමානයේ මේ අනර්ථය බොහෝ කාලයක පටන් සිද්ධ වෙන බව පෙනී යනවා. බුද්ධ දේශනාව වැරදි අර්ථ කථනවලින් වැහිල ගියාට පස්සෙ, ඒ සාවද්‍ය විවරණයන් බුද්ධ දේශනා විදිහට සමාජගත වෙනවා. වර්තමානයේ ආර්ය මාර්ගය වැහිල යන්න ප්‍රධාන හේතුව වෙලා තියෙන්නෙ, වැරදි අර්ථ කථන සහිතව ධර්මය තේරුම් ගෙන, ආර්ය මාර්ගයේ අත්දැකීමක් නැතිව පොත පත දැනුමෙන් පමණක් නිවන් මග දේශනා කරන්න යෑම.

පුද්ගලයාගේ ආසය (ප්‍රකට කෙලෙස්), අනුසය (නිදිගත් කෙලෙස්), චරිත (රාග චරිත, ද්වේශ චරිත, මෝහ චරිත, සද්ධා චරිත, බුද්ධි චරිත, විතර්ක චරිත), අධිමුත්ති (විශේෂ ප්‍රාර්ථනා ආදිය) සර්වාකාරයෙන් නුවණින් දැන ගෙන, පුද්ගලයාට සත්‍යාවබෝධ වීම පිණිස ධර්ම දේශනා කරන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට පමණයි. මහ රහතන් වහන්සේලා, අනාගාමී, සකෘදාගාමී, සෝතාපන්න කියන අයටත්, තම තමන්ගෙ හැකියාවේ මට්ටමට ධර්ම දේශනා කරන්න පුළුවන්. ඉන් මෙහා සිටින පෘතජ්ජන තත්ත්වයේ අයට තව කෙනෙකුට සත්‍යාවබෝධ වෙන්න මග පෙන්වා දෙන්න බෑ. ඒ මොකද පෘතජ්ජනයාට චතුරාර්ය සත්‍යය පිළිබඳ මූලික ප්‍රඥාව පහළ වෙලා නැති නිසා.

අන්‍යයන්ට දහම් දෙසන්න සූදානම් වන කෙනා විසින්, තමන් තුළ පිහිටුවා ගත යුතු ප්‍රතිපත්ති 5 ක් තියෙන බව තථාගතයන් වහන්සේ විසින්

ආනන්ද හාමුදුරුවන්ට දේශනා කරල තියෙනවා. (පරේසං ධම්මං දේසෙන්තේන පංච ධම්මේ අජ්ජත්තං උපට්ඨපෙත්වා පරේසං ධම්මෝ දේසේතබ්බෝ)

1. ආනු පුබ්බිං කථං කථෙස්සාමීති අජ්ජත්තං උපට්ඨපෙත්වා පරේසං ධම්මං දේසේතබ්බෝ - **අනුපිළිවෙල තියෙන කථා මාර්ගය නොකඩ කොට අනුන්ට දහම් දෙසමියි කියල හිත තියා ගෙන දහම් දෙසන්න ඕන.** අනුපිළිවෙල කතාව තමයි දානය, සීලය, ස්වර්ගය, කාමයන්ගේ ආදීනව, පංච කාමයෙන් වෙන්වීමේ වටිනාකම දේශනා කිරීම. (දාන කථං, සීල කථං, සග්ග කථං, කාමානං ආදීනවං, නෙක්ඛම්මේ ආනිසංසං)

හැබැයි මේ අනුපිළිවෙලට යන කථාව සියල්ලන්ටම අවශ්‍ය වෙන්නෙ නෑ. ප්‍රඥාවන්තයින්ට කෙළින්ම සිවුසස් දහම් තුළින් ධර්මය දේශනා කරන්න පුළුවන්. සමහරුන්ට දානය, සීලය සහ එයින් ලැබෙන සුගති සම්පත් විග්‍රහ කරල, ඒ සම්පත්වලින් ගත යුතු හරයක් නැති බව පෙන්වල චතුරාර්ය සත්‍යය දේශනා කරන්න පුළුවන්. ඒ ඒ පුද්ගලයින්ගෙ මානසික මට්ටම් තේරුම් අරගෙන ගැලපෙන ආකාරයෙන් කරුණු පෙන්වා දෙන්න දේශකයා දක්ෂ විය යුතුයි.

2. පරියාය දස්සාවි කථං කථෙස්සාමීති අජ්ජත්තං උපට්ඨපෙත්වා පරේසං ධම්මෝ දේසේතබ්බෝ - **අනුන්ට දහම් දෙසන්න බලාපොරොත්තු වන කෙනා පරියාය කථාවෙහි දක්ෂයෙක් විය යුතුයි.** ඒ කියන්නෙ සමාන අර්ථවත් පද, වාක්‍ය, උපමා, උපමේය ආදිය යොදමින් දේශනා කරන්න ඕන. ඒ විදිහට පරියාය අර්ථවත් පද, වාක්‍ය ආදිය යෙදුවම ශ්‍රාවකයා ඒකෙන් එකක් හෝ වටහ ගෙන අර්ථාවබෝධය ලබන්න දක්ෂ වෙනවා. ඒ නිසා සමානාර්ථ පද සහ වාක්‍යයන් යොදමින් දේශනාව පැවැත්වීම ඒක සාර්ථක වෙන්න බොහෝ උපකාරී වෙනවා.

3. අනුද්දයතං පටිච්ච කථං කථෙස්සාමීති අජ්ජත්තං උපට්ඨපෙත්වා පරේසං ධම්මෝ දේසේතබ්බෝ - **ලෝකයාට දහම් දෙසන්නා, අනුන් දන හෝ නොදන වැටී සිටින සංසාර දුක තේරුම් අරගෙන එයින් මුදව ගන්න කරුණාවෙන් පිරුණු සිතින්ම දහම් දෙසිය යුතුයි.** ඒ වගේම මාන, අහංකාර, ඊර්ෂ්‍යා, ක්‍රෝධ, මද, මසුරු බව ආදී පාප සිතිවිලිවලින් දූෂිත වෙන්නෙ නැතිව, මේ ගුණ තමන් තුළ ඇති කර ගත් අයම ලෝකයාට දහම් දෙසිය යුතුයි.

4. න ආමිසන්තරෝ කථං කථෙස්සාමීති අජ්ජත්තං උපට්ඨපෙත්වා පරේසං ධම්මං දේසේතබ්බෝ - **ආමිස ලාභ, ප්‍රාර්ථනා රහිතව දහම් දෙසනව කියල හිත තියාගෙන අනුන්ට දහම් දෙසිය යුතුයි.** ආමිස කියන්නෙ දිවි පැවැත්මට අවශ්‍ය සිවු පසය. බුදු බණ දෙසල ශ්‍රාවකයන් පහදවල අනුන්ගෙන් ලාභ, කීර්ති, ප්‍රසංසා ප්‍රාර්ථනා කරමින් ඒ උදෙසා බණ කීම, විකිණීමක් නිසා දහම් දෙසන්නා එයින් වැළකිය යුතුයි.

5. අත්තානංච පරංච අනුපහච්ච කථං කථෙස්සාමීති අජ්ජත්තං උපට්ඨපෙත්වා පරේසං ධම්මෝ දේසේතබ්බෝ - **දහම් දෙසන්නා තමන් හෝ බණ අහන ශ්‍රාවකයන් හෝ ඉන් බැහැර කෙනෙකු හෝ නොගටා දහම් දෙසනව කියල හිත තියාගෙන, අත්තුක්කංසන (තමා උසස් කොට සැලකීම) පරවම්භනවලින් (අනුන් පහත් කොට සැලකීම) තොරව දහම් දෙසිය යුතුයි.**

මේ සඳහන් දේශක ප්‍රතිපත්ති අතරින් පළමු සහ දෙවැන්නෙන් කියන්නෙ දේශකයාගේ කථාව පිළිබඳව. තුන් වැන්නේ සිට ඉතිරි තුනෙන් කියන්නෙ දේශකයා පිළිබඳව. ඒ නිසා වචනයත්, සිතත් රැක බලාගෙන දහම් දෙසන්න සියලු දේශකයන් වග බලාගත යුතුයි.

ඒ වගේම දීඝ නිකායේ ලෝහිච්ච සූත්‍රයේ, **චෝදනා ලබන්න සුදුසු ධර්ම දේශකයින් තුන් දෙනෙක් ගැන** බුදුන් වහන්සේ ලෝහිච්ච බමුණට දේශනා කරල තියෙනවා.

01. ලෝහිච්චය, මේ ලෝකයේ චෝදනා ලැබීමට සුදුසු අනුශාසකයෝ තිදෙනෙකි. යමෙක් මේ සාසනයේ නිවන් අවබෝධ කර ගැනීමේ බලාපොරොත්තුවෙන් පැවිදි වී, තමන් පැතූ එම ඵලය නොලබාම ලොවට දම් දෙසන්නා ඉන් පළමු වැන්නාය. ඔහු දෙන අවවාද අනුශාසනා ශ්‍රාවකයෝ නොපිළිගනිති. එසේ අවවාද නොපිළිගන්නා පිරිසක් ශ්‍රාවකයන් කර ගැනීමට වෑයම් කිරීම ලෝභයෙන් කරන්නකි. මෙම ක්‍රියාව, ඉවත බලා සිටින කාන්තාවක් වැළඳ ගැනීමට උත්සාහ කිරීමක් වැන්න. අනුන්ට අවවාද දෙන්නට පළමුව තමන් පැවිදි වීමේදී පැතූ ඵලයට පැමිණිය යුතුය යනුවෙන් කරන චෝදනාව ලැබීමට, එම අනුශාසකයා සුදුස්සෙකි. එය සත්‍ය වූ, නිවැරදි වූ, දැහැමි චෝදනාවකි. මේ, චෝදනා ලැබීමට සුදුසු පළමු අනුශාසකයායි.

02. තවත් අනුශාසකයෙක්, තමන් පැවිදි වීමේදී බලාපොරොත්තු වූ ඵලය නොලබාම ලොවට අනුශාසනා කරයි. ශ්‍රාවකයෝද ඔහුගේ අවවාද අනුශාසනාවලට ඇහුම්කන් දෙති. ඒවා සිතට ගනිති. අවවාද නොඉක්මවා ක්‍රියා කරති. එනමුත් ඔහු පැවිදි වීමේදී බලාපොරොත්තු වූ ඵලය නොලබා සිටින හෙයින්, එය තමන්ගේ කුඹුර වල් බිහි වීමට හැර දමා අනුන්ගේ කුඹුරුවල වල් පැළ නෙළීමක් වැනිය. එයද එක්තරා ලෝභයකින් කරන දේශනාවක් නිසා ඔහුද චෝදනා ලැබීමට සුදුසුය.

03. ලෝහිච්චය, තවත් අනුශාසකයෙක් පැවිදි වීමේදී තමන් බලාපොරොත්තු වූ ඵලය ලබාගෙන, අනතුරුව ශ්‍රාවකයන්ට අවවාද අනුශාසනා කරයි. එනමුත් ඒ ශ්‍රාවකයෝ එම අනුශාසනාවලට ඇහුම්කන් නොදෙති, ඒවා නොපිළිගනිති. එසේ නොපිළිගන්නා බව දැන දැනම දිගින් දිගටම අනුශාසනා පවත්වන්නේ ලෝභය මුල් කොටගෙනය. එය පරණ බැඳීමක් සිඳ දමා අලුත් බැඳීමක් කර ගන්නා මෙනි. කෙනෙක් තවත් කෙනෙකුට කුමක් කෙරේදැයි කියා, ඒ තුන්වැනි අනුශාසකයාද චෝදනා ලැබීමට සුදුසුය.

ලෝහිච්චය, නව අරහාදී ගුණවලින් යුතු බුදුවරයෙක් ලොවට පහළ වී දෙව් මිනිසුන් සහිත ලෝකයාට මුල යහපත්, මැද යහපත්, අග යහපත් සිවුසස් දහම් දේශනා කරති. එම ශ්‍රී සද්ධර්මය අසා කුල පුත්‍රයෙක් සැදැහැ සිතින් ගිහි ගෙයින් නික්ම සසුන්ගත වෙයි. ඔහු සීල, සමාධි, ප්‍රඥා වඩා ධ්‍යාන මග ඵල නිවන් අවබෝධයෙන් සියලු ආස්‍රව ධර්ම ප්‍රහීණ කොට අරිහත්වයට පත්වේ. එබඳු ශ්‍රාවකයන් ඇති තථාගතයන් වහන්සේ, චෝදනා ලැබීමට නුසුදුසුය. එවැනි උතුමෙකුට චෝදනා කිරීම ධර්මයටද එකඟ නොවේ.

අනුන්ට බණ කියන්න යන සියලු දේශකයන්ට, ඉහත ලෝහිච්ච සූත්‍රය ඉතා හොඳ ආදර්ශයක්. පළමුව තමන්ගෙ විමුක්තිය සලසාගෙන (අත්ත හිතාය ච පටිපන්නෝ) ඉන් අනතුරුව අන්‍යයන්ට දහම් දෙසන්න ඕන. (පරහිතාය පටිපන්නෝ) ''ඔබා දෙනු පර හට - තමා සම්මතෙහි පිහිටා සිට'' කියන පැරණි කියමන සියලු දේශකයන් සිහි කර ගනිත්වා !

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# බුදුන් වහන්සේ වදාළ පෙහෙවස් සමාදානය

*(පසුගිය කලාපයෙන් - අබ්‍රහ්ම චරියා වේරමණී සික්ෂාවෙන් නිවන් දකින හැටි....)*

ක්ෂණය සහ අක්ෂණය දැනගත්ත වගේ මදය, ප්‍රමාදය සහ අප්‍රමාදයත් දැනගන්න ඕන. මම රූමත්, මම ධනවත් ... ආදී වශයෙන් තමන් සතු උපභෝග පරිභෝග සම්පත් (උපභෝග - අමතරව තියෙන සම්පත්, පරිභෝග - පරිභෝග කරන සම්පත්) ගැන අහංකාරයක් ඇති කර ගැනීම තමයි මදය කියන්නෙ. මේ මදය අවියක් කරගත්තම ඒ අයට මදාවියා කියලත් කියනවා. ''අපි දුක් වින්දෙ අපේ දරුවන්ට දුක නොවිඳින්න හොඳ අධ්‍යාපනයක් දීල, හොඳ රැකියාවක් ගන්න උදව් කරන්න ඕන කියල''. හැම දෙමව්පියොම හිතන්නෙ මේ විදිහට. ලෝකෙන් හොඳ එකක් පතන මේ අදහස නිසා දූ දරුවො, ළදරු ළමා කාලෙ ඉඳලම අධ්‍යාපනය වෙනුවෙන් අනන්ත අප්‍රමාණ දුක් විඳිනවා. අන්තිමේදි ඒ ඒ දරුවන්ගෙ හැකියාවෙ තරමට රැකියාවක් ලැබෙනවා. දැන් හැමෝටම සතුටුයි. අඩු තරමෙ ඒ තත්ත්වයට එන්න අවුරුදු විස්සක් විතර විඳපු දුක් කන්දරාව අමතක වෙනවා. ඊළඟ පිම්ම හොඳ ගෙයක්, හොඳ වාහනයක්, හොඳ පවුල් ජීවිතයක්. අප්‍රමාණ දුක් විඳල සමහරු මේ දේවල් හොඳින් බැරි නම්, නරකින් හරි ලබාගෙන සතුටු වෙනවා.

කෑම බීම, ඇඳුම් පැළඳුම්, ඉඳුම් හිටුම්, බෙත් හේත් කියන, ජීවිතය පවත්වා ගැනීමට අත්‍යවශ්‍ය ප්‍රත්‍යයන් කැමති කැමති ආකාරයට ලෝකෙන් අරගෙන සතුටු වෙවී ඉන්න මේ වැඩ පිළිවෙල කියන්නෙ, පුන පුනා පස්කම් සැපයට බැහැ ගෙන, මට මේ මේ දේ තියෙනව කියල අහංකාර වීමක්. මේ විදියට ප්‍රත්‍යයන්ගෙන් මදයට පත්වීම ප්‍රමාදය කියල බුදුන් වහන්සේ දේශනා කළා. මේ ප්‍රමාදයෙන් වෙන්වීම තමයි අප්‍රමාදය. මේ ප්‍රත්‍යයන්ගෙන් මදයට පත් වුනොත් නිවන ප්‍රමාදයි.

එහෙනම් අප්‍රමාදව නිවන් සාක්ෂාත් කරගන්න නම්, මේ පස්කම් සැපවලට පුන පුනා බැහැ ගැනීමෙන් වෙන් වෙන්න ඕන. සත්‍යය දැක්ක පමණින් අනන්ත කාලයක් සසරෙ පුරුදු කරගෙන ආව වැඩ පිළිවෙලින් ලේසියෙන් වෙන් වෙන්න බෑ. ඒකට උපක්‍රමයක් යොදන්න ඕන. ඒ නිසා පෝය දවසෙ පෙහෙවස් සමාදන් වෙලා මාසයකට එක දවසක් හරි ඒ සැප, හිතින් අයින් කරගෙන ඒ දවස ගත කරන්න උත්සාහ කරනවා. එදාට පෙහෙවස් සමාදන් වෙනව කියල ඇස, කන, නාසය දිව, කය, මන සංවර කරගත්තු, සියලු පවු බැහැර කරපු, උත්තම රහතන් වහන්සේලා අනුගමනය කරන, ජීවිතාන්තය තෙක් රැකෙන සීලයන් අතරින් සිල් පද අටක් තමයි ආරක්ෂා කරන්න සමාදන් වෙන්නෙ. එහෙනම් මේ සික්ෂා පද අට බුද්ධ සාසනයෙන් බැහැර වෙනත් ආගමක / සාසනයක නෑ. ඒ බව පළමුවෙන්ම ගරු බුහුමන් ඇතුව පිළිගන්න ඕන. ඥාන සම්ප්‍රයුක්තව කටයුතු කරන කාරණය කොයිතරම් වැදගත් වෙනවද කියන එක, පසුගිය හෙළ බොදු පියුම 43 වෙනි කලාපයේ ''තිස් අවුරුද්දක් තිස්සෙ සිල් රැකලත් සතර අපාගත වුනු සැමියා සහ බිරිඳ'' කියන ලිපියෙන් පැහැදිලි වෙනවා. ඒ අය අපාගත වුනේ ඇයි කියල හිතල බලන්න ඕන.



අද කාලෙ උදාහරණයක් ගත්තොත්, සිල් ගත්ත කෙනෙක් දැකල, ඒ පුද්ගලයගෙ හිතවත් කෙනෙක් එක්ක මෙහෙම කතා බහක් ඇති වෙනවා.

''ඇයි ඔයා සිල් ගත්තෙ? ''

''අනේ මේ ජීවිතේ සැපක් නෑ. හරි දුකයි. ඒ නිසා අඩු ගානෙ මේ පෝය දවසෙවත් ගෙදර හබවලින් නිදහස් වෙලා ඉන්න එක සැනසීමක් ... ඒ නිසා සිල් ගන්නවා ... ''

''අනේ මටත් එහෙමයි. දුක් කරදරවල කෙලවරක් නෑ. එහෙනම් මමත් සිල් ගන්නවා.... ''

දැන් මේ විදිහට තාවකාලික සැනසීමක් පතා ගෙන බොහෝ දෙනෙක් සිල් ගන්නවා. කොහොමටවත් සිල් නොගන්නවට වඩා ඒකත් හොඳයි. නමුත් ඒක ඥාන සම්ප්‍රයුක්ත නෑ. තල් අත්ත උඩට බෙලි ගෙඩියක් වැටුන සද්දෙට බය වුන හාවා, ලෝකෙ පෙරළෙනවයි කියල හිතාගෙන දුවන්න පටන් ගත්තා. හාවා දුවන කාරණය අහගත්තු අනෙක් සත්තුත් හාවා පස්සෙන් දුවන්න පටන් ගත්තා. කවුරුත් අහල තියෙන මේ කථාව වගේ තමයි ඒ සිල් ගැනීමත්. දුකයි කිව්වෙ හැබෑ දුකට නෙවෙයි, විඳින විපාක දුකට. ඒක බෙලි ගෙඩිය වගේ පුංචි එකක්. හැබෑ දුක ලෝකෙ වගේ ලොකු එකක්. දම්සක් පැවතුම් සූත්‍රයේ ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා... ආදී වශයෙන් බුදුන් වහන්සේ දේශනා කළේ මේ මහ දුක. හෙළ බොදු පියුම 13 වන කලාපයේ ''අනිත්‍ය අනිච්ච පටලවාගෙන වැසී ගිය නිවන් මග නැවතත්'' කියන ලිපියෙන් මේ මහා දුක විස්තර කරල තියෙනවා.

රන් රිදී, මිල මුදල්, ගවයන් එළුවන්, දාසි දස්සන්, අඹු දරුවන් ... ආදී වශයෙන් පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන සතර මහා ධාතූන්ගෙන් සකස් වූ සියල්ල ජාති ධර්මවලට අයිතියි. මේ ජාති ධර්මයන්ට ලෝක සත්වයා ප්‍රියයි, මනාපයි. ප්‍රිය මනාප දේ ලැබෙනවට කැමතියි. කැමති දේ ලැබුනට කැමති හැටියට පවත්ව ගන්න, පවත්ව ගෙන ආස්වාද විඳ විඳ ඉන්න ලැබෙන්නෙ නෑ. ඒවා ජරාවට, ව්‍යාධියට, මරණයට, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ට ගොදුරු වෙනවා. තමනුත් ගොදුරු වෙනවා. එතනදි ලෝක සත්වයා ''අනේ මම කැමති මේ දේ ජරාවට, ව්‍යාධියට ... පත් නොවෙනව නම් ...'' කියල පතනවා. නමුත් ඒ පැතුම ඉටු නොවී ජරාවට, ව්‍යාධියට ... පත්වීමම සිද්ධ වෙනවා. ''යම් පිච්චං න ලභති තම්පි දුක්ඛං ...'' කියල බුදුන් වහන්සේ දේශනා කළේ මේ පැතුම ඉටු නොවීමේ දුකට. සදාකාලිකව ලෝකයේ පවතින ධර්මතාවය මේකයි. ජරාව, ව්‍යාධිය, මරණය ... තමන් කරා ළඟා වුන වෙලාවට, මේ හේතුව නොදන්නා ලෝක සත්වයා රාගයෙන් බැඳිල, ද්වේශයෙන් ගැටිල, මෝහයෙන් මුළා වෙලා අන්‍ය ලෝකයාට අවැඩ අසාධාරණ කරනවා, හිංගි හිංසා කරනවා, විවිධ අපරාධ කරනවා, ඒ හේතුවෙන් සතර අපාගත දුකට වැටෙනවා. සතර අපා දුක කියන්නෙ විපාක දුකක්.

ලොව්තුරා බුදු කෙනෙක් පහළ වුනත් වෙනස් නොවන, ඇල්ලුවොත් පිච්චෙන ගින්නක් වගේ දුකක් තියෙනවා. අපාය කියල එකක් නෑ කියල හිතන පිරිස, ගිනි ඇල්ලුවොත් පිච්චෙනව කියල නොදන්න කුඩා නොදරුවො වගෙයි. නොදන ගිහින් වැරදිලාවත් අපාගත වුනොත්, විඳින්න සිද්ධ වෙන දුක ගැනත් සඳහනක් කරන්නෙ ඒ නිසා. කෝකාලික කියන භික්ෂුව දවසක් බුදුන් වහන්සේ හමුවෙලා, සැරියුත් මුගලන් දෙනම පහත් ආසා ඇතිව වාසය කරනවා ... කියල ප්‍රකාශයක් කළා. එතකොට බුදුන් වහන්සේ, එසේ නොකියන්න .... එසේ නොකියන්න, සාරිපුත්ත මොග්ගල්ලාන ප්‍රියසීලීය, ඔවුන් කෙරේ සිත පහදවා ගන්න ... කියල අවවාද කළා. නමුත් දෙවන, තුන් වන වතාවටත් ඒ විදිහට පැවසුවා. බුද්ධ අවවාදය පිළිගත්තෙ නෑ. ඊට පස්සෙ එතැනින් ඉවත්ව ගිහින් ටික වෙලාවකින් කෝකාලික භික්ෂුවගෙ ශරීරය පුරා කුඩා පිළිකා බිබිලි මතු වුනා. ටිකෙන් ටික ඒ බිබිලි විසාල වෙලා, අන්තිමට බෙලි ගෙඩි තරම් විසාල වෙලා පිපිරුනා. ලේ සැරව ගලන්න ගත්තා. ටික වෙලාවකින් ඒ භික්ෂුව කළුරිය කළා.

එදා මැදියම් රැයේ සහම්පතී මහා බ්‍රහ්ම රාජයා බුදුන් වහන්සේ හමුවට ඇවිත් වැඳ නමස්කාර කරල, සැරියුත් මුගලන් අගසව්වන් වහන්සේලාට වෛර කළ සිතින් කළුරිය කළ කෝකාලික භික්ෂුව පදුම නිරයේ උපන්නා. ... කියල ප්‍රකාශ කළා. පසුදා උදෑසන බුදුන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට මේ පුවත දේශනා කළා. ඒ වෙලාවෙදි එක් භික්ෂූන් වහන්සේ නමක්, භාග්‍යවතුන් වහන්ස, පදුම නිරයේ ආයුස කොපමණ වේද කියල ප්‍රශ්න කළා. මහණ, පදුම නිරයේ ආයුස අවුරුදු ගණනක් හෝ අවුරුදු සිය ගණනක්, දහස් ගණනක්, ලක්ෂ ගණනක් කියා දැක්විය නොහැක.... කියල පිළිතුරු දුන්නා. එසේ නම් උපමාවකින් දැක්විය හැකිද ස්වාමීනි... කියල නැවතත් විමසුවා. ඒ අවස්ථාවේ බුදුන් වහන්සේ උපමාවක් දේශනා කළා.

''මහණ කොසොල් රට භාවිතා කරන කිරිය විස්සකින් යුත් තල බඳුනකින් කිසියම් පුරුෂයෙක් වසර සියයකට හෝ දහසකට වරක් එක තල ඇටයක් ඉවත් කරයි. (සමහර තැනක තල හේනක් කියලත් සඳහන් වෙනවා. වීසති ඛාරිකෝ කෝසලකෝ තිලවාහෝ) මෙසේ තල ඇටය බැගින්, ඒ සම්පූර්ණ තල ඇට ප්‍රමාණය ඉවත් කිරීමට කොපමණ කලක් ගත වේද, අබ්බුද කියන නිරයේ ආයුස ඊටත් වැඩියි.'' මේ විදිහට උපමාවකින් විස්තර කළේ අබ්බුද කියන නිරයේ ආයුස ප්‍රමාණය.

අබ්බුද නිර විස්සක ආයුස නිරබ්බුද නිරයට තියෙනවා. නිරබ්බුද නිර විස්සක ආයුස අබබ නිරයට තියෙනවා. අබබ නිර විස්සක ආයුස අහහ නිරයට තියෙනවා. අහහ නිර විස්සක ආයුස අටට නිරයට තියෙනවා. අටට නිර විස්සක ආයුස කුමුද නිරයට තියෙනවා. කුමුද නිර විස්සක ආයුස සෝගන්ධිකා නිරයට තියෙනවා. සෝගන්ධිකා නිර විස්සක ආයුස උප්පලකා නිරයට තියෙනවා. උප්පලකා නිර විස්සක ආයුස පුණ්ඩරීක නිරයට තියෙනවා. පුණ්ඩරීක නිර විස්සක ආයුස පදුම නිරයට තියෙනවා. මේ විදිහට බුදුන් වහන්සේ උපමාවකින් පදුම නිරයේ ආයුස පෙන්වා දුන්නා. අබ්බුද නිර $20^{10}$ කාලයක් දුක් විඳල තමයි ඒ මහා පාප කර්මයෙන් නිකුත් කළ පාප ශක්තිය ගෙවිල අවසන් වෙන්නෙ. මේ ආයුස ගෙවල නැවත මිනිස් ලොව ඉපදුනත් ක්ෂණ සම්පත්තිය ලැබීම, කණ කැස්බෑවා විය සිදුරෙන් අහස දකිනව වගේ දුර්ලභයි. කෝකාලික භික්ෂුවට මේ විපාකය ලැබුණෙ සත්තු මරල, හොරකම් කරල නෙවෙයි, උතුම් ගුණ ඇති සඟරුවනට අපවාද කරල.

මේ ලෝක සත්වයා පස්කම් සැප කෙරෙහි පුන පුනා බැඳෙමින්, අනන්ත සසරේ අකුසල් රැස් කරල විඳපු දුක් විපාක අනන්තයි, අප්‍රමාණයි. ඥාන සම්ප්‍රයුක්තව කටයුතු නොකිරීම තමයි මේ දුක් කඳට හේතුව. ඒ නිසා නිවන් දකින පෙහෙවස් සමාදානය විමසා බලන්න ඕන. අංගුත්තර නිකායේ අෂ්ඨාංග උපෝසත සූත්‍රය, නවාංග උපෝසත සූත්‍රය, විසාකා උපෝසත සූත්‍රය, අරිය උපෝසත සූත්‍රය ආදී සූත්‍ර දේශනාවලට අනුව ඒ ඒ සිල් පදවල අර්ථය විග්‍රහ වෙන්නෙ මේ විදිහට.

**1. පාණාතිපාතා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ පර පණ නැසීමෙන් වෙන්ව, පර පණ නැසීම අතහැර, බහා තැබූ දඬු මුගුරු ඇතිව, බහා තැබූ දැල් උගුල් ආයුධ ඇතිව, පාපයට බිය ඇතිව, ලජ්ජා ඇතිව, දයාවට පැමිණ සියලු ප්‍රාණ භූතයන් කෙරෙහි හිතානුකම්පාවෙන් වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නාවූ මමද, පර පණ නැසීමෙන් වෙන්ව, පර පණ නැසීම අතහැර, බහා තැබූ දඬු මුගුරු ඇතිව, බහා තැබූ දැල් උගුල් ආයුධ ඇතිව, පාපයට බිය ඇතිව, ලජ්ජා ඇතිව, දයාවට පැමිණ සියලු ප්‍රාණ භූතයන් කෙරෙහි හිතානුකම්පාවෙන් වාසය කරමි. මේ මාගේ පළමුවැනි සික්ඛා පදයෙන් ද මම උන්වහන්සේ අනුගමනය කරමි. මේ විදිහට තමන් අධිෂ්ඨාන කරගත් කාලය සිහි කරගෙන, මේ සික්ඛා පදය නොකඩ කොට ආරක්ෂා කර ගන්න දැඩි අධිෂ්ඨානයක් තබා ගන්නවා කියල සිහි කර ගෙන මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**2. අදින්නාදානා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ, නුදුන් දේ ගැනීමෙන් වෙන්ව, නුදුන් දේ ගැනීම අතහැර, දෙන දෙයක්ම ගන්නේ, දුන් දෙයම බලාපොරොත්තු ඇතිව, පිරිසිදු වූ ආත්ම පරිහරණයෙන් යුතුව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නාවූ මමද, නුදුන් දේ ගැනීමෙන් වෙන්ව, නුදුන් දේ ගැනීම අතහැර, දෙන දෙයක්ම ගන්නේ, දුන් දෙයම බලාපොරොත්තු ඇතිව, පිරිසිදු වූ ආත්ම පරිහරණයෙන් යුතුව වාසය කරමි. මේ දෙවැනි සික්ඛා පදයෙන් ද මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ දෙවැනි සික්ඛා පදයයි කියල, තමන් අධිෂ්ඨාන කරගත් කාලය සිහි කරගෙන මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**3. අබ්‍රහ්ම චරියා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ අබ්‍රහ්ම චරියාවෙන් වෙන්ව, අබ්‍රහ්ම චරියාව අතහැර, බ්‍රහ්මචාරී වූයේ, නීච වූ, ග්‍රාම්‍ය වූ, කාම ධර්මයන්ගෙන් වෙන්ව, උතුම් වූ බ්‍රහ්මචාරී ගුණයෙන් යුතුව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නාවූ මමද අබ්‍රහ්ම චරියාවෙන් වෙන්ව, අබ්‍රහ්ම චරියාව අතහැර බ්‍රහ්මචාරී වූයෙමි, නීච වූ ග්‍රාම්‍ය වූ කාම ධර්මයන්ගෙන් වෙන්ව, උතුම් වූ බ්‍රහ්මචාරී ගුණයෙන් යුතුව වාසය කරමි. මේ තුන්වැනි සික්ඛා පදයෙන්ද මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ තුන්වැනි සික්ඛා පදයයි කියල මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**4. මුසාවාදා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ මුසාවාදයෙන් වෙන්ව, මුසාවාදය අතහැර, සත්‍යවාදී වූයේ, සත්‍යයෙන් සත්‍යය ගලපා කථා කරන කථා ඇතිව සත්‍යවාදීව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද, මුසාවාදයෙන් වෙන්ව, මුසාවාදය අතහැර, සත්‍යවාදී වූයෙමි, සත්‍යයෙන් සත්‍යය ගලපා කථා කරන කථා ඇතිව, සත්‍යවාදීව වාසය කරමි. මේ සතර වන සික්ඛා පදයෙන්ද මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ සතරවන සික්ඛා පදයයි කියල මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**5. සුරාමේරය මජ්ජපමාදට්ඨානා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ මදයට හේතු වන, ප්‍රමාදයට හේතු වන, ලොව අල්ලා ගැනීමට හේතු වන, යම් සුරාවක් යම් මේරයක් ඇත්ද, ඒ සියලු සුරාවන්ගෙන් සියලු මේරයන්ගෙන් වෙන්ව නිවනට හිත පිහිටුවා වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද මදයට හේතු වන, ප්‍රමාදයට හේතු වන, ලොව අල්ලා ගැනීමට හේතු වන, යම් සුරාවක් යම් මේරයක් ඇත්ද, ඒ සියලු සුරාවන්ගෙන් සියලු මේරයන්ගෙන් වෙන්ව නිවනට හිත පිහිටුවා වාසය කරමි. මේ පස්වැනි සික්ඛා පදයෙන්ද, මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ පස්වෙනි සික්ඛා පදයයි කියල මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**6. විකාල භෝජනා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ විකාල භෝජනයෙන් වෙන්ව, විකාල භෝජනය අතහැර, කාලයට ගැලපෙන භෝජන පරිභෝගයෙන් යුක්ත වූයේ, පස්වරු භෝජනයන්ගෙන්, රාත්‍රී භෝජනයන්ගෙන් වෙන්ව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද, විකාල භෝජනයෙන් වෙන්ව, විකාල භෝජනය අතහැර, කාලයට ගැලපෙන භෝජන පරිභෝගයෙන් යුක්ත වූයෙමි, පස්වරු භෝජනයන්ගෙන් රාත්‍රී භෝජනයන්ගෙන් වෙන්ව වාසය කරමි. මේ හයවැනි සික්ඛා පදයෙන්ද මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ සයවැනි සික්ඛා පදයයි කියල මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**7. නච්ච ගීත වාදිත විසූක දස්සන මාලා ගන්ධ විලේපන ධාරණ මණ්ඩන විභූස නට්ඨානා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ නැටුම්, ගැයුම්, වැයුම්, විසුළු දැකුම්, මල් ගඳ විලවුන් දැරීම්, සැරසීම්, අඩු තැන් පිරවීම් ආදී කාය සැරසිලි, කාය අලංකාරයන්ගෙන් වෙන්ව ඉන්ද්‍රීය සංවරභාවයෙන් යුතුව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද, නැටුම්, ගැයුම්, වැයුම්, විසුළු දැකුම්, මල් ගඳ විලවුන් දැරීම්, සැරසීම්, අඩු තැන් පිරවීම් ආදී කාය සැරසිලි, කාය අලංකාරයන්ගෙන් වෙන්ව ඉන්ද්‍රීය සංවරභාවයෙන් යුතුව වාසය කරමි. මේ සත්වන සික්ඛා පදයෙන්ද මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ සත් වන සික්ඛා පදයයි කියල මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**8. උච්චා සයන මහා සයනා වේරමණී සික්ඛා පදං සමාදියාමි.**

ජීවිතාන්තය තෙක් ඒ රහතන් වහන්සේ උච්චා සයනයෙන් මහා සයනයෙන් වෙන්ව, උච්චා සයන මහා සයන අතහැර නිහතමානී වූයේ, මැස්සක්, තණ ඇතිරියක්, පත්කඩක් වැනි දෑ ඇසුරු කරමින් නිහතමානී ගුණයෙන් යුතුව වාසය කරන්නේය. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද, උච්චා සයනයෙන් මහා සයනයෙන් වෙන්ව, උච්චා සයන මහා සයන අතහැර, නිහතමානීව මැස්සක්, තණ ඇතිරියක්, පත්කඩක් වැනි දෑ ඇසුරු කරමින්, නිහතමානී ගුණයෙන් යුතුව වාසය කරමි. මේ කියන්නාවූ අටවැනි සික්ඛා පදයෙන්ද මම ඒ රහතන් වහන්සේ අනුගමනය කරමි. මේ මාගේ අට වැනි සික්ඛා පදයයි කියල මේ සික්ඛා පදය සමාදන් වෙන්න ඕන.

**9. මෙත්තේන චිත්තේන විහාරාමි**

මෙ සස්නෙහි ඒ රහතන් වහන්සේ මෙත් සහගිය (සහගතය) සිතින් එක් දිගක් පැතිර වාසය කරයි. දෙවැනි දිසාවද එ පරිදිම මෙත් සහගිය සිතින් පැතිර වාසය කරයි. මෙසේ තුන් වැනි, සතර වැනි දිසාද උඩ, යට, සරස හැම දිසාවෙහිද මෙත් සහගිය සිතින් පැතිර වාසය කරයි. සර්වාත්ම භාවයෙන් සියල්ලෙන් යුත් ලොව විපුල වූ, මහද්ගත වූ, අප්‍රමාණ වූ, අවෛරී වූ, නිදුක් වූ මෙත් සහගිය සිතින් පැතිර වාසය කරයි. උන්වහන්සේ අනුගමනය කරන්නා වූ මමද, මෙත් සහගිය සිතින් එක් දිසාවක් පැතිර වාසය කරමි. එ පරිදිම දෙවන .... තෙවන.... සතර වන .... මෙසේ උඩ, යට, සරස හැම තන්හි සියලු ලෝක සියලු සත්වයන් කෙරෙහි සර්වාත්ම භාවයෙන් සියල්ලෙන් යුත් ලොව විපුල වූ මහද්ගත වූ අප්‍රමාණ වූ අවෛරී වූ නිදුක් වූ මෙත් සහගිය සිතින් පැතිර වාසය කරමි.

අබුද්ධෝත්පාද කාලයෙත් පෙහෙවස් සමාදානයක් තිබුණ බව, බෝසත් කුමරු පිළිසිඳ ගත් දා මහාමායා දේවිය පෙහෙවස් සමාදන්ව සිටි පුවතින් පැහැදිලි වෙනවා. නමුත් එතැන බුදුන් වදාළ දහම් අරුත් නෑ. පද වැල මතු පිටින් පෙනෙන අරුත තමයි භාවිතා වෙලා තියෙන්නෙ. තුන් වැනි සිල් පදය විග්‍රහ කළා වගේ ඉතිරි සිල් පදත් විස්තර කිරීම ඊළඟ ලිපියෙන් බලාපොරොත්තු වන්න.

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# මිනිසෙකු ලෙස ඉපිද...

මනු ලොව උපත ලැබ පින බලගතු — බැවිනි
දෙනුවණ දෙකන අත පය නිසි ලෙස — ලැබුණි
අනු දූන එබව දහමට ගරු සරු — ලෙසිනි
දිනු දෙස බස රැසට සලකමු හද — බැතිනි

ආගම දහම ගැන නැති විට — හැඟීමක්
නෑ හොඳ නරක පිළිබඳ හරි — දැකීමක්
කෝ හිරි ඔතප් නොතකති රය — දවාලක්
ජීවත් වීම යනු මොවුනට — මූලාවක්

මිනිසුන් ගුණ දහම් නිසි ලෙස රකින — විට
බුලතින් බතින් සරු වෙයි එම පිනැති — රට
නිවටුන් කරන නොපනත්කම් කරන — කොට
යහතින් වෙසෙනු බැරි වෙයි සෙසු — මිනිසුනට

තැන්පත් අයෙකි මග නිවැරදි ලෙස — දැක්කේ
පින්වත් ඔහුට දෙලොවම ජය ගත — හැක්කේ
හිත් පිත් නැති අයට ඇති දඩ මස් — බොක්කේ
පින් පෙත් වුව කුමට නැහැ ගුණ දම — රැක්කේ

මිනිසා ලොවේ පරිසරයට කරති — වින
වනසා දමති සොබ දම් දිනිතියගෙ — ගුණ
විමසා බැලිය යුතු සිදු වන විපත — ගැන
අවසානය ළඟද දවසක කඳුළු — බොන

අවමානයකි ලොව පැතිරෙයි — සාගතය
මෙරමා හට සුවය සම්පත — සීමිතය
සැවොමා එක ලෙසට මනසින් — පීඩිතය
උපමාවකට ගත යුතු තම — ජීවිතය

**පබැඳුම : පානදුරේ එස්.ඒ.එස්. පෙරේරා**

# ධම්ම පදය තුලින් නිවන් මග

13 වන කොටස

ධම්ම පදයේ ආත්ම වර්ගයට සම්බන්ධ ගාථාවකින් තමයි මේ කතාව ආරම්භ වෙන්නෙ. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ වැඩ වසන කාලයේ බෝධිරාජ කියල රාජ කුමාරයෙක් හිටියා. මේ කුමාරයා මුල් වුන සිද්ධියක් තමයි මේ ගාථාව දේශනා කරන්න හේතු වුනේ. මේ බෝධිරාජ කුමාරයා මහා ප්‍රාසාදයක් හදල ඒකට ගෙවදින දවසෙ බුදුන් වහන්සේ ඇතුළු සංඝයා වහන්සේලාට දානෙට ආරාධනාවක් කළා.

ඉතින් මේ බෝධිරාජ කුමාරයට දරුවන් හිටියෙ නෑ. ඒ නිසා බුදුන් වහන්සේ ප්‍රමුඛ සංඝයා වහන්සේලා වඩින අවස්ථාවෙ මාලිගාවට එන මග පාවඩයක් එළල ප්‍රාර්ථනාවක් කළා, මේ පාවඩය උඩින් බුදුන් වහන්සේ වැඩියොත් මට දරුවන් ලැබෙයි නැත්නම් නොලැබෙයි කියල. සියල්ලෙන් සියල්ල දකින බුදු පියාණන් වහන්සේ මේ ප්‍රාර්ථනාව දැක්කා. ඒ දැකල උන්වහන්සේ ඒ පාවඩය මුල නැවතුනා. දැන් උන් වහන්සේ පාවඩය උඩින් වඩින කල් බෝධිරාජ කුමාරයා බලන් ඉන්නවා. නමුත් උන් වහන්සේ වැඩියෙ නෑ. මේ කාරණය දැනගත්ත ආනන්ද හාමුදුරුවො, බෝධිරාජ කුමාරයට පාවඩය අයින් කරන්න කියල දැනුම් දුන්නා. ඉන්පසුව තමයි බුදුන් වහන්සේ බෝධිරාජ කුමාරයගෙ මාළිගාවට වැඩියෙ. දන් පිළිගන්වල ඉවර වුනාම බෝධිරාජ කුමාරයා බුදුන් වහන්සේගෙන් ඇහුවා, ඇයි ඔබ වහන්සේ මේ පාවඩය උඩින් වැඩියෙ නැත්තෙ කියල.

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ දහම් කතාවකට සුදුසුම අවස්ථාව දන්නවා. ඒ වගේම අනෙක් අයටත් ඒ කථාව ප්‍රයෝජනවත් වෙන හැටියට තමයි ප්‍රශ්නයක් වුනත් අහන්නෙ. එහෙම නැතුව නොදැනගෙන නෙවෙයි. සියල්ලෙන් සියල්ල දන්න උන් වහන්සේට කිසි දෙයක් වහන්න බෑ. උන් වහන්සේ බෝධිරාජ කුමාරයගෙන් මෙහෙම ප්‍රශ්නයක් ඇහුවා. ඇයි මේ පාවඩයක් එළුවෙ? එතකොට බෝධිරාජ කුමාරයා උත්තර දෙනවා, ස්වාමීනි මම පැතුමක් පැතුවා, ඔබ වහන්සේ ඒ පාවඩය උඩින් වැඩියොත් ඒ පැතුම ඉටු වේවා කියල. ඉතින් නැවතත් බුදුන් වහන්සේ ඇහුවා, මොකක්ද ඒ පැතුම කියල. ස්වාමීනි මට දරුවන් නෑ, ඔබ වහන්සේ පාවඩය උඩින් වැඩියොත් මට දුවෙක් හෝ පුතෙක් ලැබේවා කියලයි පැතුවෙ, ඒත් ඔබ වහන්සේ පාවඩය උඩින් වැඩියෙ නෑ, මොකක්ද හේතුව කියල බෝධිරාජ කුමාරයා ඇහුවා. ඉතින් බුදුන් වහන්සේ බෝධිරාජ කුමාරයට කිව්වා, නුඹට හෝ නුඹේ බිරිඳට ඒකට හේතු නෑ, ඒකයි මම පාවඩය උඩින් වැඩියෙ නැත්තෙ කියල. නැවතත් බෝධිරාජ කුමාරයා, එහෙම වෙන්න හේතුව ඇහුවා. පෙර අත්බැවක බෝධිරාජ කුමාරයයි බිරිඳයි දූපතක අතරමං වෙලා, මුලින් කුරුළු බිත්තරත්, ඒ බිත්තර අවසන් වුනාට පසුව කුරුළු පැටවුනුත් මරාගෙන කාපු නිසා මේ අත්බැවේ ඒ පාපය හේතුවෙන් දරුවන් නැති බව බුදුන් වහන්සේ පැහැදිලි කරල දුන්නා. ඊට පස්සෙ මේ ගාථාව දේශනා කළා.

අත්තානං චේ පියං ජඤ්ඤා
රක්ඛෙය්‍ය නං සුරක්ඛිතං
තිණ්ණමඤ්ඤතරං යාමං
පටිජග්ගෙය්‍ය පණ්ඩිතෝ



සරල සිංහල තේරුම,

**ඉදින් තමාට තමා ප්‍රිය යයි දන්නේ වී නම්, එය සුරක්ෂිත කොට රක්නේය. (කෙනෙක් තමා රක්මී යි වැසූ දොර කවුළු ඇති ගෙයකට වැද රැකවල ඇතිව වසන්නේද, අකුසල් කෙරේ නම් හේ තමා රක්නේ නම් නොවේ. යමෙක් එළිමහනේ සිටින්නේ නමුදු අකුසළින් දුරු වැ දානාදී සුචරිතේ යෙදේ නම්, හේ තමා රක්නේ නම් වේ) එහෙයින් නුවණැත්තා තුන් වයසෙන් බාලවිය, මැදිවිය, මහළුවිය කියන එක්තරා වයසක අකුසළින් දුරුකොට තමා රක්නේ ය.**

සාමාන්‍ය ව්‍යවහාරයේ කතාවක් තියෙනවා, ලෝකෙට අවංක වෙන්න කලින් තමන් තමන්ට අවංක වෙන්න ඕන කියල. ඒ වගේම තමයි, වෙන කෙනෙකුට ආදරය රැකවරණය දෙන්න කලින්, තමන් තමන්ට මුලින්ම ආදරය, රැකවරණය දෙන්න ඕන. මේ කතා දෙකෙන් කියවෙන්නෙ මොකක්ද? කොහොමද කෙනෙක් තමන්ට අවංක වෙන්නෙ? තමන්ට ආදරයක් රැකවරණයක් දෙන්නෙ? මොනවද වංක වැඩ? මොනවද අවංක වැඩ? මුලින්ම මේක තෝරගන්න ඕන.

අදත් සමහරු කතාවට කියනවා, මගේ වැඩ කෙලින් ආයෙ කතා දෙකක් නෑ කියල. කොහොමද කෙනෙක් එහෙම කියන්නෙ? කෙලින් කියල කිව්වම මැවෙන රූපය කොහොම එකක්ද? මනුස්සයෙක් නම් කඳ කෙලින් තියාගෙන, ඔළුව කෙලින් තියාගෙන ඍජුව ඉන්න කෙනෙක් තමයි මැවිල එන්නෙ. ඒ එක පැත්තක්. ඒ වගේම වැරදි කරපු කෙනෙක් හෝ යම් වැරැද්දක් හංගන්න හදන පොඩි ළමයෙක් ගැන අත්දැකීමක් මතක් කළොත්, මතකයට එන්නෙ මොන ජාතියේ රූපයක්ද? ඔළුව නමාගෙන, ඇඟත් වකුටු කර ගෙන, අත්වල ඇඟිලි දහයත් ගුලි කරගෙන, බොහොම බයාදු ස්වභාවයක් තමයි මැවිල එන්නෙ. ඒ කියන්නෙ එහෙම වැරැද්දක් කරපු කෙනෙකුට, කෙලින් බලන්නවත් ශක්තියක් නෑ. දැන් පැහැදිලියි, වැරදි කරපු කෙනෙක් එක විදිහකට වකුටු වෙලා, එහෙම නැත්නම් වක් වෙලා ඉන්නවා, වැරදි නොකරපු කෙනෙක් කෙලින් වෙලා, එහෙම නැත්නම් ඍජු වෙලා ඉන්නවා. එතකොට වැරදි වැඩවලට වංක වැඩ හෙවත් වක් වැඩ කියලත්, නිවැරදි වැඩවලට අවංක වැඩ හෙවත් කෙලින් / ඍජු වැඩ කියලත් කියනවා.

කෙනෙකුට වංක වැඩ කරන්න පුළුවන් ක්‍රම තුනක් තියෙනවා. ඒ කියන්නෙ සිතෙන්, කයෙන් හෝ වචනයෙන් වංක වැඩ කරන්න පුළුවන්. ඔය ක්‍රම තුනෙන් තමයි ඕනම වංක වැඩක් කරන්නෙ. මොනවද මේ වංක වැඩ? ප්‍රාණ ඝාතය වංක වැඩක්. අදත්තාදානය වංක වැඩක්. කාම මිථ්‍යා චාරය වංක වැඩක්. මුසාවාදය වංක වැඩක්. සුරාමේරය වංක වැඩක්. මේ වංක වැඩ පහකට බෙදල වෙන් කරල පෙන්වපු තැනක්. ඒ වගේම දස අකුසල් කියල දහයකට කඩලත්

පෙන්වල තියෙනවා. ඉතින් අර කලින් බෝධිරාජ කුමාරයට සිද්ධ වුනෙත් ප්‍රාණ ඝාත අකුසලය. කුරුල්ලන්ගෙ බිත්තර කඩා ගෙන කෑම පළවෙනි එක. ඊට පස්සෙ කුරුළු පැටවු මරන් කෑම දෙවනි එක. ඔය දෙකම ප්‍රාණ ඝාතයට අයිති වෙන්නෙ. කෙනෙකුට හිතෙන්න පුළුවන්, බිත්තර කෑව කියල පවක් වෙන්නෙ කොහොමද කියල. මොකද අද සමාජයේ තියෙන මතයක් තමයි බිත්තරවල ජීවයක් නෑ කියල. ඒ ගැන සියුම්ව ගැඹුරෙන් කරපු විස්තරයක් හෙළ බොදු පියුම 10 වෙනි කලාපයේ සඳහන් කරල තියෙනවා. ඉතින් අර ඉහත අත්බැවක බෝධිරාජ කුමාරයයි බිරිඳයි එක්ව කරපු පවක් පළ දුන්නෙ දරුවන් නොලැබෙන විදිහට. බිත්තර කියන්නෙ, කුරුළු පැටවු කියන්නෙ, තිරිසන් වුනත් ඒ දෙමව්පියන්ගෙ දරුවන්. ඒ දරුවන් නැති කරපු පාපය පළ දුන්නෙ, තමන්ටත් දරුවන් නැතිව දුක් විඳින්න සිද්ධ වෙන විදිහට. ඒක තමයි අර ඉහතින් කිව්වෙ, තමන්ව රකිනවා ආරක්ෂා කරනවා කියල අකුසල් කරනව නම්, දොර අගුළු දාගෙන ගෙයක් ඇතුළට වෙලා හිටියත් වැඩක් නෑ කියල.

දැන් හිතෙන්න පුළුවන්, කොහොමද කුසල් කිරීමෙන් තමන්ව ආරක්ෂා වෙන්නෙ කියල. මොකක්ද අපිට ලැබෙන ආරක්ෂාව? එහෙමත් හිතෙන්න පුළුවන්. සංසාරය තුල ගමන් කරන ලෝක සත්වයා වැඩිපුරම කාලය ගත කරන්නෙ සතර අපායෙ. මේ කාරණය මනුස්ස චුති සූත්‍රය ආදී සූත්‍ර ගණනාවක බුදුන් වහන්සේගෙම වචනවලින් පැහැදිලි කරල තියෙනවා. තිරිසන්ව ඉපදෙනවා, අසුරව ඉපදෙනවා, ප්‍රේතව ඉපදෙනවා, එහෙම නැත්නම් නිරයේ ඉපදෙනවා. බොහොම කලාතුරකින් තමයි මනුස්ස අත්බවක් ලැබෙන්නෙ. ඒ ලැබුණත් නැවතත් දුසිරිත් කරල අපායෙ වැටෙනවා. සමහරු කියන කතාවක් තමයි, අපි පිං කරල නැති වුනාට කවදාවත් පාපයක් කරල නෑ, ඒ නිසා අමුතුවෙන් මොකටද පින් කරන්නෙ කියල. ඇත්තටම හිතල බැලුවොත්, අපි පවු කරන්නෙම නැත්ද? උදේ නැගිට්ට වෙලේ ඉඳන් රෑ නිදා ගන්න කල් අපට ඒ දවස තුල ආපු සිතිවිලි ගැන හිතල බැලුවොත්, අපි පවු කරන්නෙ නෑ කියල සහතිකයක් දෙන්න පුළුවන්ද?

බුද්ධ දේශනාවට අනුව ලෝභය අකුසල මූලයක්, ද්වේශය අකුසල මූලයක්, මෝහය අකුසල මූලයක්. මෙතන මූලයක් කියන්නෙ මුල් වෙනවා කියන එක. මොකටද මුල් වෙන්නෙ ? ලෝක සම්මතයේ අකුසල් කියන කොටසට වැටෙන, එහෙම නැත්නම් පවු කියන කොටසට වැටෙන සිතිවිලි, ක්‍රියා, වදන්වලටයි මුල් වෙන්නෙ. කෙනෙක් හිතෙන් හිතනවා, අපෝ මේක දෙන්න බෑ, මේක දීල කොහොමද කියල. අන්න ලෝභය මුල් වුන සිතිවිල්ලක්. ඒක අකුසලයට මුල් වෙන්න හේතුවක්. දැන් ඒ හේතුවෙන් වචනය එනවා, බෑ බෑ මේක දෙන්න බෑ යනව යන්න කියල. ඒ විදිහට සැරෙන් කතා කරන්න පුළුවන්. එහෙම නැත්නම් බොරුවක් කියන්න පුළුවන්. අනේ ඒක තිබුනා කොහේ දාලද කියල මතක නෑ, ලැබුනොත් දෙන්නම් කියල කියන්න පුළුවන්.

ඒ වගේම කෙනෙක් බොහොම ඇලුම් කරන, රකින දෙයක් කඩල බිඳල දැම්මොත් හිතට එන තරහව. ඒකත් අකුසල මූලයක්, එහෙම නැත්නම් අකුසලයකට මුල් වෙන කාරණයක්. ''අනේ දෙයියනේ කැඩුව නේද අලුතින්ම ගෙනාපු මල් පෝච්චිය ? කීයක් දීලද මම ඒක



ගත්තෙ ?'' මේ විදිහට වචනයෙන් ඒ තරහව / ද්වේශය පිටවෙන්න පුළුවන්. එහෙම නැත්නම් වැඩට යන්න පරක්කු වෙලා බස් නැවතුමට යනවා. බස් එක එන්නෙ පැය බාගයක් විතර පරක්කු වෙලා. ඒ පැය බාගය ඇතුලෙ කොච්චර නම් ද්වේශ සිතිවිලි කෙනෙකුට එන්න පුළුවන්ද? බස් එක ආව කියමු, ඒත් වෙනද යනවට වඩා හෙමින් යන්නෙ. දැන් හිතට එන සිතිවිලි කොහොම වෙයිද? ඔහොම ගිහින් වැඩ කරන තැනට ආවා. අනේ අපොයි වෙච්ච දෙයක්, රතු ඉරක් ගහල දවසෙන් බාගයක පඩිත් කපල. දැන් නැවතත් දොස් කියන්න පටන් ගන්නෙ නැත්ද? දවස පටන් ගන්නත් කලින් කොච්චර නම් සිතෙන්, කයෙන්, වචනයෙන් අකුසල් කරගත්තද ? යන්තං රෑ වෙලා ගෙදර ආවා. නිදා ගන්න හැදුව විතරයි, පූසො දෙන්නෙක් ගෙයි ඉස්සරහ මරා ගන්නවා. පූසො රණ්ඩු වෙන එක නම් ඒ තරම් හොඳ දෙයක් නෙවෙයි කියල නැවතත් බැන බැන එළියට ඇවිත් අතට අහුවෙච්ච දේකින් උන්ට ගහනවා. නැවතත් පුපුර පුපුර ඇවිත් නිදා ගන්නවා. ඉතින් කොච්චර නම් අකුසල ක්‍රියාවන් දවසකට කෙනෙක් අතින් සිද්ධ වෙනවද? අපි ඔය පන්සල් නොගියට, පින් නොකළට කිසිම දවසක පවක් නම් කරල නෑ කියල සහතිකයක් දෙන්න පුළුවන්ද?

ඉතින් ඔය දවසක අකුසල් එහෙම නම්, අවුරුදු 10ක 20ක 30ක අකුසල් ප්‍රමාණය ගණන් කරන්නවත් පුළුවන් වෙයිද? කෙනෙක් ලේසියෙන්ම අපාගත වෙන්න පුළුවන් කියන කාරණාව අහක දාන්න පුළුවන්ද? එහෙම බැලුවම, කොච්චර නම් අවදානමකද මේ ලෝක සත්වයා ඉන්නෙ කියල වැටහෙනවා. ඒ අනුව තමයි උන්වහන්සේ දේශනා කළේ, කොහේ හිටියත් කොතැනක මොන රැකවල් දාගෙන හිටියත්, අකුසල් කරනව නම් තමන් ආරක්ෂා නෑ කියල. ඉතින් පන්සල් ගියා කියල, ඔය කරපු අකුසල් වහගන්න පුළුවන්ද? ගෙවන්න පුළුවන්ද? එහෙමත් හිතෙන්න පුළුවන්.

බුදු ගුණ අනන්තයි, අප්‍රමාණයි. ධර්මයේ ගුණ අනන්තයි, අප්‍රමාණයි, සංඝයා වහන්සේලාගේ ගුණ අනන්තයි, අප්‍රමාණයි. ඉතින් බුදුන්, දහම්, සඟුන් සරණ ගිය බෞද්ධයෙක්, ඒ ගුණ දැකල යම් කිසි පූජාවක්, දානයක්, ආවතේවයක්, අඩුම තරමෙ වර්ණනාවක්වත් කරනව නම් ඒ සිතිවිලි, ක්‍රියා, වදන් නිසා නැගෙන ශක්තිය අප්‍රමාණයි. ඒකට හේතුව බුදුන්, දහම්, සඟුන් කියන්නෙ අලෝභ, අද්වේශ, අමෝහ ගුණ, එහෙම නැත්නම් වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණ. අලෝභය කුසල මූලයක්, අද්වේශය කුසල මූලයක්, අමෝහය කුසල මූලයක්. මේ අප්‍රමාණ ගුණයන්ට සිතෙන්, කයෙන්, වචනයෙන් ගුණ දැකල කරන පින්කම්, ප්‍රතිපත්ති පූජා ආදියෙන් නැගෙන්නෙ අප්‍රමාණ ශක්තියක්. ඒ නිසා ප්‍රමාණයක් වූ කල්ප කාලාන්තරයක් වුනත් කරපු අකුසල්වලට වන්දි ගෙවන්න ශක්තිය මේ අප්‍රමාණ කුසල්වලට තියෙනවා. හරියට ණයට ගත්ත කෙනෙක් ඒ ණයත් ආපසු දීල, ඒ වගේ දහස් ගුණයක් වැඩියෙන් දුන්න වගේ. උපමාවකින් කියනව නම්, තිත්ත කළුවර කාමරයක පොඩි පහනක් දල්වපු ගමන් ඒ කාමරයේ කළුවර නැති වෙනව වගේ, අකුසලයේ අඳුර කුසලයේ ආලෝකයෙන් මැඩ පවත්වන්න පුළුවන්. තමන් තරුණ කාලෙ අකුසල් කළා නම්, මැදිවියේ කුසල් කරන්න පුළුවන්. මැදිවියේ අකුසල් කළා නම්, මහළු වියේ කුසල් කරන්න පුළුවන්. වාසනාවකට තරුණ කාලෙ කුසල් කරගන්න පුළුවන් නම් ඒක බොහොම වටිනවා. ඒ නිසයි කිව්වෙ, නුවණැත්තා මේ වයස් තුනෙන්

එකක, ඒ කියන්නෙ එක්කො තරුණ කාලෙ, එහෙම නැත්නම් මැදි වයසෙ, එහෙමත් නැත්නම් මහළු වියේ කුසල් කරගන්නව කියල. ඒ තරම් ඒ කුසලයේ බලය වැඩියි. විශේෂයෙන් සාසනය වෙනුවෙන් කරන කුසල් දහම් මහත් ඵලයි මහානිසංසයි.

ඒ වගේම කරපු කුසල් බලය නිසා, තමන්ව රැකුන අවස්ථාවක් ගැන ධම්ම පදයේම එන තවත් ගාථාවකට හේතු වූ නිධාන කතාවකින් පෙන්වන්න පුළුවන්. මේ සිද්ධිය වුනේ, ඒ කාලෙ හිටපු චූලකාල කියන උපාසක මහත්තයට. ඔහු බුදුන් වහන්සේගෙන් කලින් දවසෙ රාත්‍රියේ බණ අහල ගෙදර යන ගමන් මුහුණ දෙන්න වුන කරදරයක් ගැන තමයි ඒ කතාවෙන් කියවෙන්නෙ. මේ උපාසක මහත්තයා රෑ බණ අහල උදේ පාන්දර ගෙදර එනකොට, කලින් දවසෙ රෑ ගෙයක් බිඳපු හොරු රැලක් හොරා ගත්ත බඩු වගයක් මේ උපාසක මහත්තයා ළඟ දාල පැනල දිව්වා. ඉතින් මේ හොරු රැල පස්සෙ පන්නපු මිනිස්සු, අර දාල ගිය බඩු ටික දැකල, මේ ඉන්නෙ අපේ බඩු හොරා ගත්ත කෙනා, දැන් බොරුවට උපාසක මහත්තයෙක් වගේ ඇඳගෙන ඉන්නව කියල, කිසි හෙවිල්ලක් බැලිල්ලක් නැතිව මේ උපාසක මහත්තයට හොඳටම තලල පෙළල මග දාල යන්න ගියා. ඉතින් උදේ පාන්දර වතුර ගේන්න යන දාසියන් මේ චූලකාල උපාසක මහත්තයව දැකල පණ බේරල දුන්නා. මේක සැලවුන බුදු රජාණන් වහන්සේ, චූලකාල උපාසක මහත්තය වතුර ගෙනියන්න ආව දාසියන් නිසාත්, තමන් ඒ වරද නොකළ නිසාත්, ඒ කුසලයේ බලයෙන් ජීවිතය රැක ගත්ත කියල මේ ගාථාව දේශනා කළා.

අත්තනා'ව කතං පාපං  
අත්තනා සංකිලිස්සති  
අත්තනා අකතං පාපං  
අත්තනා'ව විසුජ්ඣති  
සුද්ධී අසුද්ධී පච්චත්තං  
නාඤ්ඤමඤ්ඤෝ විසෝධයේ

සරල සිංහල තේරුම,

තමා විසින්ම පවු කරන ලද නම් (සිවු අපායේ ඉපිද දුක් විඳින්නේ) තමාම කෙලෙසෙන්නේය (තැවෙන්නේය). තමා විසින්ම පවු නොකරන ලද නම්, එයින් තමාම විශුද්ධ වන්නේය. ශුද්ධියද අශුද්ධියද තමා පිළිබඳවය, එය පවතින්නේ තමන් තුලය. අනෙකෙක් අනෙකෙකු ශුද්ධ නොකරන්නේය.

ඉතින් මේ ගාථාවෙනුත් පැහැදිලි වෙන්නෙ, තමන් තමන්ව ආරක්ෂා කරගන්න විදිහ. පවු කළොත් තමන්මයි විඳවන්නෙ, වෙන කෙනෙක් නෙවෙයි. දැන් ඉහත සිද්ධියට අනුව, බණ අහපු උපාසක මහත්තයටත්, හොරු රැලක් නිසා නිකං දුක් විඳින්න සිද්ධ වුනා. හැබැයි ඒ පෙර කාට හෝ කරපු පාපයක් නිසාමයි එහෙම වුණේ. ඒ වගේම දැන් බණ අහපු, ඒ බණ පිළිපැද්ද කුසලයත් තියෙනවා. ඒ නිසා නොමැරී බේරුනා. ඉතින් තමන්මයි තමන්ව බේරගන්න ඕන. තමන් අකුසල් කළා නම්, පාප වැඩ කළා නම්, තමන්මයි ගෙවන්නත් ඕන. හරියට උපමාවක් කියනව නම්, කෙනෙක් වහ බීල තව කෙනෙක් මැරෙනකල් බලන් හිටියට හරියන්නෙ නෑ. ඒ වහ බිව්ව කෙනාමයි විඳවන්නෙ? ඉතින් තමන් දිනපතා දැන හෝ නොදැන කළත්, පාපය පාපයමයි. ඒක වෙනස් වෙන්නෙ නෑ. අනේ මම ඒක පාපයක් කියල දන්නෙ නෑ කියල බේරෙන්න බෑ. එහෙම පාපයක් කියලවත් නොදන්නෙ මෝහය/මෝඩකම නිසා. පාපය පාපය හැටියට අඳුනගන්නවත් ශක්තිය නෑ. ''ඔය සතෙක් මැරුවට මොකද වෙන්නෙ ? උන් ඉන්නෙ අපේ බඩගින්න නිවන්න නේ. බඩගින්නට මරන් කෑවට පවු නෑ''. ඔය වගේ කතා සමාජයේ අහන්න දකින්න ලැබෙනවා.

කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඉතින් ඇත්ත නේ ඒ මනුස්සයා බඩගින්න ඉවස ගන්න බැරුව නේ ඒ සතාව මැරුවෙ, එහෙම නැත්නම් තමන්ගෙ දරු පවුලට කන්න දෙන්න නේ ඒ සතාව මරල ගෙනිච්චෙ කියල. කෙනෙක් එහෙම තර්කවාද කරන්න පුළුවන්. බාහිරින් දකින ක්‍රියාව දැකල තමයි බොහෝ අය එහෙම තීරණ ගන්නෙ. නමුත් බුදු දහම ක්‍රියාවාදී දහමක් නෙවෙයි. පැහැදිලිවම හේතු ඵලයක් දේශනා කරපු දහමක්. දැන් ගෙදර දරු මල්ලන්ගෙ බඩගින්න නිවීම එක හේතුවක ඵලයක්. ඒ හේතුව නිසා දරුවන්ට කන්න දීපු යුතුකම වෙනම තියෙනවා. නමුත් සතා මරපු එක වෙනම හේතුවක්. ඒ අනුව ඒක ප්‍රාණ ඝාත අකුසලයට අහුවෙනවා. නමුත් ඒක එක ක්‍රියාවක් හැටියට ගන්න ගියාමයි වැරැද්ද. ඉතින් පිනක් කර ගත්තත් ඒකෙ ලැබීම තමන්ටමයි. ඒ වගේමයි පාපයක් කළත් ඒක ගෙවන්න ඕනත් තමන්මයි. අනේ අර මගේ යාළුව කරපු පවුවලට මම අපායෙ දුක් විඳිනව කියල කතාවක් නෑ. එහෙම එකක් ගලපන්න බෑ. සංඛාර තමන් කළා නම්, ඒ අනුව ගොඩ නගන ජාතියත් තමන්ටමයි එන්නෙ. මනුස්සයෙක් තැබෑරුම් ගානෙ ගිහින් උදේ හවස මත්පැන් බොනව නම්, ඒ මනුස්සයට බේබද්ද කියල කියනව මිසක් ඒ මනුස්සයගෙ අල්ලපු ගෙදර ඉන්න උදේ හවා වත් පිළිවෙත් රකින මනුස්සයට බේබද්ද කියල කියන්නෙ නෑ. එහෙම ක්‍රමයක් කොහෙත්ම නෑ. සංඛාර කරන්නෙ තමන්, විඤ්ඤාණ ගොඩ නගන්නෙත් තමන්, තණ්හාව ඇති කරගන්නෙත් තමන්. ඒ අනුව උපාදානය උඩ ගොඩ නැගෙන ශක්තියෙන්, ඒ කියන්නෙ භවයෙන් ජාතිය ගොඩ නගන්නෙත් තමන්මයි.

තමන් දේව සංඛාර වැඩුව නම්, වෙන කෙනෙක් දේව ජාතියක උපදින්නෙ නෑ, තමන්මයි ඒ තැන උපදින්නෙ. ලොව්තුරා බුදුන් වහන්සේ පෙර ජාති දකින ඥානයෙන්, මම දීපංකර බුදුන් වහන්සේගෙන් විවරණ ගත්තා, අවසානයේ කාශ්‍යප බුදුන් වහන්සේගෙන් විවරණ ගත්තා, ඒ අනුව සාර අසංඛ්‍ය කල්ප ලක්ෂයකට වඩා පූර්ණ කරගත් පාරමිතා ධර්ම නිසා සම්බෝධියට පත්වුනා කිව්ව මිසක්, වෙන කෙනෙක් කරපු දේවල් නිසා සම්බෝධියට පත්වුනා කිව්වෙ නෑ. ඒ නිසා තමයි ඉහත ගාථාවෙන් කිව්වෙ, සුද්ධිය හෙවත් තමන් පිරිසිදු වීමත්, ඒ වගේම අසුද්ධිය හෙවත් තමන් අපිරිසිදු වීමත් කියන දෙකම තමන් පිළිබඳව මිසක් වෙන කෙනෙක් පිළිබඳව නොවන බව, තව කෙනෙක් තව කෙනෙක්ව සුද්ධ නොකරන බව. ඒ නිසාමයි බුදුන් වහන්සේ දේශනා කළේ, මට කරන්න පුළුවන් මග පෙන්වීම පමණයි, අනෙක් ටික තම තමන්ම කරගත යුතුයි කියල.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැගවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - අත්ත වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**  
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# දුලභව සිදු කෙරෙන මහා ඖෂධ පූජාවක් ....

අට අනුවක් රෝග, නව අනුවක් ව්‍යාධි, දෙසිය තුනක් අන්තරා දුරු වේවායි ප්‍රාර්ථනා කරමින් බුදු, දම්, සඟ කියන තෙරුවනට ඖෂධ වර්ග හාර සියයක් $(98 + 99 + 203 = 400)$ පිදෙන මහා ඖෂධ පූජාවක්, ශ්‍රී බුද්ධ වර්ෂ 2559 ක් වූ නිකිණි මස පුර පසළොස්වක පොහොය දින වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී සිදු කෙරෙන වගයි. පින් කැමති සියලු දෙනාට සැදැහැ සිතින් ආරාධනා...

වැඩිදුර විස්තර : 077 7 193 907 - සම්පත් ඉන්දික, 077 073 55 72 - දේවප්‍රිය, 077 377 96 27 - අංජනා

# සෝතාපන්න ආර්ය ශ්‍රාවකයාගේ ලක්ෂණ

(පසු ගිය කලාපයෙන් - බුදු සසුනේ ගමන් මග...)

යමෙකුට තුනුරුවන් කෙරෙහි ඇති වන අවෙච්චප්පසාදය සහ අරියකාන්ත සීලය කියන කරුණු පිහිටල නැත්නම්, ඒ පුද්ගලයා ප්‍රමාද විහාර (වාසය) ඇත්තෙක් බවත්, මේ අංග මුළුමනින්ම නැත්නම් බාහිර පෘථජ්ජනයෙක් බවත් සංයුක්ත නිකායේ එන නන්දිය සූත්‍රයේ සඳහන් වෙනවා.

පෘථජ්ජනයා කියන්නෙ කවරෙක්ද කියල හඳුන ගන්න ඉහත දේශනාව ඉතා වැදගත්. ආර්යයන්ව නොදකින, ආර්ය ධර්මයේ නොහික්මෙන, සත්පුරුෂයන්ව නොදකින, සත්පුරුෂ ධර්මයේ නොහික්මෙන තැනැත්තා අශ්‍රැතවත් පෘථජ්ජනයෙක් බව බුද්ධ දේශනාවල සඳහන් වෙනවා. (අරියානං අදස්සාවී අරිය ධම්මේ අවිනීතෝ - සප්පුරිසානං අදස්සාවී සප්පුරිස ධම්මේ අවිනීතෝ)

ඒ වගේම සද්ධා, සීල, ශ්‍රැත, ත්‍යාග, ප්‍රඥා කියන පංච ධර්මයන් මුළුමනින්ම නැත්ද, ඒ පුද්ගලයා පෘථජ්ජනයෙක් විදියට තමයි ධර්මයේ පෙන්වා තියෙන්නෙ. හීන වූ ග්‍රාම්‍ය වූ පංච කාමයන්ගේ ඇලී වසන කෙනාත් පෘථජ්ජනයෙක් බව ධම්ම චක්ක සූත්‍රයේ සඳහන් වෙනවා. මේ විදිහට පෘථජ්ජනයන් දෙන්නෙක් සිටින බව අට්ඨ කතාවේ එන ගාථාවක සඳහන් වෙනවා.

ද්වේ පුථුජ්ජනා වුත්තා
බුද්ධාදිච්චේන බන්ධුනා
අන්ධෝ පුථුජ්ජනෝ ඒකෝ
කල්‍යාණේකෝ පුථුජ්ජනෝ

අන්ධ පෘථජ්ජන සහ කල්‍යාණ පෘථජ්ජන වශයෙන් දෙන්නෙක් සඳහන් වෙනවා. සතර සෝතාපත්ති අංග කොහෙත්ම නැති කෙනා අන්ධ පෘථජ්ජනයෙක්. බාහිර (සාසනයෙන් බැහැර) පෘථජ්ජනයා විදිහට සූත්‍රවල සඳහන් කරල තියෙන්නෙ මේ පුද්ගලයා ගැන. සෝවාන් ඵලයට පත් නොවූ, නමුත් සද්ධා, සීල ... ආදී ගුණවල යම් පමණකින් හෝ පිහිටි සද්ධානුසාරී, ධම්මානුසාරී පුද්ගලයා කල්‍යාණ පෘථජ්ජනයෙක් විදිහට හඳුන්වන්න පුළුවන්.

සතර සෝතාපත්ති අංගවලින් යුත් සෝතාපන්නයාට නිරන්තරයෙන් පුණ්‍ය ගංගා කුසල ගංගා පහළ වන බව සංයුක්ත නිකායේ අභිසන්ද සූත්‍රයේ දක්වා තියෙනවා. (චත්තාරෝ මේ භික්ඛවේ පුඤ්ඤාභිසන්දා, කුසලාභිසන්දා, සුඛස්සාහාරා)

ඒ වගේම අපිරිසිදු සතුන්ගේ (පෘතජ්ජනයින්) පිරිසිදු බව පිණිසත්, නොදමුනු අයගේ දමනය පිණිසත් සතර සෝතාපත්ති අංග හේතු වන බව සංයුක්ත නිකායේ දේවපාද සූත්‍රයේ දේශනා කරල



තියෙනවා. වෛර 5 ක්, බිය 5 ක් දුරු කළ සෝතාපත්ති අංගවලින් යුක්ත, ආර්ය න්‍යාය ප්‍රඥාවෙන් දැකල අවබෝධ කරපු සෝතාපන්නයාට තමන් නිරයෙන්, ප්‍රේත ලෝකයෙන්, තිරිසන් ලෝකයෙන්, අසුර නිකායෙන් සදහටම මිදුන බව ප්‍රකාශ කරන්න පුළුවන්. **සුදුස්සාට සුදුසු තැනදී අධිගම ප්‍රකාශ කරන්න පුළුවන්. ''සම්මදේව'' කියල අධිගම ප්‍රකාශ කරන ක්‍රමයක් ධර්මයේ පෙන්වා තියෙන්නෙ ඒ නිසා.** ''සම්මා විහරණය'' මොකක්ද කියල විවරණය කරන අටුවාවේ, තමන්ගෙ සෝවාන් බව අනුන්ට කියල ඒ තැනැත්තාත් සෝවාන් තත්ත්වයට නගා සිටුවන්න උත්සාහ කළ යුතු බව පෙන්වා තියෙනවා. (අත්තනෝ සෝතාපන්න භාවං අඤ්ඤස්ස කථෙත්වා තං සෝතාපන්නං කරෝතීති සම්මා විහරති නාම)

සංයුක්ත නිකායේ සරකානි සූත්‍රයේ මහානාම කුමාරයාට බුදුන් වහන්සේ මේ විදිහට දේශනා කරනවා. ''මහානාමය, මේ මහා සල් ගසුත් සුභාෂිත, දුර්භාෂිත දන්නේ නම්, වැටී නොයන නියත වූ නිවන පිහිට කොට ඇති සෝතාපන්න යැයි කියා මේ සල් ගස්වලටත් ප්‍රකාශ කළ හැක'' මෙයින් පෙන්වා තියෙන්නෙ, යහපත අයහපත තේරුම් ගන්න පුළුවන් හැමෝටම ධර්මාවබෝධය කරන්න පුළුවන් බව. ප්‍රත්‍යවේක්ෂා ඥානය තියේ නම් ඒ බව ප්‍රකාශ කරන්නත් පුළුවන්. ඒකට සුදුසුකම් විදිහට බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ, සට කපටිකම් නැති, මායාවන් නැති, ඍජු ගති ඇති අය මා වෙත පැමිණෙන්න, ඒ සියලු දෙනාටම මම අනුශාසනා කරමි කියල. (ඒතු විඤ්ඤූ පුරිසෝ අසඨෝ, අමායාවී, උජුජාතිකෝ අහමනුසාසාමි, අහං ධම්මං දේසේමි)

පඨව්‍යා ඒක රජ්ජේන
සග්ගස්ස ගමනේනවා
සබ්බලෝකාධි පච්චේන
සෝතාපත්ති ඵලං වරං
(ඛු.නි. ධම්ම පද - ලෝක වග්ග)

ඉහත ධම්ම පද ගාථාවෙන් සෝතාපන්න වීමේ ඇති ශ්‍රේෂ්ඨ බව පෙන්වා තියෙනවා. පෘථිවියට අධිපති චක්‍රවර්ති රජකම, ස්වර්ගයේ ඉපදීම, මුළු ලොවට අග රජ වීම කියන සියලු කරුණුවලට වඩා සෝවාන් වීම අග්‍රයි, ශ්‍රේෂ්ඨයි, උත්තමයි.

සක්විති රජ කෙනෙක් සතර මහා දිවයිනට අධිපතිව රජකම් කරල, මරණින් මතු තව්තිසා වැසි දෙවියන් අතරට ගිහින්, නන්දන වනයේ අප්සරාවන් සමූහයා පිරිවරා ගෙන දිව්‍ය පංච කාම ගුණයන් විඳිමින් වාසය කරනවා. නමුත් ඔහු නිරය, තිරිසන්, ප්‍රේත, අසුර කියන සතර අපායෙන් මිදිල නෑ. ඒ දෙව් සැප සහ ආයුස අවසන් වෙලා මනුස්ස ලෝකයට ඇවිත් හෝ කවදා හෝ දවසක ධර්මාවබෝධය නොකරන තාක් සතර අපායේ ඉපදෙන්න හේතු නැති කරල නැති නිසා දුගතිගාමී වෙන්න අවකාශ තියෙනවා.

''චතූහපායේහි ච විප්පමුත්තෝ - ඡචාභිඨානානි අභබ්බො කාතුං'' කියන රතන සූත්‍ර පාඨයෙන්, ☞

සෝතාපන්න වූ කෙනා සදහටම සතර අපායෙන් මිදිල, කාරණා හයකට අභව්‍ය වූ කෙනෙක් බව පෙන්වා තියෙනවා. ඉහත පාඨයට අනුව සෝවාන් වූ කෙනා මව මැරීම, පියා මැරීම, රහතුන් මැරීම, සංඝ භේදය, ලෝහිතුප්පාදය හෙවත් බුද්ධ ශරීරයෙන් දුෂ්‍ය හිතකින් ලේ සෙලවීම, අන්‍ය සාස්තෘ සරණ යාම කියන කාරණා හයට අභව්‍යයි. මේ නොකරන කාරණා හයට අමතරව, අංගුත්තර නිකායේ අට්ඨාන පාළියේ සෝවාන් වූ ආර්ය ශ්‍රාවකයා නොකරන තවත් කාරණා තුනක් පෙන්වා තියෙනවා. ඒ කියන්නෙ කිසිම සංස්කාරයක් නිච්ච, සුඛ විදිහටත්, කිසිම ධර්මයක් අත්ත විදිහටත් ගන්නෙ නෑ. මේ අනුව සෝවාන් වූ කෙනා කාරණා 9 ක් කොහෙත්ම සිදු කරන්නෙ නෑ.

සමාජයේ ජීවත් වෙන කොට එකිනෙකාට උදව් උපකාර කිරීම ඉතා උතුම් ගුණයක්. **බුද්ධ වචනය අනුව තමන්ගෙ යාළු හිත මිත්‍රාදීන්ට කරන උතුම්ම සැලකීම තමයි සෝතාපත්ති අංගවල පිහිටුවීම, සමාදන් කරවීම.** මේ බව සංයුක්ත නිකායේ මිත්තාමච්ච සූත්‍රයේ පැහැදිලිව පෙන්වා තියෙනවා.

යමෙක් සෝවාන් වෙන්න නම් මොකක්ද කරන්න ඕන කියල වදාරණ බුදු පියාණන් වහන්සේ, සතර සෝතාපත්ති අංගවලින් යුක්ත වන ලෙස පැහැදිලි කරනවා. සකදාගාමී, අනාගාමී, අරිහත්වීම සඳහා කළ යුත්තෙත් සෝතාපත්ති අංගවල පිහිටීම. නමුත් එතනදි සෝවාන් ඵලයෙන් පසු ඉතිරි මග ඵල පූර්ණ කර ගැනීම සඳහා කල්‍යාණ මිත්‍ර සම්පත්තිය, සද්ධර්ම ශ්‍රවණය කියන අංග දෙක අත්‍යවශ්‍ය නෑ. තිබුනොත් වඩාත් පහසු වෙන්න පුළුවන්. ඒ වගේම පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් වැඩීමෙන් සෝවාන්, සකදාගාමී, අනාගාමී, අරිහත් කියන සතර මාර්ග ඵල ලබන බව සඳහන් වෙනවා.

සත්පුරිස සේවනය, සත්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධර්මානුධර්ම ප්‍රතිපත්ති යමෙක් භාවිතා කිරීමෙන්, නැවත නැවත භාවිතා කිරීමෙන් (භාවිතා, බහුලීකතා) මහා පඤ්ඤා, පුථු පඤ්ඤා, විපුල පඤ්ඤා, ගම්භීර පඤ්ඤා, අසාමන්ත පඤ්ඤා, භූරි පඤ්ඤා, පඤ්ඤා බාහුල්ල, සීඝ පඤ්ඤා, ලහු පඤ්ඤා, හාසු පඤ්ඤා, ජවන පඤ්ඤා, තික්ඛ පඤ්ඤා, නිබ්බේධික පඤ්ඤා කියන මහා ප්‍රඥා ලැබෙන බව බුද්ධ දේශනාවල සඳහන් වෙනවා. මේ ලිපියෙන් ඒ සියලු විස්තර සඳහන් කරන්න බැරි වුනත්, වැඩි විස්තර දැන ගැනීමට අවශ්‍ය නම් සංයුක්ත නිකායේ (5) සෝතාපත්ති සංයුක්තයේ මහා පඤ්ඤා වර්ගය බලන්න.

ආර්ය මාර්ගයේ සෝතාපන්න මාර්ග අනුගාමිකත්වයේ පටන් අරිහත් මාර්ගය දක්වා සිටින ආර්ය උතුමන් හත් දෙනා සේඛ හෙවත් තවමත් විමුක්ති මාර්ගයේ හික්මෙන පුද්ගලයන් විදිහට හඳුන්වල තියෙනවා. ආර්ය මාර්ගයේ හික්මී අවසන් වූ උතුමන් අසේඛ කියල හඳුන්වනවා. බුදු, පසේ බුදු, මහ රහතන් වහන්සේලා අසේඛ වෙනවා. **සේඛ පුද්ගලයා ආර්ය මාර්ගය වැඩීම පසෙක දමා ඉන් පරිබාහිර කටයුතුවල වැඩි කාලයක් යෙදිල වාසය කළොත්, පිරිහීමට පත් වෙන බව තථාගතයන් වහන්සේ විසින් අංගුත්තර නිකායේ සේඛ සූත්‍රය තුලින් පෙන්වා තියෙනවා.** මෙතනදි පිරිහීම කියල සඳහන් කළේ, ලබා ගත්තු මාර්ග ඵලය පිරිහීම නෙවෙයි, ඉතිරි මග ඵල ලැබීමට ප්‍රමාද වීම. ඒ නිසා සෝවාන් මාර්ග අනුගාමිකයාගේ පටන්, අරිහත් මාර්ගය දක්වා සිටින සේඛ පුද්ගලයන්, කළ යුත්ත නොකළ යුත්ත පිළිබඳව විමර්ශන බුද්ධියෙන් වාසය කරන්න ඕන. එහෙම නොවුනොත් නොදැනුවත්වම ඉදිරි දියුණුව ප්‍රමාද වෙන්න පුළුවන්.

සේඛ භික්ෂුවගේ පිරිහීමට හේතු වන කරුණු පහක් ධර්මයේ සඳහන් වෙනවා. කම්මාරාමතා, භස්සාරාමතා, නිද්දාරාමතා, සංඝණිකාරාමතා, විමුත්ත සිත ප්‍රත්‍යවේක්ෂා නොකිරීම කියන කරුණු සේඛ භික්ෂුවගේ පිරිහීම පිණිස පවතිනවා. (කම්මාරාමතා, භස්සාරාමතා, නිද්දාරාමතා, සංඝණිකාරාමතා, යථා විමුත්තං චිත්තං න පච්චවෙක්ඛති, ඉමේ ඛෝ භික්ඛවේ පංච ධම්මා සේඛස්ස භික්ඛුණෝ පරිහානාය සංවත්තන්ති. අංගුත්තර නිකාය - පඨම සේඛ සූත්‍රය)

කම්මාරාමතා කියන්නෙ නව කර්මාන්තවල යෙදීම. භික්ෂුවක් වශයෙන් සීමාව ඉක්මවා ගොඩනැගිලි හැදීම්, අධිකව ගමන් බිමන් යෑම්, තව නොයෙක් බාහිර කටයුතුවල නිරතවීම් ආදිය කම්මාරාමතාවට අයිතියි. භස්සාරාමතා කියන්නෙ අල්ලාප සල්ලාපවල යෙදෙමින් විහිළු කොලොප්පම් කරමින් කොක් හඬලා සිනාසෙමින් කාලය ගෙවීම. අධිකව නිදීම තමයි නිද්දාරාමතාව කියන්නෙ. ඒ කියන්නෙ සීමාවක් නැතිව නිදා ගැනීම. සමහර අය හුදෙකලා විවේකයට කැමති නෑ. පිරිස් සමග එකතු වෙලා දෙතිස් කතා කියමින් කාලය කා දැමීමට ප්‍රියයි. මේක සංඝණිකාරාමතා කියල හඳුන්වනවා. පස්වෙනි පරිහානි කාරණය තමයි විදර්ශනා වඩමින් මිදුනු සිත ප්‍රත්‍යවේක්ෂා නොකිරීම. ඒ කියන්නෙ දැකපු අනිච්ච, දුක්ඛ, අනත්ථ මෙනෙහි නොකරමින් තවදුරටත් විදර්ශනා නොකිරීම.

මේ කාරණා පහෙන් යුක්ත කෙනාට ඉදිරි මාර්ග ඵල අවබෝධ කර ගන්න බැරිව ප්‍රමාදව වාසය කරන්න සිද්ධ වෙනවා. අරිහත් මාර්ග අනුගාමිකත්වයේ සිටින කෙනෙක් නමුත් කම්මාරාමතාදියේ යෙදිල, මිදුනු සිත ප්‍රත්‍යවේක්ෂා නොකරමින් වාසය කළොත්, ඒ ආර්ය ශ්‍රාවකයාට අරිහත් ඵලය සාක්ෂාත් කිරීම ප්‍රමාද වෙනවා. අනාගාමී ඵලයට පත් වෙච්ච කෙනෙකුට අරිහත්වයට පත්වීම පහසුයි කියල නොසිතන ලෙස බුදුන් වහන්සේ වදාරල තියෙන්නෙ මේ කාරණා නිසා. ඒ නිසා අරිහත්වයට පත් නොවූ සියලු සේඛ පුද්ගලයන් මේ ගැන අවධානය යොමු කරල, නිසරු දේවල්වලින් වැළකිලා ඉතිරි මාර්ග ඵල අවබෝධ කර ගන්න වෑයම් කරන්න ඕන.

ඊළඟට යමෙක් සෝතාපන්න ආර්ය ශ්‍රාවකත්වයට පත් වෙන කොට, ඒ පුද්ගලයා තුළ ඉතිරි කෙලෙස් සහ පහ වූ කෙලෙස්වල ස්වභාවය සූත්‍ර දේශනාවල සඳහන් උපමා ඇසුරෙන් මේ විදිහට දකින්න පුළුවන්.

මහණෙනි, යම් සේ පුරුෂයෙක් මුං ඇට පමණ ගල් කැට හතක් සිනේරු (මහාමේරු) පර්වත රාජයා ළඟ තබයි. මහණෙනි, සිනේරු පර්වත රාජයා ළඟ ඇති ගල් ලොකුද ? සිනේරු පර්වත රාජයා ලොකුද ? ස්වාමීනි, සිනේරු පර්වත රාජයාම ලොකුය. ළඟ තැබූ මුං ඇට පමණ ගල් කැට ඉතා කුඩාය, ගණන් ගන්නටවත් බැරිය, සම කරන්නටත් බැරිය. සියයෙන්, දහසෙන්, සිය දහසින් කලාවකටද නොපැමිණේ.

මහණෙනි, එමෙන් සිවුසස් අවබෝධ කළ ආර්ය පුද්ගලයා විසින් පහ කළ යම් දුකක් වෙයි නම්, එය සිනේරු පර්වත රාජයා මෙන් විසාලය. ඉතිරි වූ යම් දුකක් වෙයි නම් එය මුං ඇට පමණ ගල් කැට හත මෙන් ඉතා ස්වල්පය. (ස.නි. සිනේරු සූත්‍රය)

මහ පොළොවෙන් නිය පිටට පස් ස්වල්පයක් ගත් විට මහ පොළොවේ පස් විසාල වන්නා සේ, දිට්ඨි සම්පන්න පුද්ගලයා පහ කළ දුක මහ පොළොව මෙන් විසාලය. ඔහුට ඉතිරි වූ දුක නිය පිට ගත් පස් ස්වල්පය මෙන් ඉතා ටිකය. (ස.නි. - පඨවි සූත්‍රය)

යොදුන් පනහක් දිග, පළල, ගැඹුරු වූද පිරුණු වූද විසාල පොකුණක්

වෙයි. මිනිසෙක් කුස තණ කොළයක අගින් දිය ස්වල්පයක් ගනී. සෝතාපන්නයා දුරු කළ යම් දුකක් වේ නම් පොකුණේ ජලය මෙන් ඉතා විසාලය, ඉතිරි වූ දුක කුස තණ ගසේ රැඳුනා වූ ජල ස්වල්පය මෙන් ඉතා ටිකය. (ස.නි. <u>පොක්ඛරණී සූත්‍රය</u>)

ගංගා, යමුනා, අචිරවතී, සරභූ, මහී යන මහා ගංගා එක් වන තැනක් වෙයි. පුරුෂයෙක් එතනින් දිය බිඳු දෙක තුනක් ගනී. සෝතාපන්න කෙනා පහ කළ යම් දුකක් වෙයි නම්, මහා ගංගා පහ එකතු වන තැන (මහ මුහුද) ජලය මෙන් ඉතා විසාලය. ඔහුට ඉතිරි වූ දුක, ඒ ගංගා පහ එකතු වන තැනින් ගත් කුඩා දිය බිඳු දෙක තුන මෙන් ඉතා ස්වල්පය. (ස.නි. - <u>සම්බොජ්ජඞ්ග සූත්‍රය</u>)

දුතිය සම්බොජ්ජඞ්ග සූත්‍රයේ බුදු හිමියන් මේ විදියට වදාරනවා. මහා ගංගා පහ එක් වන තැන දිය බිඳු දෙක තුනක් ඉතිරිව තිබියදී මහා ජල කඳ සිඳී යයි. මෙසේ ආර්ය ශ්‍රාවකයා දුරු කළ දුක් කඳ අති විසාලය. ඔහුට ඉතිරි වූ දුකක් ඇත්නම් එය මහා ජල කඳෙන් ඉතිරි වූ දිය බිඳු දෙක තුන මෙන් ඉතා ස්වල්පය.

මේ සඳහන් කළේ, සෝතාපන්නයාගේ ඉතිරි කෙලෙස් සහ පහ කළ කෙළෙස්වල ස්වභාවය උපමාවලින් පෙන්වා තියෙන ආකාරය. බුද්ධ සාසනයක් මුන ගැසුනු දුලභ අවස්ථාවෙන්, අඩුම වශයෙන් දිට්ඨි සම්පන්න ආර්ය ශ්‍රාවකත්‍වයට පත් වුනත් ඒ පුද්ගලයා සසර ජය ගත්තෙක්. ඒ නිසා අති දුලභ ධර්මය මුන ගැහිල තියෙන මේ කාලයේ, එයින් උපරිම ප්‍රයෝජන ගන්න ප්‍රඥාවන්තයෝ උත්සුක වෙන්න ඕන.

ඊළඟට සත්ත්වයා සසරට බැඳ තබන සංයෝජන 10 ක් තියෙනවා. කෙනෙක් ධර්ම ශ්‍රවණය කරල ලෝකයේ යථාර්ථය වටහ ගෙන සෝතාපන්න වෙන කොට, සතර අපාගත වීමට හේතු වන මුල් සංයෝජන 3 අනුශයත් සහිතව ප්‍රහාණය වෙනවා. ඒවා දර්ශනයෙන් පහ කළ යුතු ආශ්‍රව විදියට බුද්ධ දේශනාවෙ පෙන්වා තියෙනවා. දස සංයෝජනවලින් ඉතිරි 7 භාවනාවෙන් පහ කළ යුතු ආශ්‍රව විදියට දක්වා තියෙනවා. (දස්සනේන තීණි සංයෝජනානි පහීයන්ති භාවනාය සත්ත සංයෝජනානි පහීයන්ති - නෙත්තිප්පකරණය පටිනිද්දේසවාරය 28 පිටුව)

මේ බුද්ධ දේශනාව අනුව භාවනාව පෙන්වා තියෙන්නෙ, දර්ශනයෙන් (සෝවාන් වීමෙන්) පහ කළ යුතු ආශ්‍රව දුරු වුනාට පස්සෙ කළ යුත්තක් විදිහට. නමුත් වර්තමානයේ සාම්ප්‍රදායික නිවන් මග විග්‍රහ කරන දේශකයන්, සෝතාපන්න වීමට මුලින් සීලයක පිහිටල භාවනා කළ යුතු බව සඳහන් කරනවා. ඒක ධර්මානුකූල නැති බව ඉහත නෙත්තිප්පකරණ දේශනාවෙන් සහ සබ්බාසව සූත්‍රයෙන් පැහැදිලි වෙනවා.

භාවනාවෙන් සංයෝජන ප්‍රහීණ වෙන්න පෙර, ධර්ම ශ්‍රවණය තුලින් දර්ශන ඥානය පහළ කර ගන්න ඕන. ඒක තමයි සෝතාපන්න වීම හෙවත් අරි අටඟි මගට පැමිණීම කියන්නෙ. සෝවාන් වෙච්ච කෙනා හෙවත් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙච්ච කෙනා තමයි ඇලීම් ගැටීම් දුරු කරමින් සකෘදාගාමී, අනාගාමී,



අරිහත්වය සඳහා භාවනා කළ යුත්තෙ. (කුසලාධම්මා ආසේවති වඩ්ඪියති ඒකායති භාවනා - කුසලය සේවනය කරමින් වැඩීම භාවනාවයි) ලෝකයේ සැබෑ යථාර්ථය නොදැක, අමු පෘතජ්ජනයෙකුට ඇලීම් ගැටීම් දුරු කරන්න බෑ. ඒ නිසා භාවනාවෙන් කෙළෙස් ප්‍රහාණයට පෙර, බණ අහල දර්ශනයෙන් මුල් සංයෝජන 3 ප්‍රහීණ කරන්න ඕන.

මේ විදිහට යමෙකුට දර්ශන ඥානය පහළ වෙන කොට, සතර අපාගත වීමට හේතු වන සංයෝජන 3 ක් මතු නූපදින විදිහට ප්‍රහීණ වෙනවා. එයින් පළවෙනි සංයෝජනය තමයි සත්කාය දිට්ඨිය. සත් + කාය + දිට්ඨි කියල මේ වචනයේ පද බෙදා දක්වන්න පුළුවන්. කාය කියන්නෙ සමූහය කියන අදහස. කාය කිව්වම මුළු ලෝකයම අයිතියි. සතර මහා ධාතුන්ගෙ එකතුවෙන් රූපයන් ගොඩ නගල වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන චිත්ත චෛතසිකයන් එකතු වෙලා නාම ලෝකය (චිත්තයන්) ගොඩ නැගෙනවා. මේ අනුව සියලු සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කාය යන්නට අයිති වෙනවා.

ක + අය - කාය කියලත් හඳුන්වන්න පුළුවන්. අය කියන්නෙ එකතුව. ලෝකය හට ගෙන තියෙන සියලු එකතුන්, ඒවා හට ගත් තැන් පටන් ගෙවී ගෙවී යාම ඒවාට උරුම ධර්මතාවයක්. ඒ එකතුන්ගේ ක්ෂය වීම කාය කියල හැඳින්වෙනවා. මේක චක්ඛු කාය, සෝත කාය, ඝාන කාය, ජිව්හා කාය, කාය කාය, මනෝ කාය, රූප කාය, ශබ්ද කාය, ගන්ධ කාය, රස කාය, පොට්ඨබ්බ කාය, ධර්ම කාය කියල විස්තර වෙනවා. මේ දොළොස් ආකාර කාය හැර බාහිර තවත් කායක් පනවන්න බෑ. මුළු ලෝකයම මේ තුලට අන්තර්ගත වෙනවා. ලෝකයේ යථාර්ථය දකින්න කියන්නෙ, මේ කායන්ගෙ ඇත්ත ස්වභාවය දැකීමෙන්. සති පට්ඨානයේ කායානුපස්සනාව විදිහට දක්වල තියෙන්නෙ, මේ කායන් අනුපස්සනා කරල ඇත්ත ඇති සේ දකින්න කියල.

මේ ලෝකයට අයිති කායවල් හොඳයි, සාරයි, වටිනවයි කියල දෘෂ්ටි ගත වීම පෘතජ්ජනයාගේ ස්වභාවය. ලෝකයේ ඇති තතු විග්‍රහ වෙන දහම් දෙසුමකින් ලෝකය සත් (හොඳයි) කියල ගන්නා සියල්ල අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් අවබෝධ වෙන කොට කාය සත් කියන දෘෂ්ටිය ගැලවිලා සම්මා දිට්ඨිය පහළ වෙනවා. එතකොට සත්කාය දිට්ඨිය ප්‍රහාණය වෙනවා. මේ විදියට කෙනෙක්ගෙ දෘෂ්ටිය ප්‍රහාණය වුනත්, ලෝකය ප්‍රිය මධුර ස්වභාවයෙන් සත් කියල ගන්න ස්වභාවය සම්පූර්ණයෙන් දුරු වෙන්නෙ නෑ. ඒ පිළිබඳ හැඟීම් පහළ වෙන්න පුළුවන්. නමුත් පෘතජ්ජන මට්ටමෙදි ඇති වෙච්ච වැරදි දෘෂ්ටි පහළ වෙන්නෙ නෑ. දිට්ඨිංච අනුප ගම්ම සීලවා දස්සනේන සම්පන්නෝ කියන දේශනාව අනුව, දෘෂ්ටියකට නොපැමිණ දර්ශන සම්පත්තියෙන් යුක්තව සිල්වතෙක් බවට ඒ පුද්ගලය පත් වෙනවා.

සීල දස්සන සම්පන්නං
ධම්මට්ඨං සච්ච වාදිනං
අත්තනෝ කම්ම කුබ්බානං
තං ජනෝ කුරුතේ පියං
(ධම්ම පදය - පිය වර්ගය 9 ගාථාව)

චතුරාර්ය සත්‍යය තුලින් මූලික ප්‍රඥාව පහළ කර ගත්, දර්ශන සම්පත්තියෙන් යුක්ත ආර්ය සීලයේ පිහිටි තමන්ගෙ කටයුතු නොපිරිහෙලා කරන (අධි සීල, අධි චිත්ත, අධි පඤ්ඤා) ඒ ආර්ය ශ්‍රාවකයාට සත් පුරුෂ ජනයා ප්‍රිය කරනවා. මේ තමයි ගාථාවෙ සරල අර්ථය.

සිත පිළිබඳ, ගත පිළිබඳ ජීව අජීවී සියලු දේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධ 5 ට ඇතුලත් වෙනවා. තථාගතයන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා, ලෝකයේ සැබෑ ස්වරූපය දේශනා කරන්න පෙර හිටපු අය, ආත්මයක් / මමෙක් ඉන්න බව හිතා ගෙන හිටියා. ඒක සාරත්වයෙන්, සදාකාලිකත්වයෙන්, අවිපරිණාමික-ත්වයෙන් යුක්ත බව විස්වාස කළා. ආත්ම දෘෂ්ටිය හෙවත් සාස්වත දෘෂ්ටිය කියල කිව්වෙ මේකට. තවත් අය එහෙම ආත්මයක් නෑ කියල උච්ඡේද දෘෂ්ටියට පත් වුණා. මේ විදිහට ආත්මයක් ඇත කියන සාස්වත දෘෂ්ටිය සහ ආත්මයක් නැත කියන උච්ඡේද දෘෂ්ටියට ලෝකයා රැවටිලා මුලා වෙලා හිටියා. ආත්මවාදීන් මේ සත්කාය දෘෂ්ටිය විසි ආකාරයකට බෙදා ගෙන මමත්වය තුළ ගැලී හිටියා. ඒ විසි ආකාරය හෙළ බොදු පියුම 33 වන කලාපයෙන් පැහැදිලි කරල තියෙනවා.

1. රූපය ආත්මයයි
2. ආත්මය රූපයයි
3. රූපය තුළ ආත්මය ඇත
4. ආත්මය තුළ රූපය ඇත
5. වේදනාව ආත්මයයි
6. ආත්මය වේදනාවයි
7. වේදනාව තුළ ආත්මය ඇත
8. ආත්මය තුළ වේදනාව ඇත
9. සංඥාව ආත්මයයි
10. ආත්මය සංඥාවයි
11. සංඥාව තුළ ආත්මය ඇත
12. ආත්මය තුළ සංඥාව ඇත
13. සංඛාර ආත්මයයි
14. ආත්මය සංඛාරයි
15. සංඛාර තුළ ආත්මය ඇත
16. ආත්මය තුළ සංඛාර ඇත
17. විඤ්ඤාණය ආත්මයයි
18. ආත්මය විඤ්ඤාණයයි
19. විඤ්ඤාණය තුළ ආත්මය ඇත
20. ආත්මය තුළ විඤ්ඤාණය ඇත

මේ විදිහට රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියන, එක ස්කන්ධයක් හතර ආකාරයකින් බෙදිල ස්කන්ධ 5, 20 කට ප්‍රභේද වෙනවා. මේක වීසති විධ සත්කාය දිට්ඨිය කියල හඳුන්වනවා. මේ ආත්මය, මම කියන මුලා දෘෂ්ටියේ ඇත්ත තත්ත්වය පෙන්වා දෙන්න, බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙලා දේශනා කරන තාක් වෙන කිසිම සාස්තෘවරයෙකුට හැකියාවක් නෑ.

මේ ''මම, ආත්මය'' කියල හිතා ගෙන ඉන්නෙ ඒ ඒ මොහොතේ හට ගන්න දෘෂ්ටියක්, අනාදියේ පටන් එන හේතු ඵල ක්‍රියාවලියක් මිසක්, ආත්මයක් කියල අමුතුවෙන් දෙයක් තිබිල නැති බවත්, ඒ ඒ ක්‍රියාවලින් තෝරා ගැනීමේදී ඇති වූ මුලාවක් මිසක් වෙනත් දෙයක් නැති බවත් තථාගත ධර්ම න්‍යායන් තුලින් අවබෝධ කර ගන්නවා හැර, ඒ මුලා දෘෂ්ටියෙන් ගැලවෙන්න වෙන ක්‍රමයක් නෑ.

සෝතාපන්න වෙන කොට ඊළඟට දුරු වෙන සංයෝජනය තමයි විචිකිච්ඡාව. මේකට වර්තමානයේ අර්ථ දක්වල තියෙන්නෙ සැකය කියල. **සෝවාන් වෙලා හිටපු මහානාම ශාක්‍ය කුමාරයා තමන්ට ඇත් හලේදී, අස් හලේදී ඇතිවන ඇලීම් ගැටීම් ගැන කල්පනාවෙද්දී අපායෙ උපදියිද කියලත් සැක ඇති වන බව බුදුන් වහන්සේ ඉදිරියේ ප්‍රකාශ කරල තියෙනවා. සෝවාන් වෙන කොට සැකය දුරු වුනා නම්, මහානාම කුමාරයට අපායෙ උපදියිද කියල සැක ඇති වුනේ කොහොමද ?**

බුද්ධේ කංඛති, ධම්මේ කංඛති, සංඝේ කංඛති ආදී වශයෙන් කාරණා 8 ක් පිළිබඳ කංඛා, පෘතජ්ජනයාට තියෙන බව ධර්මයේ සඳහන් වෙනවා. කංඛා කියන වචනයේ පද බෙදෙන්නෙ ක + අංකා - කංඛා කියල. සම්මත ව්‍යවහාරයේ සමහරෙක්, මම ඕව ගණන් ගන්නෙ නෑ කියල ප්‍රකාශ කරනවා. කංඛා කියන්නෙ අංකයක් දෙන්නෙ නෑ හෙවත් ගණන් ගන්නෙ නෑ කියන එක. බුද්ධේ කංඛති - බුදුන් වහන්සේ ගණන් ගන්නෙ නෑ. ධම්මේ කංඛති - ධර්මය ගණන් ගන්නෙ නෑ. සංඝේ කංඛති - සංඝයා ගණන් ගන්නෙ නෑ. මේ ආදී වශයෙන් දේශනා කරල තියෙන කරුණු ගණන් නොගැනීම කංඛා කියල හැඳින්වෙනවා. මේ විදිහට කංඛා ඇති වෙන කොට විචිකිච්ඡා නීවරණය ඒ පුද්ගලය තුළ නිරායාසයෙන්ම ඇති වෙනවා. බුද්ධාදී 8 තැන ගණන් නොගැනීම ප්‍රකෘතිය නෙවෙයි, විකෘතිය. විකෘති සිතින් කරන කියන සියලු දේ විචිකිච්ඡාවට අයිති වෙනවා.

දස අකුසලය තමයි විකෘතිය. එයින් වෙන්වීම ප්‍රකෘතිය. අනිච්ච, දුක්ඛ, අනත්ත ලෝකය නිච්ච, සුඛ, අත්ත ලෙස ගැනීම විකෘතිය, අනිච්චාදී වශයෙන් දැකීම ප්‍රකෘතිය. මූලික ධර්මාවබෝධය නොලැබූ පෘතජ්ජනයා තුළ මේ විකෘතිය දැඩිව පවතිනවා. සතර අපාගත වෙන්න හේතු වන දැඩි විකෘති කටයුත්තක් නොකිරීම සෝතාපන්නයාගේ ලක්‍ෂණය. සෝවාන් වෙන කොට නැති වෙන විචිකිච්ඡාව ඒකයි.

අභිධර්මයට අනුව අකුසල් සිත් 12 න් මෝහ සිත් 2 ට අයිති උපේක්ඛා සහගත විචිකිච්ඡා සම්ප්‍රයුක්ත සිත, සෝවාන් වෙන කොට නැති වන බව සඳහන් කරල තියෙන්නෙ, අපාගත වීමට හේතු වන විකෘති කටයුතු නැති වී යාම කියල. විකෘතිය දුරු වෙලා ප්‍රකෘතිය ආරම්භ වෙන්න සෝවාන් වීමෙන්. සියලු අකුසල් විකෘතියක්. සියලු පවු බැහැර කරපු රහතන් වහන්සේ (බාහිත පාපී), සියලු විකෘති දුරු කරල සැබෑ ප්‍රකෘතිය තුළ පිහිටල ඉන්නවා.

දිට්ඨි සම්පන්න ආර්ය ශ්‍රාවකයා තුළ නැතිවන තුන් වන සංයෝජනය තමයි සීලබ්බත පරාමාසය. සිල් වතක පිහිටල සත්‍යය අවබෝධ කරන්න බෑ. තථාගතයන් වහන්සේ පහළ වෙන්න පෙර, සත්‍යය සොයා ගිය අය සිදු කළේ සිල් ව්‍රතවල පිහිටල කටයුතු කිරීම. අනිච්ච, දුක්ඛ, අනත්ත ලෝකය මැනවින් තේරුම් ගෙන ධර්මය ධර්මය විදිහට දැකල, අර්ථවත්ව තේරුම් ගෙන ඒ අනුව පිළිපැදල සෝවාන් ආදී මග ඵල සාක්‍ෂාත් කරනව හැර සිල් වතක් පරාමර්සනයෙන් නිවන් දකින්න බැරි බව සෝතාපන්නයාට අවබෝධ වෙන කොට, සීලබ්බත පරාමාස සංයෝජනය ඒ පුද්ගලය තුළින් පහ වෙලා යනවා. මේ විදිහට තුන් සංයෝජනයන් ප්‍රහීණ වීමෙන් ආර්යත්වයට පත් වූ බුද්ධ පුත්‍රයන් ලෝකයට බිහි වෙනවා.

අද සාමකාමී දැහැමි සමාජයක් ඇති කරන්න බොහෝ අය වෙහෙසෙනවා. නමුත් ඒ අයගෙ ක්‍රමෝපායන් සාර්ථක නෑ. මේකට තියෙන එකම විකල්පය සද්ධර්මය සමාජ ගත කරල සෝතාපන්න ආදී ආර්ය උතුමන් බිහි වෙන වට පිටාවක් සකස් කිරීම. ඒ වගේ පිරිසක් ලෝකයට විද්‍යමාන වුනොත් දස අකුසලය අඩු වෙලා, යුධ ගිනි නිවිල, අපරාධ අඩු වෙලා, සාමකාමී සුචරිත සමාජයක් බිහි වෙනවා. ඒකට තියෙන එකම විකල්පය තථාගත ශ්‍රී සද්ධර්මය ලෝකයේ ප්‍රචලිත වීම.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර,**
**පොල්ගහවෙල**

**අභයරතනාලංකාරය - 46**

# පෙර අත්බැවක සහෝදරයාට පහර දුන් විපාකය මේ අත් බැවේ ආ හැටි ....



**- වහරක අභයරතනාලංකාර හිමි**

*(පසුගිය කලාපයෙන් - සසර භයානකත්වය කියා පාමින් අභයරතනාලංකාර හිමියන් පෙර අත්බැව්වල සතර අපාගත වූ හැටි හෙළි කරයි.*

සසර භයානකත්වය කියා පාමින්, පෙර කරපු අකුසල් නිසා අභයරතනාලංකාර හිමියන්ට පෙර අත්බැව්වල සතර අපාගත වෙන්න සිදු වෙච්ච අවස්ථා කිහිපයක් ගැන, උන් වහන්සේ කරපු හෙළිදරව්වක් පසුගිය කලාපයෙන් ඉදිරිපත් කළා. පිට පිටම මී හරක් අත්බැව් 4 ක් ලබල, ඒ හතරෙන් අවසාන අත්බැවේ ගෞතම බුදුන් වහන්සේ කෙරෙහි ඇති වූ චිත්ත ප්‍රසාදයකින් මී හරක් අත්බැවින් චුත වෙලා, මනුස්සයෙක් විදිහට උපත ලබල අවුරුදු 28 දි නැවතත් උන් වහන්සේගෙන්ම බණ අහපු අවස්ථාවක් ගැනත් එහිදී සඳහන් කළා. ඒ වගේ සතර අපාගත වීමක් ගැන නොවුනත්, උන් වහන්සේ ගෞතම බුදුන් වහන්සේගෙන් බණ අහපු අත්බැවේදි රජ කුලයක ඉපදිලා සිය බාල සහෝදරයාට පහර දීමේ විපාකයක් නිසා, මේ අත්බැවේ දුක් විඳින්න සිද්ධ වෙච්ච අවස්ථාවක් ගැනත් උන් වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා.

මේ සිද්ධිය සිද්ධ වුනේ මනුස්සයෙක් විදිහට ඉපදිලා ගෞතම බුදුන් වහන්සේගෙන් බණ ඇහුවයි කියපු අත්බැවේදිමයි. ඒ අත්බැවේ එක්තරා රජ කුලයක තමයි ඉපදුනේ. ඒ කියන්නෙ මීට අවුරුදු 2500 කටත් එහා. එතකොට මමත් එක්ක ඒ පවුලෙ දරුවො දහ දෙනෙක් හිටියා. මම තමයි වැඩිමලා. මට තවත් බාල සහෝදරයො නව දෙනෙක් හිටියා. පියාගෙන් පස්සෙ රජකම උරුම වෙන්න තිබුනෙ පවුලෙ ජ්‍යෙෂ්ඨයා විදිහට මට. ඉතින් රජකමක් ලබන්න ඒ කාලෙ යම් කිසි සටන් ශිල්ප ඉගෙන ගෙන තියෙන්න ඕන. ඒවා ඒ කාලෙ අනිවාර්යයි. ඒ නිසා ඒ කාලෙ තිබ්බ්ච අංගම්පොර ආදී සටන් ශිල්පත් මම ඉගෙන ගෙන තිබුණා. රජකම බාර ගන්න කල්, කාලයක් පිය රජතුමා වෙනුවට යුව රජු විදියට රජතුමාගෙ ප්‍රධානත්වයෙන් මම තමයි ඒ රාජ්‍යයේ වැඩ බැලීම් කළේ. හැබැයි මේ රජකමක් ගැන කියන්නෙ ලොකුකමක් ගන්න නෙවෙයි, මේ කර්ම විපාකයේ මුල ආපු හැටි හෙළි කරන්න තමයි මේ කතාව කියන්නෙ.

ඉතින් ඔහොම ඉන්න කොට දවසක් පවුලෙ බාල සහෝදරයෙක් හිටි ගමන් ආගිය අතක් නැතිව ගියා. ඒ කියන්නෙ අපට දනුම් නොදී කොහේ හරි ගිහින්. නමුත් ඒ කාලෙ තිබ්බ්ච නීතිය අනුව රජ කුලේ කෙනෙකුට එහෙම ආවට ගියාට ගමන් බිමන් යන්න අයිතියක් නෑ. සාමාන්‍ය අයට වගේ හිතුමතේ යන්න අයිතියක් නෑ. එහෙම යනව කියන්නෙ රාජ නීතියට සම්පූර්ණයෙන්ම විරුද්ධයි. ඒ නිසා සම්පූර්ණයෙන්ම දනුවත් කරල, දනුම් තේරුම් ඇතිව ආරක්ෂා සංවිධාන ඇතිවයි යන්න ඕන. ඉතින් ඒ සහෝදරය මේ විදිහට නොදන්වා ගියාට පස්සෙ මට ලොකු චෝදනාවක් ආවා, තමන්ගෙ සහෝදරයවත් බලාගන්න බැරි කෙනෙක් කොහොමද රාජ්‍යයක පාලනය බාර ගන්නෙ කියල. ඒ නිසා මමත් කලබල වෙලා හැම තැනම හෙව්වා. ඔහොම ඉන්න කොට ඔහු වරුවකින් විතර ගෙදර ආවා.

දන් මේ සිද්ධියෙන් මට ආපු පීඩනය නිසා, ඔහු ගෙදර ආපු ගමන්ම ප්‍රශ්න කරන්නෙ නැතිව මම ඔහුට ගැහුවා. ගැහුවෙ නිකම්ම නෙවෙයි. අර ඒ කාලෙ හදාරල තිබ්බ්ච සටන් ශිල්පවලට අනුව. අත පය පාවිච්චි කරල එක සැරෙන්ම පහරවල් 3 ක් ශරීරයේ ස්ථාන 3 කට එල්ල කරන ක්‍රමයක් ඒ කාලෙ තිබුණා. වම් කකුලෙන් පහරක් දණ හිසට පහලින් වදින්න ගහනවා. වම් අතින් තව පහරක් යටි බඩට ගහනවා. ඊළඟ පහර දකුණු අතින් කනට ගහනවා. ඔය විදිහට හේතු විමසන්නෙ නැතිව ආපු ගමන්ම තුන් පොළට එක පහරින්ම ගැහුවා. ගැහුවට පස්සෙ තමයි ඔහු කිව්වෙ, බණ අහන්න බුදුන් වහන්සේ හමු වෙන්න ගියා කියල. එතකොට බණ අහන්න ගියපු නිසා ගැහුව නෙවෙයි, හතුරෙකුට ගහන්න වගේ තරහකට ගැහුවත් නෙවෙයි, නොකිය ගියපු වරදටයි ගැහුවෙ. නමුත් බණ අහන්න ගියා කියල දන ගත්තෙ ගැහුවට පස්සෙ. දන් ඉතින් වැදගත් දේකටනෙ ගිහින් තියෙන්නෙ. ඉතින් මල්ලි වුනත් එහෙම කෙනෙකුටනෙ මම මේ ගහල තියෙන්නෙ කියල මට විසාල සංවේගයක් ඇති වුණා. මොකද බුදුන් වහන්සේගෙන් බණ අහන්න ගියා නම් සෝවාන් ඵලයටවත් පත්වෙලා තමයි එන්නෙ.

ඉතින් ඒ වෙලාවෙදි ඇති වෙච්ච ඒ සංවේගයට එවෙලෙම මල්ලිගෙන් කමාවත් අරගෙන, වහාම ගෞතම බුදුන් වහන්සේ මුණ ගැහෙන්න ගිහින්, මගෙන් මෙහෙම වරදක් වුණා කියල වැඳල භය වතාවක් කමාව ගත්තා. ඒ සිද්ධිය ඉතින් එතනින් ඉවරයි. ඔය අවුරුදු 2500 කටත් පෙර වෙච්ච සිද්ධියක්. කාලයත් එක්ක ඔහොම ගිහින් තවත් අත්බැව් ගණනාවක් පහු කර ගෙන ඇවිත්, මේ අත්බැවෙත් ඒකෙ දරුණු විපාකයන්ට මට මුහුණ දෙන්න සිද්ධ වුණා. හරියටම අර මල්ලිට ගහපු තුන් පොළට අනුරූපව මගේ ශරීරයෙත් තුන් පොළක් දරුණු පීඩාවකට ලක් වුණා. ඒක සිද්ධ වෙන්න පටන් ගත්තෙ මීට අවුරුදු 6 - 7 කට පමණ උඩදි. ඒ කියන්නෙ 2008 - 2009 වගේ අවුරුදුවල. ඉතින් මම හිටි ගමන් අසනීප වුණා. කනේ සහ හිසේ කැක්කුමකින් තමයි පටන් ගත්තෙ. වෙසක් පෝය දවසෙ වහරක පන්සලේ සාසනික කටයුතු සිද්ධ කරන අතරෙ තමයි ඒ අසනීපය ඉස්සෙල්ලම පටන් ගත්තෙ. ඊට පස්සෙ දන්න කියන නොයෙක් ප්‍රතිකාර කළා. ඒත් හරි ගියේ නෑ.

☞

අන්තිමට ගිහි කාලෙ මම සාසනික කටයුතු කර ගෙන හිටපු, පොල්ගහවෙල ප්‍රදේශයේ කන්දක් උඩ තියෙන ගල් ලෙනක නිදහස්ව ඉඳගෙන වැඩ කටයුතු ටික කර ගන්න බැලුවා. ඒ අතරතුර මම දන්න ගුප්ත ප්‍රතිකාරත් කළා. ඒත් හරි ගියේ නෑ. එන්න එන්නම තත්ත්වය දරුණු වුනා. එතකොට මගේ වටේ හිටපු පින්වත් පිරිස හත් අට දෙනෙක් විතර එකතු වෙලා මාව රෝහල් ගත කළා. ඊට පස්සෙ මට බෙත් විදල තියෙනවා, මම දන්නෙත් නෑ. එතකොට අමාරුව ටිකක් අඩු වුනා. එදා රෑ රෝහලේදී ධර්ම සාකච්ඡාවකුත් කළා.

ඊට පස්සෙ නැවතත් උණ වැඩි වෙලා ඒත් එක්කම තද බල කනේ අමාරුවකුත් ආවා. වෛද්‍යවරු පරීක්‍ෂා කරල බලල කිව්වා, කනට විස බීජයක් ඇතුල් වෙලා, දැන්ම සැත්කමක් නොකළොත් මොළේට ගිහින් ලෙඩා මැරෙයි කියල. ඒ නිසා කොළඹ පහසුකම් තියෙන රෝහලකට ගෙනිහින් ඒ සැත්කම කරගන්න කියලත් කිව්වා. ඔහොම ගිහින් කොහොම හරි වෛද්‍යවරු කියපු විදිහට ඒ අවදානම පැය ගණනටම බැස්සා. ඒ කියන්නෙ පැය ගණනක් ඇතුලත සැත්කමක් නොකළොත් ගොඩ ගන්න බෑ කියල තමයි ඒ අය කිව්වෙ. ඒත් මම දැන ගත්තා කනේ අමාරුව ආවට, කනේ නෙවෙයි මේ ප්‍රශ්නය තියෙන්නෙ, මූලාධාර චක්‍රත් එක්ක තියෙන යටි බඩේ හිර වෙච්ච අපද්‍රව්‍යයකින් කියල. ඒ කාරණය මට හොඳට සමාධියටත් ගෝචර වුණා. ඒකම තමයි කනටත් බලපාල තිබුණෙ. නමුත් ඉතින් ඒ කාරණය වෛද්‍යවරුන්ට පේන්නෙ නැති නිසා ඒ අය ඒක කිව්වට පිළිගත්තෙ නෑ. ඉතින් මට වෙන කරන්න දෙයක් තිබුනෙත් නැති නිසා, ඕන දෙයක් වෙච්චාවෙ කියල ඒ සැත්කමට මම කැමැත්ත දුන්නා. කොළඹ එක්තරා පෞද්ගලික රෝහලකදී පින්වත් පිරිස් විසාල මුදලකුත් එකතු කරල ඒ සැත්කම සිද්ධ කළා. නමුත් අන්තිමට හොඳට ඇහිච්ච කනත් මුකුත්ම ඇහෙන්නෙ නැති තත්ත්වයට පත් වුණා. ඒ කියන්නෙ සැත්කමේදී ඒ කනේ ස්නායුවක් කැපිල ගිහින් වෙන්න ඇති. ඒකෙන් ලෙඩේ සනීප වුනෙත් නෑ. අදටත් ඒ මස් ලේ කනින් මුකුත්ම ඇහෙන්නෙ නෑ. හැබැයි ගුප්ත ලෝකයේ සිද්ධ වෙන දේවල් නම් හොඳට ඇහෙනවා.

ඊළඟට ඔහොම ගිහින් කනේ අමාරුව හොඳ වුනාට පස්සෙ නැවතත් කන්දෙ ගල් ලෙනට වැඩියා. ඊට පස්සෙ ටික දවසක් ඉන්න කොට කකුලෙ අමාරුවක් ආවා. ඒකෙන් තත්ත්වය තවත් දරුණු වුණා. ඇවිද ගන්නත් බැරි තරමට කකුල මහත් වුනා, වම් කකුලෙ ඉදිමුමක් ආවා. එක අවස්ථාවක ඉදිමුම වැඩි වෙලා කැක්කුමත් ක්‍රමයෙන් වැඩි වුනා. ඔය අතරෙ ඔළුවෙ කැක්කුමකුත් ආවා. මීට පෙර කවදාවත් ඒ වගේ තදබල ඔළුවෙ කැක්කුමක් ඇවිත් නෑ. ඉවසගන්න බැරි තැන මම එතන හිටපු දායක මහත්තයෙකුට කිව්වා, ඔළුව අත ගාන්න කියල. ඒ වෙලාවෙ තවත් බොහොමයක් අද්භූත දේවල් සිද්ධ වුනා. කොහොම හරි සැරින් සැරේ කැක්කුම වැඩිවෙන්න ගත්තා. ඒ අතර ලොකු බඩේ අමාරුවකුත් ආවා. ඒත් මම කර්මස්ථාන වැඩුවා. අන්තිමට වේදනාව වැඩිකමට උහුලගන්න බැරිව ගියා. ඊට පස්සෙ මුකුත් දැනෙන්නෙ නැතිව ගියා. එහෙම දැනීමක් නැතිව මම



වැසිකිළියටත් ගිහින් තිබුනා. බඩ හුඟක් පුරෝදාලා තිබුනා. පස්සෙ එතන හිටපු පින්වත් පිරිස තමයි මාව සුද්ධ පවිත්‍ර කරල තිබුනෙ. ඊට පස්සෙ මම එළියෙ පැදුරක බුදියගත්ත මතකයි. එහෙම ඉඳල වේදනාව වැඩිකමට කර්මස්ථාන වඩ වඩා හිටියා.

ඔය අතරෙ දවසක් මහ රෑ මට අමාරු වෙලා එතන හිටපු පින්වත් පිරිස දෝලාවක් වගේ එකක් හදල මාව කන්දෙන් පහළට ගෙනාවා. අන්තිමට කළුබෝවිල රෝහලට ඇතුලත් කළා. එහේදීත් සති ගණන් විවිධ ප්‍රතිකාර කළා. ඒත් පුදුම දුකක් වින්දා. සනීප වුනෙත් නෑ. එතනදී වෛද්‍යවරු තීරණය කළා, කකුල සැත්කමකට භාජනය කරල ඇතුලෙ අපද්‍රව්‍ය ඉවත් කරන්න ඕන කියල. සැත්කම කරල ඉවර වුනාට පස්සෙ දවසක් කකුලෙ තුවාලෙ සුද්ධ කරන්න එක්ක ගෙන ගියා. ඉතින් සාමාන්‍යයෙන් මේ වගේ දරුණු අවස්ථාවකදි එක්කො සිහි නැති කරනවා, එහෙම නැත්නම් කකුල හිරි වට්ටනවා. නමුත් මගේ කර්ම විපාකයේ බලවත් වැඩිකමට ඒ එකක්වත් නොකර නිකං අමුවෙන්ම කකුලෙ තුවාලෙ සුද්ධ කරන්න පටන් ගත්තා. ඒ ඇති වෙච්ච කායික වේදනාව මට දරාගන්නම බැරි වුණා. මාව මරපියෝ, මට සයනයිඩ් දීපියෝ, මට වෙඩි තියපියෝ කියල අන්තිමේදි වාට්ටුව දෙවනත් වෙන්න මට කෑ ගැහුණා. කෑ ගැහුව නෙවෙයි, වේදනාව වැඩි කමට ඉබේටම කෑ ගැහුණා. ඒ කාලෙ උතුරු නැගෙනහිර යුද්දෙදි තුවාල වෙච්ච හමුදා සෙබළුත් ඒ රෝහලේ නතර වෙලා හිටියා. ඒ අයත් පුදුම වෙලා බැලුවා, ඇයි මේ හාමුදුරු නමක් මේ විදිහට කෑ ගහන්නෙ කියල. එතන හිටපු හෙද නෝනා කෙනෙකුත් මගෙන් ඇහුවා, හාමුදුරුවනේ ඔහොම කෑ ගහන්න ලැජ්ජ නැද්ද කියල. ඉතින් මට ඇති වෙච්ච වේදනාව ඒ අය දන්නෙ නෑ. ඒක මම විතරයි දන්නෙ. සාමාන්‍ය කෙනෙකුට එහෙම ලේසියෙන් දරා ගන්න පුළුවන් වේදනාවක් නෙවෙයි.

කොහොම හරි ඒ සැත්කම කරල ඉවර වුනාට පස්සෙ කකුල බිම තියන්න බැරිව ගියා. මොකද ඇතුල ඔක්කොම කපල නිකං කුහරයක් විතරයි තිබුණෙ. හරියට උණ බම්බුවක් වගේ. අන්තිමට රෝද පුටුවෙ ඉඳන් තමයි ඔක්කොම කර ගන්න වුනේ. වැසිකිලි කැසිකිලි ගියෙත් රෝද පුටුවෙ ඉඳගෙනමයි. ලෙඩ වෙච්ච මුල් කාලෙ මම ඉතින් සමාධියට යොමු කරල බැලුවා, මේ මොන වගේ තත්ත්වයක්ද කියල. එතකොටත් එක්තරා සිද්ධියක් සමාධියට දර්ශනය වුනා. අන්තිමට ඒ සැත්කමෙන් පස්සෙ හුඟක් අමාරු වෙලා ලෙඩ ඇඳේ ඉන්න කොට තමයි සමාධියට යොමු කරල බැලුවෙ, මට මේ වගේ දරුණු විපාකයකට මුහුණ දෙන්න සිද්ධ වුනේ ඇයි කියල. එතකොට තමයි අර විදිහට බුදුන් වහන්සේගෙන් බණ අහන්න ගියපු සහෝදරයට ගහපු සිද්ධියේ වැඩි විස්තරත් එක්ක ඒ අතීත කතාව ගෙතිල ආවෙ.

එදා මම වටා හිටපු පිරිස් මේ සිද්ධියත් එක්ක නොයෙක් සාස්තර කියන තැන්වලින්, හඳහන් බලන තැන්වලින් මම ගැන තොරතුරු අහල තිබුණා. ඒ බොහොමයක් තැන්වලින් කියවුනේ, තව වැඩිකල් ජීවත් වෙන්න බෑ, මාස කීපයක් ඇතුළත අපවත් වෙනව කියල. සමහර වෛද්‍යවරුන්ගෙ නිගමනය වුනෙත් සැත්කමකට භාජනය නොකළොත් එහෙම තත්ත්වයක් උදා වෙයි කියල. නමුත් ඊට වඩා බුද්ධ ශක්තිය ගැන විශ්වාසයක්

මට තිබුණා. හැබැයි යම් කිසි විදියකින් අපවත් වුනොත්, නැවත මනුස්ස ලෝකෙ උප්පත්තියට එන්නෙ නෑ කියලත් මම දැනගෙන හිටියා. අන්තිමට ඒ කරපු සමහර සැත්කම්වලින් නම් කිසිම වැඩක් වුනේ නෑ. තවත් අතුරු ආබාධ ඇවිත් දුක් වින්ද එක විතරයි වුණේ. නමුත් මම ඒ අයට දොස් කියනව නෙවෙයි, මගේ කර්ම විපාකය බලවත් වැඩිකමට, ඒ විපාක දෙන්න තිබ්බ නිසාම ඒ අයටත් එහෙම නිගමනවලට එන්න සිද්ධ වුණා, හරියට ලෙඩේ අල්ල ගන්න බැරි වුනා. ඉතින් ඔහොම ගිහින් කාලයක් තිබිල මේ ළඟදි නැවතත් අර කනේ අමාරුව පටන් ගත්තා. එදා ඒ කන සැත්කමකට භාජනය කරපු වෙලාවෙ, හඳහන් බලන මහත්තයෙක් කිව්වා, මේ සැත්කමෙන් පස්සෙ වේදනා විඳින්න තවත් සැත්කම් 2 ක් එයි කියල. දැනටත් ඒ කන කැක්කුම් අල්ලල තියෙන්නෙ.

ඉතින් බලන්න හේතුඵල දහම ඔප්පු වෙන හැටි. අර එදා සහෝදරයට පහර දීපු තුන් පොළට අනුරූප මගේ ශරීරයෙත් ඒ ස්ථානම තමයි ඒ විදිහට විපාකයන්ට ගොදුරු වුනේ. කනට ගහපු විපාකයට කන සැත්කමකට භාජනය කරල ඇහෙන්නෙම නැතිව ගියා. යටි බඩට ගහපු එකේ විපාකයට දරුණු බඩේ අමාරුවක් ආවා. කකුලට ගහපු විපාකයට කකුලෙ අමාරුවක් ඇවිත් සැත්කමක් කරල දරුණු කායික වේදනාවන් විඳින්න සිද්ධ වුණා. අන්තිමට එහෙම ගිහින් වකුගඩු අමාරුවත් උත්සන්න වෙලා තවත් සැත්කම් කිහිපයක්ම කරන්න වුනා. අදටත් ඒ විපාකවල ශේෂ මාත්‍ර තියෙනවා.

ඉතින් මේ කාරණා ටික කිව්වෙ, අපි නොදැනුවත්වම කරන අකුසල් නිසා විපාක එන කොට විඳවන්න ගියාම ලේසි නෑ කියන එක පෙන්වන්න. රජකම් කළත් කළ කම් ඵල දෙනවයි කියන කාරණයත් මේකෙන් ඔප්පු වෙනවා. අදත් සමාජයේ ජීවත් වෙන අය මේ වගේ දේවල් ගැන දන්නෙ නැතිව අනුන්ට පහර දෙනවා, හිංසා කරනවා. නමුත් ඒ අය දන්නෙ නෑ ඒකට ගෝචර වෙන උදවිය මොන විදියෙ ගුණ පුරාගෙන යන අයද කියල. මොකද ඒක පිටින් බලල කියන්න බෑ. ඉතින් ඔය අතරෙ අර වගේ ගුණ වඩපු උත්තමයෙක්, එහෙම නැත්නම් මොනව හරි ලෝකෝත්තර පැතුමක් පුරාගෙන යන කෙනෙක් ඒ තත්ත්වයට ගෝචර වුනොත්, කවද හරි ඒකෙ විපාකය විඳවන්න වෙන්නෙ දෙගුණ තෙගුණ වෙලා.



එදා එක කුසේ උපන් මල්ලි වුනත්, මගේ අතින් පහර කෑමට ලක් වුණේ බුදුන් වහන්සේගෙන් බණ අහපු විශේෂ කෙනෙක්. ඒ වෙච්ච වරදට මම එදා සාසන කමාවත් අරගෙන, අද මට මේ වගේ දරුණු විපාක අවස්ථාවකට මුහුණ දෙන්න සිද්ධ වුණා. කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි ඒ වරදට බුදුන් වහන්සේගෙන් සාසන කමාව අරගෙනත්, අවුරුදු දෙදහස් පන්සිය ගණනකට පස්සෙත් මේ වගේ දරුණු විපාකයක් ආවෙ කියල. ඒ කාරණය උදාහරණයකින් පහදන්න පුළුවන්. සුදු රෙද්දකට යම් කිසි තද කහට පහරක් වැදුනොත්, ඒක කොච්චර ඉවත් කළත් පැල්ලම් හිටිනව වගේ දෙයක් තමයි මෙතනදි සිද්ධ වෙන්නෙ. ඒ කියන්නෙ ඒ පැල්ලම් ශේෂ මාත්‍රයක් හරි හිටිනව වගේ, කොච්චර කමා කළත් විපාකය මාත්‍රයක් හරි එනවා. ඉතින් ශේෂ මාත්‍රයත් එහෙම විපාක දුන්න නම්, කමාව නොගෙන හිටිය නම් මොන වගේ තත්ත්වයක් උදා වෙයිද ? ඒ නිසා ඒ අත්දැකීමත් එක්ක මට කියන්න තියෙන්නෙ, මේ ලෝකෙ ඉන්න කිසිම සත්වයෙකුට මේ වගේ වැරදීම් නොවේවා කියල. මේ සංසාර ගමනෙදි අපි දහම් අවබෝධ නොකර, තවදුරටත් මේ විදිහට ගියොත් ඔය වගේ තත්ත්වයන්ට තව කොච්චර නම් මුහුණ දෙන්න වෙයිද කියල අපි දන්නෙ නෑ. එහෙම වුනොත් නොදැනුවත්කමින් කර ගන්න අකුසල්වලට අනන්ත දුක් විඳින තත්ත්වයන්ට මුහුණ දෙන්න වෙන අපායවල්වල ගිහින් උපදින්නත් පුළුවන්. එහෙම නැත්නම් දහම් අවබෝධය ලැබුවත්, මේ වගේ ප්‍රවෘත්ති විපාක වශයෙන් ඇවිත් විඳවන්න සිද්ධ වෙන්න පුළුවන්. ඒ නිසා බුද්ධෝත්පාද කාලයක, ගෞතම බුද්ධ සාසනයේ තවමත් නිවන් දකින දහම විද්‍යමාන වෙන කාලයක, ඒ බණ පදයක් අහල ඒ මග අනුගමනය කරල, මේ මහා භයානක සසරින් එතෙර වෙන්න අධිෂ්ඨාන කරගන්න කියන පණිවිඩය තමයි මට දැනුම් දෙන්න තියෙන්නෙ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කල් ගත වූ තුවාල, දද, කුෂ්ට ආදියට ප්‍රත්‍යක්ෂ ඔසුවක් ....

වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බේත් සමාධියට හසු කර ගත් තවත් ඖෂධ ප්‍රතිකාරයක් තමයි මේ හඳුන්වා දෙන්නෙ. මේ ඖෂධය කල් ගිය තුවාල, දියවැඩියා තුවාල, දද, කුෂ්ට, සර්පයන් දෂ්ට කිරීමෙන් හට ගත් තුවාල ආදියට ඉතා ප්‍රත්‍යක්ෂයි. මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට යොදා ගන්නෙ කලාඳුරු අල, පිරිසිදු රත් හඳුන් සහ නික කොළ. පළමුවෙන්ම කලාඳුරු අල හොඳට හෝදල වේලල අරගෙන කුඩු කර ගන්න ඕන. ඊට පස්සෙ රත් හඳුන් කුඩු සමග කලාඳුරු අල කුඩු සම සමව අරගෙන, ඒ දෙකම නික කොළ ඉස්මෙන් අඹර ගෙන තලපයක් වගේ හදා ගන්න ඕන. මේක තමයි තුවාලවල ආලේප කරන්නෙ. මේ බේත ගල්වල පැය 12 ක් විතර තියෙන්න ඇරල, මඳ රස්නෙ තියෙන උණු වතුරින් හෝදල ඉවත් කරන්න ඕන. සාමාන්‍යයෙන් දින 3 ක් විතර යන කොට තුවාල සුව අතට හැරෙන්න ගන්නවා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# දම් දීපයේ හෙට දවස

*(පසුගිය කලාපයෙන් - සොබා දහමේ පැවැත්මට ලෝ වැසියන්ගේ ගති ගුණ බලපාන හැටි..)*

මුහුදු ජලය උපමා කරගෙන බැලුවොත්, යම් කිසි රැල්ලක් නැග්ගොත් බහිනවා, බැස්සොත් නගිනවා වගේ ක්‍රමයක් රටේ ලෝකයෙත්, මනුස්සයින් අතරත් තියෙනවා. ලංකාව සම්බන්ධයෙන් බැලුවත් කාලයක්ම බැහැගෙන ගියපු ස්වභාවයක් තමයි තිබුණෙ. දැන් එක දිගට බැහැගෙන ගිහින් මනුස්සයාට ඊළඟ ප්‍රශ්නයට පිළිතුරු දෙන්න බැරි තත්ත්වයටම පත්වෙලා ඉවරයි. ඒ වගේ අවස්ථාවක් තමයි දැන් ගොඩනැගිල තියෙන්නෙ. මේ නිසා පොදුවේ ගත්තම මනුස්සයින් අතර මානසික පරිවර්තනයක් ඊළඟට සිද්ධ විය යුතුයි. මනුස්සයා මොන දේකට හෝ යොමු වුණාම, ඒකෙන් ප්‍රයෝජන අරගෙන තව දුරටත් ප්‍රයෝජන ගන්න බැරි තත්ත්වයට පත් වුණාම, ඊට පස්සෙ තමයි පරිවර්තනයක් බලාපොරොත්තු වෙන්නෙ. ඒ වගේ අද වෙන කොටත්, මුල් කාලයේ ඉඳන් ඇවිත්, ක්‍රමයෙන් ජීවන වියදම වැඩි වෙලා, නොයෙක් වසංගත රෝගාබාධයන් වැඩි වෙලා, භවබෝග සම්පත් විනාස වෙලා, ගුණ ධර්ම පිරිහිලා, එකිනෙකා ඇන කොටා ගන්න තත්ත්වයට පත් වෙලා .... මේ ආදී ඔක්කොම වෙලා, අන්තිම වෙන කොට යහපත් පරිවර්තනයකට මුහුණ දෙන අවස්ථාවක් තමයි දැන් ඇවිත් තියෙන්නෙ. ඒ වගේම ඊට අනුකූල වන්නාවූ පරිවර්තනයකට තමයි පුද්ගලයා ක්‍රමයෙන් දැන් නැඹුරු වේගෙන එන්නෙ.

හැබැයි දැනට තියෙන ක්‍රමවේදවලින් එන දත්තයන්ගෙන් ඒ දේ කරන්න බෑ. ඒ වගේ අවස්ථාවකට තමයි දැන් බැහැල තියෙන්නෙ. ඒ තත්ත්වයන් යටතේ මනුස්සයා ආදායම් ගන්න විකුණන භාණ්ඩයක මිල තවත් අඩු කරන්න බෑ. අඩු කළොත් එහෙම, කරගන්න බැරි තත්ත්වයක් උදා වෙනවා. දැන් ඉතින් නැවතත් ඒක සමතුලිත වන ක්‍රමයක් එන්න ඕන. මෙච්චර කල් ගෙනාපු ක්‍රම රටාව තුළ යන්න තියෙන ප්‍රමාණය ගිහින් ඉවරයි. ගොවිතැන් කරන්න ගිහින් හොඳට සශ්‍රීකත්වයට තිබ්බ පොළවට, ඊට වැඩි අස්වැන්නක් ගන්න කියල කෘමි නාශක, වල්නාශක, රසායන පොහොර දැම්මා. ඒකෙන් සත්තු මැරිල ගියා. ඊට පස්සෙ අර ලැබෙන්න තිබ්බ ආදායම් ක්‍රමය නැති වෙලා ගියා. දැන් ඉතින් ගැඩවිලුන්, සමනලුන් .... ආදී සතුන් අර විසට මැරිල ගිහින් හොයා ගන්නත් අමාරුයි. පෙර තිබ්බ ඒ යහපත් තත්ත්වයෙන් ප්‍රයෝජන ගන්න පුළුවන් මට්ටම තියෙන කොට, බාගෙන කන වල ඉහගෙන කනව වගේ ක්‍රමයක් ඇති කළා. අන්තිමට බලන කොට පොළවෙ රොන් මඩ පොහොර නෑ, නිකං වැලි පුවරු විතරයි ඉතිරි වෙලා තියෙන්නෙ. දැන් අර විස කෘෂි රසායන බෙහෙත්වලිනුත් ප්‍රයෝජන ගන්න බැරි තත්ත්වයක් තමයි තියෙන්නෙ. මොකද හේතුව කෘමි නාශක, වල් නාශක ගැහුවම ඊටත් වඩා ප්‍රතිශක්තිය තියෙන කෘමියෙක්, වල් පැලෑටියක් ආවා. ඒක නවත්වන්න ඊටත් වඩා බලවත් එකක් ගෙනාවා. දැන් තවත් එකක් ගෙනාවොත් මනුස්සයත් මැරෙන මට්ටමට ඇවිත් තියෙන්නෙ. එච්චරටම විස වැඩි වෙලා.



මේ විදියට සීමාව ඉක්මවල වස විස භාවිතා කිරීම නිසාත් හේතු ඵල වශයෙන් මී උණ, චිකන්ගුන්යා, සූකර උණ ... ආදී අලුත්ම වර්ගයේ වසංගත එන්න හේතු වෙනවා. දැන් මැරෙන්නෙ නැතිව ජීවත් වෙන ගානට විතරක් වස විස කැවිල තියෙන්නෙ. ඒ නිසා ඒ ප්‍රතිකාරය තව දුරටත් යොදා ගන්න බෑ. දැන් අපට හිතන්න වෙලා තියෙනවා, අපි ඊළඟට මොකක්ද කරන්නෙ කියල. වෙනත් පරිවර්තන රටාවකට අවධානය යොමු කරන්නයි දැන් සිද්ධ වෙලා තියෙන්නෙ. මීට පෙර මොනවද කරල තිබුණෙ ? මොකක්ද ඒ ක්‍රම රටාව ? ඒ ක්‍රම රටාවෙන් කොහොමද අපි සශ්‍රීකත්වය ලැබුවෙ ? .... මේ ආදී වශයෙන් දැන් විසාල අවුල් ජාලයක පැටලිලා ඉන්නෙ. වෙන ක්‍රමයක් අහුවෙලත් නෑ. මේ ක්‍රමය තුළින් තව දුරට යන්නත් බෑ. මේ නිසා ආදී බොදු සමාජයේ තිබ්බ හොඳ පැත්තක් ඇත්ද, ඒ පැත්තට යන්න වෙනවා. එතැනට ගියාම තමයි නැවතත් සහනයක් ලැබෙන්නෙ. මේ කාරණාවන් ටික ධර්මය තුළින් දැකගත යුතුයි. නමුත් ඒකෙ වටිනාකම දැක ගන්න විදියක් නැතිව තිබුණෙ. මොකද ඒ වටිනා දහම් මග මේ වෙන කොට සැඟව ගිහින් තියෙන නිසා ඒ ධර්මයේ ගුප්ත පැත්ත විස්වාස කරන්නෙත් නෑ. එහෙම න්‍යාය ධර්මයක් තියෙනව කියල, කියල දෙන්න කෙනෙකුත් නෑ. මේ නිසා ඒ පිළිබඳව යොමු වෙන්න දන්නෙ නැතිව හිටියෙ. නමුත් කවුරු හරි අධ්‍යාත්මය දියුණු කරපු, ඒ ක්‍රම රටාව දැනගත් පුද්ගලයෙක් කියල දුන්නොත්, මනුස්සයින් ඒ ගැන විස්වාස කරල ඒ පැත්තට නැඹුරු වෙලා යහපත් ගුණ ධර්ම වඩන්න පටන් ගන්නවා. එතනදිත් ප්‍රයෝග සම්පත්තියෙන් පටන් ගත්තම, ගති සම්පත්තිය මතු වෙලා කාල සම්පත්තිය එනකොට තමයි නැවතත් හරියන්නෙ. ඊට පස්සෙ තමයි සශ්‍රීකත්වය ඇති වෙලා උපධි සම්පත්තිය මතුවෙන්නෙ.

කොහොම නමුත් මෙච්චර කාලයක් තිබ්බ මහා ගින්නක් ක්‍රමානුකූලව ඇවිලිලා ගිහින්, නැවතත් ක්‍රමානුකූලව නිවිල ගිහින් දැන් සිසිල් ජලාසයක් ඉදිරියට මතුවේගෙන එන ස්වභාවයක් තමයි තියෙන්නෙ. මුහුදු රැල්ලෙ උපමාව තමයි නැවතත් යොදා ගන්න වෙන්නෙ. ධර්මයේ මහා නැගිටීමක් සමගමයි ඒක සිද්ධ වෙන්නෙ. ඒ සඳහා දැනටමත් ආරම්භය ලැබිල තියෙන්නෙ. ඒ ක්‍රමයට නැගෙන ශාන්තිය තමයි ඉදිරියේදී මුළු විශ්වයටම විහිදෙන්නෙ. ඒකෙන් සමාජය යහපත් පැත්තට ගොඩ නැගෙනවා. මෙච්චර කාලයක් තිබ්බ මහා ගින්න නිවීමේ ප්‍රතිඵල භුක්ති විඳින්න නම්, රටේ සමාජයේ සාමකාමී තත්ත්වයක් ඇති වෙන්න ඕන. අධික ලෝභය, ද්වේෂය කියන දෙක තමයි මේ විනාසයට මුල් වුණේ. ඒ දෙක සමනය වුණා නම්, ඒ සඳහා ගිය සියලු අමතර වියදම් ඉවරයි. ඊට පස්සෙ සියල්ලෙන්ම සශ්‍රීකත්වයට ☞

මග පෑදෙනවා.

මෙතනදි තමයි මීට පෙර පෙන්වා දුන් පරිදි, රාජ්‍ය නායකයන්ගෙ පහල වීම වැදගත් වෙන්නෙ. **යම් කිසි රටක රාජ්‍ය නායකයින්ගෙ පුණ්‍ය ශක්තිය වැඩෙනව නම්, ඒ ශක්තිය රට වැසියාට සාමය යහපත අභිවෘද්ධිය උදා කරල දෙන්න හේතු වෙන බව බුද්ධ දේශනාවෙ පෙන්වා තියෙනවා.** යම් කිසි රාජ්‍ය නායකයෙක්ගෙ පහල වීමට, පෙර සංසාරයෙදි කරපු මහා පුණ්‍යස්කන්ධය තමයි මෙතනදි මූලික වෙන්නෙ. ඒ වගේ අවස්ථාවකදි මොන පක්ෂයකින් හෝ යම් කිසි කෙනෙක් ජන සමාජයක ජනාදරයට පත් වෙලා, ඒ වාසනාවට හිමිකම් ලබල එතැනට පත් වෙන කොට, ඒ ලැබුණා වූ පුණ්‍ය ශක්තිය නැවතත් ඇදිල ඇවිත් උපනිශ්‍රයට හේතු වෙන්නෙ, අදත් ඒ වගේම පුණ්‍ය කටයුතුවලට සම්බන්ධ වෙලා ඒ ගුණ දහම් වැඩුවොත් තමයි. මේකට කියන්නෙ අනන්තර-සමනන්තර ප්‍රත්‍යය කියල. ඒ උතුම් ගුණයට පත් වෙලා ඒ උතුම් පුණ්‍ය ශාන්තිය ලැබුවොත්, අතීත සංසාරයෙදි කරපු පුණ්‍ය වාසනාව මහා බලවත් වෙලා නැගිල එනවා. නායකත්වය මුල් කරගෙන මුළු මහත් රටවැසියන්ටමත් කියල සෙත් පතන කොට, නායකයගෙ පුණ්‍ය ශක්තිය බලවත් වෙලා මුළු මහත් රට වැසියන්ටම ඒ ශක්තිය විහිදිලා මහා ශාන්තියක් උදා වෙනවා. පෙර කරපු පිනේ විපාකය තමයි දැන් ඒ විදියට නැගිල එන්නෙ. විපාකය ආවම ඒක මහා පුණ්‍ය සෘද්ධියක් බවට පත්වෙනවා. එතකොට රටේ නායකයගෙ පුණ්‍ය බල මහිමයට සියලු රටවැසියන් සම්බන්ධ වෙනවා.

සක්විති රජ කෙනෙක් ලෝකයේ පහල වෙන කාලයක, කිසිම පුද්ගලයෙකුට පංච දුෂ්චරිත කරන්න බැරි ශක්තියක් විහිදෙනවා. ඒ විදිහට පංච දුෂ්චරිතයෙන් වළකින්නෙ, පුද්ගලයා එක්තරා ශක්තියකට ගෝචර වෙලා. ලෝකයම ඒ රජුගෙ අණසකට යටත් වෙනවා. ඒකත් සක්විති රජුගෙ පුණ්‍ය සෘද්ධියක්. ඒ නිසා තමයි සක්විති රජ කෙනෙක් පහළ වෙච්ච කාලයක, රට ස්වභාවයෙන්ම සශ්‍රීක වෙනවයි කියන්නෙ. එබඳු දස රාජ ධර්මයෙන් රජකම් කරන යම් රජෙක් ඉන්නව නම්, ඒ රාජ්‍යය ඒ හේතුවෙන් පෝෂණය වෙනවා. ඒ වගේ දෙයක් මෙතනදිත් සිද්ධ වෙනවා. මොන පක්ෂයකින් හෝ ජන රජයක නායකයෙක් වුණොත් ලැබෙන පුණ්‍ය වාසනාව ඒ වගේ තත්ත්වයකට පත් කර ගන්න පුළුවන්. ඉතින් පෙර සංසාරයේ කරපු ඒ පින් දහම් ඔප් නංවා ගන්න සුදුසු ධර්ම මාර්ගයකින් ඒ උතුම් සාසන ආශිර්වාදයක් ලබන්න අවස්ථාව උදා වුනා නම්, එහෙම කෙනෙක් රාජ්‍ය නායකත්වයේ ඉන්න කොට රට වැසියන්ට මහා වාසනාවක් වෙනවා. ඒ වාසනාව ලෝකයාටත් වාසනාවක් වෙනවා. මොකද බුද්ධ සාසනය නැවත නැගී එන කාලයක, කවුරු හරි යම් නායකයෙක් ඒ වගේ මහා පූජාවකට අතගහල ඒ උතුම් පිනට සහභාගි වුණා නම්, ලෝකයාටම ඒ වාසනාවේ ශාන්තිය පැතිරෙන්න හේතු වෙනවා. එහෙම වුණොත් ලක් රජයක් නැවතත් ලේසියෙන් සතුරු පරාජයකට ලක්වෙන්නෙ නෑ.

හැබැයි මෙතනදි සතුරු කරදර නැති වෙනවයි කිව්වම, සමහරු වරදවා තේරුම් ගන්න පුළුවන්, රාජ්‍ය නායකයාට දේශපාලන වශයෙන් විරුද්ධව ඉන්න අයත් සතුරන්ද කියල. නමුත් සතුරන් කියන්නෙ ඒ අය නෙවෙයි. යම් කිසි සමාජයක දැහැමි සම්ප්‍රදායක්, දැහැමි නීතියක් තියෙනව නම්, ඒකට පහර ගහල යම් කිසි කටයුත්තක් කරනව නම්, ඒ වගේ දෙයක් තමයි වරදක්, හතුරුකමක් වෙන්නෙ. ඒ නිසා රජයක විරුද්ධ පාක්ෂිකයන් කියන්නෙ සතුරන් නෙවෙයි. රජයක් තුළින් පත් කරල තියෙන දැහැමි ක්‍රමයක් තුළ ඒ අයත් සමාජය තෝරා පත්කර ගන්නා සුදුසු පුද්ගලයන්. ලෝක සම්මතයෙදි විරුද්ධ පක්ෂය කියල කිව්වත්, ඒ අයත් නීත්‍යානුකූලව ධර්මානුකූලව ඉදිරිපත් වුන පිරිසක් මිසක් රාජ්‍යයට විරුද්ධව හතුරුකම් කරන පිරිසක් නෙවෙයි. හැබැයි ඒ වගේ විරුද්ධ පක්ෂයේ කෙනෙක් හෝ කවුරු හෝ ඒ දැහැමි නීතිය, සාම්ප්‍රදාය කඩ කරන්න, කිසියම් කෙනෙකුට හිංගි හිංසා කරන්න හෝ මරා දමන්න හෝ ජනතාව අතර භේදභින්න ඇති කරන්න හෝ සමාජය දූෂිත කරන්න හෝ උපක්‍රම යොදනව නම්, යහපත් සමාජයක යහපත් දැහැමි කටයුතුවලට ඒකෙන් බාධා පමුණුවන නිසා, ඒ වගේ කටයුතුවලට සම්බන්ධ වන අය සතුරන් වෙනවා.

මේ නිසා සොර සතුරු කරදර නැති වෙලා යහපත් වෙනවයි කියන්නෙ, ඒ වගේ සමාජයකට විනාශ කරන දේවල් නැති වෙනවයි කියන එක. ඒ නිසා නියම ක්‍රමය තමයි, සියල්ලන්ටම තියෙන දොස් සමනය වෙලා, සාමය සෞභාග්‍යය උදා වෙන්න කියන එක. එතකොට තමයි ඒක සෙත් පැතීමක් වෙන්නෙ. එහෙම නැතිව අපේ කෙනාට විතරක් යහපත වේවා, අනෙක් අයට නොවේවා කිව්වොත් සෙත් පැතීම පූර්ණ නෑ. සෙත් පැතීම කියන එක දන්නෙ නැතිකමටයි තමන්ටම ජයග්‍රහණය පතා ගෙන එහෙම කරන්නෙ. නමුත් **සෙත් පැතීමක් පූර්ණ වෙන්න නම්, හැම කෙනාටම මේ පින විහිදිලා ශාන්තිය ලැබිල සියල්ලෝම සාමයට පත්වේවායි කියල කියවෙන්න ඕන.** ඒ විදියට සෙත් පතන කොට තමයි නියම ශාන්තිය සියල්ලන්ටම විහිදිලා, සියල්ලන්ගෙම සිත් නිවිල භේද නැතිවෙන තත්ත්වයට මග පෑදෙන්නෙ.

උදාහරණ විදියට සර්වඥ ධාතූන් වහන්සේලා බෙදා ගන්න එදා යුද්ධයක් ඇති වෙන්න අර ඇදුණා. අට කොටසක් එකතු වෙලා ධාතු බෙදා ගන්නවා, එහෙම නැත්නම් යුද්ධ කරනව කියලයි කිව්වෙ. ද්‍රෝණ බ්‍රාහ්මණ කියල එදා හිටියෙ ඒ සියල්ලන්ටම සිල්ප සාස්ත්‍ර උගන්වපු ගුරුවරයා. ඒ ගුරුවරයා උපදෙස් දුන්නා, සමගියෙන් සමාදානයෙන් කටයුතු කරගෙන සියල්ලන්ටම පොදුවේ සෙතක් ශාන්තියක් වෙන්න මේ ධාතූන් වහන්සේලා බෙදමු කියල. එතකොට පොදුවේ කියන වචනය අරගෙන තමයි එදා සියල්ලන්ම සාමයට සමාදානයට පත් වුණේ. මේ නිසා අපේ අයටම ජයග්‍රහණය අත්වේවා කියන්නෙ එක පැත්තක් ගත්තා කියන එක. ඒක පහත් දෙයක්. ඒක ධර්මයට ගැලපෙන්නෙත් නෑ. එහෙම නැත්නම් අනෙක් අය පරදීවා, අපේ අයම දිනාවා කිව්වොත් ඒකත් ධර්මයට ගැලපෙන්නෙ නෑ. ඒක වැටෙන්නෙ දැඩි ලෝභය (අභිද්‍යා) කියන බලවත් අකුසලයට. ඒක ශාන්තියක් නෙවෙයි, සාපයක්. එතකොට සාමයක් එන්නෙ නෑ. නමුත් එහෙම ක්‍රමයකුත් තියෙනවා. ඒකට කියන්නෙ නිගණ්ඨ උපෝසථය කියල. එතැනදි යම් කිසි සත්ව කොටසකට සීමා කරගත් මෙත් වැඩීමක් තියෙන්නෙ. අනෙක් කොටස් අත් හැරෙනවා. එළුවන්, කුකුළන්, ගවයන් හැර ඉතිරි සියලු සත්වයෝ .... ආදී ලෙස, මනුස්සයින්ට කන්න ප්‍රයෝජන තියෙන සත්තු අත හැරල, අනෙක් සත්වයන්ට විතරක් මෙත් වඩනවා. නමුත් ඒක ධර්මානුකූල ක්‍රමයක් නෙවෙයි.

මේ වගේ අපිත් සියලු සත්වයන්ට මෙත් වඩන කොට, කොටසක් අත් හැරල තමන්ට වාසි කොටසට පමණක් මෙත් වඩන්න ගියොත් ඒක නිගණ්ඨ උපෝසථ ක්‍රමයට වැටෙනවා. ඒක අන්‍ය තීර්ථකයන්ගෙ ක්‍රම රටාවක් මිසක් බුදු දහම නෙවෙයි. එකෙක් වැනසියන්, කෙනෙක් වැජඹේවා කියන එකත් දූෂිතයි. හරියට ''කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං'' කියන එක වගේ. උදාහරණ විදියට අපට විරුද්ධ පැත්ත වැනසිලා, තමන්ගෙ පැත්තට විතරක් යහපතක් වේවා කිව්වොත්, යහපතක් වේවා කිව්ව පැත්තට හොඳ විපාක ඇවිත්, වැනසිලා පලයන් කිව්ව පැත්තට නරක විපාක එනවා. එතැන කළු සුදු කියන හොඳ නරක මිශ්‍රණයක් තියෙන්නෙ. ඉතින් නරක

විපාක ආපු පැත්ත සාප කරන එක තමයි ඊළඟට කරන්නෙ. අන්තිමට ඒකෙන් දෙපැත්තටම අවැඩක් වෙනවා. නමුත් මෙත් වැඩීමකදි එහෙම ගන්න බෑ. ''සුක්ඛං සුක්ඛ විපාකං'' කියන සුදු පැත්ත හෙවත් යහපත් පැත්තමයි නැගෙන්න ඕන. අපේ අයට විතරක් නෙවෙයි, දුක් කරදර අපල ආදිය කියන ඒවා කාටත් පොදුයි. මේ නිසා හැම දෙනාම යහපතට පත්වෙලා, අභිවෘද්ධියෙන් සාමයෙන් සමාදානයෙන් යුතුව ජීවත් වෙන්න මග පෑදේවායි කිව්වොත් ''සුක්ඛං සුක්ඛ විපාකං'' කියන එක එතැන නැගෙනවා. එතකොට කාටවත් දොසක් කිව්වෙ නෑ. කාගෙවත් පැත්තක් ගත්තෙත් නෑ. ඒ ක්‍රමය තමයි නියම ආශිර්වාදයකදි, මෙත් වැඩීමකදි ගන්න ඕන. ඒක හරිම බලවත්. නමුත් අද වෙන කොට කරන්නෙ නැත්තෙත් ඒකමයි. කොටසකට සෙත් කරනවා, තවත් කොටසකට සාප කරනවා. ''කල්ල සුක්ඛං'' කිව්වම කළුයි සුදුයි දෙකම නැගිල වර්ධනයක් වෙන්න විදියක් නෑ. ඒ කියන්නෙ හොඳ නරක දෙක එකට යෙදෙව්වොත්, හොඳ එකේ බලයෙන් නරක එක කැපෙනවා, නරක එකේ බලයෙන් හොඳ එක කැපෙනවා. එතකොට නිකං ප්‍රතිඵලයක් නැති ශූන්‍යයක් වගෙයි. අද වෙන කොට හුගක් වෙලා තියෙන්නෙත් ඒ විදියට එක පැත්තක් අල්ල ගෙන තවත් පැත්තකට සාප කරන එක. නමුත් ඒ අදහස ගත්ත ගමන්ම ප්‍රතිඵල ලැබෙන්නෙ නැතිව යනවා. දූන් කරන සෙත් ශාන්තිවලින් බලාපොරොත්තු වන ප්‍රතිඵල නොලැබී යන්නෙත් මේ නිසා.

උදාහරණයක් විදියට පසුගිය දශක තුනකටත් අධික කාලයක් පුරා ඔඩු දුවල තිබිච්ච උතුරු නැගෙනහිර යුද තත්ත්වය අවසන් වුනාට පසුවත්, එක පැත්තක් විතරක් අරගෙන තමන්ගෙ කොටස විතරක් සැමරීම් / උපහාර කිරීම් ආදිය තමයි දිගටම සිද්ධ කළේ. පින් අනුමෝදන් කළෙත් ඒ වගේ. කොටසක් විරුවන් හැටියට වර්ණනා කරනවා. තවත් කොටසක් ත්‍රස්තවාදීන් හැටියට හංවඩු ගහනවා. ලෝක සම්මත කතාව ඒක වුනත්, දූන් එහෙම කරන කොට මොකද වෙන්නෙ, ඒ විදියට යුද්ධෙදි මියගිය, දෙපැත්තෙම අමනුස්ස / ගන්ධබ්බ ලෝකවල ඉන්න කොටස් ඇවිස්සෙනවා. ඒ කියන්නෙ කොටසක් ලෝභයෙන් උද්දාම වෙන කොට තව කොටසක් ද්වේශයෙන් සාප කරනවා. ඒ සාප කිරීම් නිසා අමනුස්ස ලෝකවල ඉන්න උදවිය විතරක් නෙවෙයි, ඒ අයගෙ ජීවතුන් අතර ඉන්න සමහර ඥාති හිතමිත්‍රාදීනුත් ඇවිස්සෙනවා. මොකද විශ්වයට නිකුත් වන ඒ විස කිරණ ශක්තියේ බලපෑම නිසා. ඒකෙන් වෙන්නෙ නැවතත් ඒ වගේ අර්බුදවලට මුල පිරීම.

අනික අවුරුදු පතා ඒ සැමරීම් කරනකොටත්, එදා යුද්ධ කළා වගේ අවි ආයුධ වෙඩි උණ්ඩ ප්‍රදර්ශනය කරල ඒ අය සිහි කරන්න තමයි හුග දෙනෙක් පුරුදු වෙලා ඉන්නෙ. විශේෂයෙන් රාජ්‍ය මැදිහත් වීමෙන් ඒ වගේ දේවල් කළාම, අමනුස්ස ලෝකවල ඉන්න ඒ හා සම්බන්ධ විවිධ කොටස් තව තවත් බලවත් වෙනවා. ඒ නිසා ඒ සැමරීම් / උපහාර කිරීම් කරන්න ඕන ඔය විදියට නෙවෙයි. ඒක බෞද්ධ ක්‍රමය නෙවෙයි. දානමානාදී පිංකම් කරල, සතුරු මිතුරු කියල පැත්තක් ගන්නෙ නැතිව, ඒ සටන්වලදී මිය පරලොව ගිය සියලු දෙනාටම මේ පින් විහිදී පැතිරේවා, අනුමෝදන් වෙත්වා කියල අවංකව ප්‍රාර්ථනා කරල පින් දෙන කොට, ඒ මියගිය අය අතර ඉන්න හේතු වාසනා තියෙන අය සතුරු මිතුරු භේදයකින් තොරව ඒ පිං අනුමෝදන් වෙලා සුගතිගාමී වෙන්න මග පාද ගන්නවා. ඒ විදියට පිං අනුමෝදන් වෙන්න බැරි අයට, ඒ පින් දීමෙන් නැගෙන ශාන්තිය විහිදිලා පැතිරිලා යම් කිසි



සහනයකට මග පෑදෙනවා. නියම බෞද්ධ ක්‍රමයට, හරි ක්‍රමයට ඒ වගේ දෙයක් තමයි කෙරෙන්න ඕන.

මොකද මේ වගේ යුද්ධයක් නිමාව දැකීම සම්බන්ධයෙන් අපි සතුටු වෙන්න ඕන, මතුවටත් එවැනි දුක් කරදර නොවේවා කියල සාමකාමීව ජීවත් වෙන්න පුළුවන් වාතාවරණයක් සැකසීම ගැන විතරයි. එහෙම නැතිව තමන්ගෙ පිල ජය ගත්ත කියල නෙවෙයි. ඒ කාරණය දනගෙන හිටිය නිසා තමයි, පෙර හිටපු රජවරු සතුරු මිතුරු භේදයකින් තොරව යුද ගැටුම්වලින් මියගිය සියලු දෙනාටම පින් දීල පින් අනුමෝදන් කළේ. එතකොට මියගිය සතුරන් විතරක් නෙවෙයි, ඒ අයගෙ ජීවත් වෙලා ඉන්න ඥාති හිතමිත්‍රාදීන් පවා ඒ ගැන පැහැදෙනවා, සතුටු වෙනවා. නිරුක්ති අර්ථය ගත්තමත්, ජනතාව රංජනය කරන නිසා රජ කියන බුද්ධ දේශනාවටත් ඒක ගැලපෙනවා. රංජනය කරනවයි කියන්නෙ සතුටු කරනවයි කියන එක. ඒ කියන්නෙ භේදයකින් තොරව ජනතාව යහපතෙහි පිහිටුවල සතුටු කරනවා. නමුත් අද ඉන්න හුගක් උදවිය ඒ ක්‍රමය දන්නෙ නැති නිසා, දහමට නොගැලපෙන දේවල් කරල සතුටු කළා, යහපතක් කළා කියල හිතාගෙන ඉන්නවා. (මේ හා සම්බන්ධ තවත් හෙළිදරව් කිරීමක් හෙළ බොදු පියුම මීට පෙර කලාපයකින් ඉදිරිපත් කරල තියෙනවා.)

ඒ නිසා පොදුවේ සතුරු මිතුරු කියල බලන්නෙ නැතිව, සියල්ලන්ටම යහපත උදා වේවා කියල අවංක සිතින්ම කිව්වම එන සුදු කර්ම සහ සුදු විපාක සියලු ආකාරයෙන්ම පූර්ණයි, හරිම බලවත්. ප්‍රතිඵල ඇස් පනාපිටම දකගන්නත් පුළුවන්. නමුත් පොදුවේ සියලුම මනුස්සයින් මේ කියන ගති ලක්ෂණයට ගන්න එක හරි අමාරුයි. මේ නිසා ප්‍රයෝග සම්පත්තිය හෝ ප්‍රයෝග විපත්තිය ආරම්භ වන මූලික ක්‍රමයක් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. රාජ්‍ය නායකයා ධාර්මික වුණා නම්, පුණ්‍යවන්තයෙක් වුණා නම්, ඒක ප්‍රධාන කරගෙන ඊට අනුසාරයෙන් ලැබෙන ශක්තියෙන් විහිදෙන ශාන්තියකට ගෝචර වෙලා, මැති ඇමැති මණ්ඩල පවා ඒ තත්ත්වය ඉක්මවා යන්න බැරිව ඊට අනුකූලව යහපතෙහි පිහිටනවා. ප්‍රයෝග සම්පත්තියෙන් රටේ නායකයා ඒ විදියට කටයුතු ආරම්භ කළා නම්, ඒ පුණ්‍ය ශක්තිය විහිදිලා ගිහින් අනෙක් නිලධාරී මණ්ඩල ඇතුළු පාලන, පරිපාලන ඔක්කෝටමත් ඒ තත්ත්වය ඉක්මවා යන්න බැරි වෙලා යහපතට පිහිටනවා. ඊට පස්සෙ රට වැසියාත් ඊට අනුකූල වෙනවා. මේ විදියට ඒ ශක්තිය රාජ්‍ය නායකයා මගින් මුළු රාජ්‍යයටම විහිදෙනවා. ඒකත් එක්තරා විදියක විශ්ව ක්‍රමයක්.

හැබැයි රාජ්‍ය නායකයාට මේ උපදෙස් දෙන්න පුරෝහිත බ්‍රාහ්මණයො වගේ උපදේශකවරු හරියට ඉන්න ඕන. නායකයා ඊට අනුකූලව කටයුතු කළොත් මහා පුණ්‍ය වාසනාවක් මතු වෙනවා. ඒ පුණ්‍ය බලයේ බල මහිමයෙන්, රටේ අනෙක් අයට හිතු මනාපෙට දූෂ්‍ය වෙන්න බැරි වෙනවා. මේ විදියට **රාජ්‍ය නායකයා මුල් කරගෙන රටවැසියා ශාන්ත කරන ක්‍රමයක් තියෙනවා. මේ ක්‍රමය අනුගමනය කළොත්, කවදාවත් ඒ රාජ්‍යය වනසන්න බෑ කියලත් පෙන්වනවා.** ඒක විශේෂ දෙයක්. ඉතින් කවද හරි යථාර්ථයෙන්ම සියලු රටවැසියන් දූනුවත්ව වන්දනාමාන කරන යම් පූජාවකට රාජ්‍ය නායකයා අවංකව සම්බන්ධ වෙලා පළවෙනි වුණොත්, සියල්ලටම කළා හා සමාන

බලයක් මුළු රාජ්‍යයටම නිකුත් වෙනවා. මේ නිසා මහා සම්පත් ලබන්නත් හේතු වෙනවා.

හැබැයි මේ කියන පූජා වන්දනාමාන ක්‍රමය අපි අද කරනව වගේ සාමාන්‍ය එකක් නෙවෙයි. ඒ ක්‍රමය අද වෙන කොට සැඟවිලා තියෙන්නෙ. නමුත් නැවතත් මතු කරල දෙන්න පුළුවන්. ඉතින් මේ වගේ ධර්මයක් අති දුර්ලභ කාලයක, කවුරු හරි නායකයෙක් ඒකට ගරු කරල පහද ගත් හිතක් ආව නම්, ඒක කාගෙ වුණත් සසර වාසනාව පෑදීමක්. යම් කිසි ආකාරයකින් කවදා හෝ යම් රජ කෙනෙක් එබඳු පුණ්‍යතාවයකින් වර්ධනය වුනොත්, ඒ රාජ්‍යයට විසාල යහපතක් වෙනවා. ඒ වගේම දස අකුසලයෙන් දූෂ්‍ය වුනොත් එහෙම, මනුස්සයින්ට කරන්න දෙයකුත් නැතිව යනවා. ඒ දූෂ්‍ය ශක්තිය විහිදිලා රටටම අයහපතක් වෙනවා. ඒක ප්‍රයෝග විපත්තිය. මෙහෙම කාරණා 2ක් සිද්ධ වෙනවා. දැන් මේක දැනගන්න හොඳ පැහැදිලි ක්‍රමයක් තියෙනවා.

උදාහරණ විදියට යම් යම් රටවල්වල කැරලි කෝලාහල ඇති වෙනවා. කල්ලි නායකයගෙ තියෙන්නා වූ අදහස දරුණු නම්, ඒ පිරිසම මහා දරුණු පුද්ගලයන් බවට පත්වෙනවා. ඒක මැඩ පවත්වන්න කොච්චර පිරිස ඇල්ලුවත් බෑ. හැබැයි කල්ලි නායකයා අල්ලල මෙල්ල කළොත් ඉතිරි පිරිස නිකම්ම මෙල්ල වෙනවා. මේක අද රටේ ලෝකයේ අත්දකින්න තියෙන දෙයක්. නායකයා ඉඳෙද්දි කල්ලියේ පොඩි එවුන් කොච්චර නම් ඇල්ලුවත් කැරැල්ල මැඩ පවත්වන්න බෑ. නායකයා අත්අඩංගුවට අරගෙන ඔහුගෙ බලය යම් උපක්‍රමයකින් මෙල්ල කළා නම්, අර පිරිසටම තිබ්බ්ච දරුණු ගති නැති වෙලා යනවා. කෙනෙක් නිකම්ම දරුණු වෙන්නෙත් නෑ. ඒකටත් හේතුවක් / ක්‍රමයක් තියෙනවා. උපනිශ්‍රය ලබලමයි තමන්ගෙ ගති ලක්ෂණ බලවත් වෙන්නෙ හෝ මැඩ පැවැත්වෙන්නෙ.

මේ ක්‍රමයට යම් කිසි නායකයෙක් අවංකව බුදු දහම පිළිගත්තොත්, ඊට අනුව පැවැත්ම සුද්ධ කර ගෙන, චිත්ත ප්‍රසාදය ඇති කරගෙන, සාසනයට ගෞරවයෙන් පින් දහම් කරගෙන කටයුතු කළොත්, ඒ සාසනය ඇසුරු කරන නායකයෙකුට ඒ රටේ වාසනාව හිමි කර දෙමින් මුල් ස්ථානය ලැබෙනවා. මේ කතාව දන්න නිසාම, බුදු දහම තේරුම් අරගෙන හිටපු නිසාම, එදා අපේ පැරැන්නන් රජු කියල පිළිගත්තෙ ඒ අවස්ථාවෙ දළදා වහන්සේ සහ පාත්‍රා ධාතුව අයිති පුද්ගලයා. ඒ හිමිකම නැති කෙනෙක් රජු හැටියට පිළිගන්නෙ නෑ කියල ආදී සම්ප්‍රදායක් තිබුණා. මේ නිසා රජ කෙනෙක් පළමුවෙන්ම සටන් කළේ දළදා වහන්සේ සහ පාත්‍රා ධාතුව අයිති කරගන්න. ඒ දෙක අයිති කර ගන්නෙ නැතිව මුළු රටම ඇල්ලුවත් ඒ පුද්ගලය නායකය කියල අපේ පැරැන්නන් පිළිගත්තෙ නෑ. මේ ක්‍රමය අදටත් කරුණු නොදන හෝ සංකේතයක් විදියට එනවා. අදත් නායකත්වයක් අරගෙන, පාත්‍රා ධාතුව පේන්න නැති නිසා දළදා වහන්සේ ඉදිරියට ගිහින් ප්‍රතිඥාවක් දෙනවා. ක්‍රමය හරියට කරගෙන ගියේ නැතත් සංකේතය එනවා. ඉතින් මේ විදියට බෞද්ධ රටක් කිසිම විදියකින් පරාජය කරන්න බැරි වුනේ ඔය හේතුව උඩ. රජු දැහැමි වුණා. දැහැමි රජුගෙ පාලනයෙදි රට යහපත් වෙනවා. ඒක දරුණු ක්‍රමයකින්වත්, උපක්‍රමයකින්වත්, වෙනත් ක්‍රමයකින්වත් කරන්න බෑ.

යම් කිසි රාජ්‍ය නායකයෙක් පෙර පිනෙන් යහපත් වෙලා ආඩ්‍ය වෙන කොට, දස රාජ ධර්මය අනුව රටවැසියන් කෙරෙහි තමන්ගෙ දරුවන් හා සමානව කරුණාවෙන් මෛත්‍රියෙන් බලන්න ඕන. මේ මගේ හතුරා, මේ මගේ මිතුරා කියල තමන්ගෙ පුද්ගලික හතුරු මිතුරුකම් අර ගන්නෙ නැතිව, පොදුවේ මුළු රටවැසියාටම එහෙම ගුණයක් පතුරවන්න ඕන. ඒ වගේම සතා සිවුපාවුන්ට පවා කරුණාව දක්වන, හිංගි හිංසා නොකරන, නිදහස් පරිසරයක් ඇති කරල දීල, සත්ව ඝාතනයෙන් ඉවත් වෙන්න අවවාද අනුසාසනා කරන නායකයෙක් වෙන්න ඕන. සුරා සූදු දුරාචාර ආදිය පිටු දකින නායකයෙක් වෙන්න ඕන, ධර්මානුකූලව කරුණු තේරුම් අරගෙන රාජ ධර්ම ඉක්මවන්නෙ නැති නායකයෙක් වෙන්න ඕන. මේ ක්‍රම අනුගමනය කළා නම් ඒ රට සශ්‍රීක වෙනවා. අද වුනත් එච්චරයි කියන්න තියෙන්නෙ. කවුරු රජ කළත් මේ ටික කරගත්තොත් තමයි රටක් සශ්‍රීක වෙන්නෙ. එහෙම කරගන්න කොට ඒ රජකමට / නායකත්වයට පත්වෙන්න හේතු වාසනා තිබුණු කෙනාට, පෙර අත්බැව්වලදි කරපු පුණ්‍ය වාසනාව විපාක අවස්ථාවක් විදිහට මහා උපනිශ්‍රයක් ලැබිල ඒ වාසනාව මතු වෙලා එන්න හේතු යෙදෙනවා. ඊට පස්සෙ තමයි ඒ වාසනාව ක්‍රියාත්මක වෙලා ඒකෙ ප්‍රතිඵලය රටට ලෝකයාට ලැබෙන්නෙ.

අද වුනත් නායකයෙක් මේ විදියට ධර්මානුකූලව කටයුතු ආරම්භ කළොත්, වැදගත් සම්පත් මතු වෙලා රටට විසාල සශ්‍රීකත්වයක් ලබන්න පුළුවන්. ඒ ක්‍රම වැහිල ගිය තරමට තමයි නොයෙක් වංචා දූෂණ ඇවිත් වංචාවෙන් රජකම් ගන්නයි, රට වැසියන් රවටන බොරු පොරොන්දු දෙන්නයි බලන්නෙ. මේ කියපු ධර්මානුකූල දහම් පැත්ත නැතුව, වෙන වෙන උපක්‍රම යොදල ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තුවෙන් පමණක් කළොත් එහෙම වෙනවා. නමුත් ඒ ජාතියේ ක්‍රමවලින් දූෂණය නැති කරන්න බෑ. ඒ නිසා ඒකටත් බුදු දහමෙ ක්‍රමයක් තියෙනවා. යම් කිසි දැහැමි රජෙක් නායකත්වයට පත්වෙනව නම්, ඒක රටේත් රට වැසියාගෙත් ලොකු වාසනාවක්. එහෙම නැත්නම් ඉතින් කරන්න දෙයක් නෑ. ලෝක සම්මතයේ අන්ධයො අත ගගා යනව වගේ, බාහිර ලෝකයේ ඇලෙන ගැටෙන මුලා වෙන ක්‍රමවලින් ලෝකයේ විනාස වෙන පැත්ත තමයි පාලකයින්ට ලැබෙන්නෙ. ඒ පාලනයට හසුවන රට වැසියන්ට ලැබෙන ප්‍රතිඵලයත් ඒ වගේමයි.

ඉතින් යහපතක් වේවා කියල අධිෂ්ඨානයෙන් කටයුතු කරල, ඒ අයටත් මේ ධර්මාවබෝධය ලැබිල සාසනයේ උතුමන්ගෙ වටිනාකම පෙනිල, චිත්ත ප්‍රසාදය ඇති වෙලා රටටත්, රටවැසියන්ටත් දරුවන් රකින දෙමව්පියන් වගේ, මගේ පුණ්‍ය සම්පත්තිය රටටම ගලා යාවා කියල, මෙහෙම අවංකව ප්‍රාර්ථනා කරන උතුම් ගුණ ඇති යම් කෙනෙක් නායකත්වයට පත්වුණා නම්, බලා ඉඳෙද්දි රටේ තියෙන කරදර බාධක දුරු වෙලා, සමගිය සමාදානය ඇති වෙලා, යහපත් රාජ්‍යයක් ගොඩ නැගෙන්න හේතු වෙනවා. ඒක එහෙම වුනොත් ඒ අයගෙත් රටෙත් ලෝකයෙත් වාසනාවක්. ඉතින් ධර්මානුකූල පැත්ත අරගන්න අපිත් පුළුවන් තරම් මග පෙන්වා දෙනව මිසක්, කාගෙවත් පැත්තක් අල්ලල වැඩක් නෑ. ඒක දහමට ගැලපෙන්නෙත් නෑ. මේ නිසා අපට එක පැත්තක් ජය ගත්ත කියල උද්දාම වෙන්න නෙවෙයි තියෙන්නෙ. කොහොම හරි මේ ධර්මානුකූල පැත්තට යමෙක් එනව නම්, ඒක ලෝකයට යහපතක් වෙන්න හේතු වෙලා ඒකෙන් තමයි රටත්, ජාතියත්, ආගමත් රැකෙනව නම් රැකෙන්නෙ, අභිවෘද්ධියක් ලැබෙනව නම් ලැබෙන්නෙ. හැබැයි මේ විදියට ධර්මානුකූලව දැනුවත් කරන එක බලෙන් කරන්න බෑ. තම තමන් ඇවිදින් තමයි කර ගන්න ඕන. පන්න පන්න කියන බණක් නැති නිසා, එහෙම ක්‍රමයකුත් නැති නිසා නිහඬ වෙලා ඉන්න වෙනවා. හැබැයි නායකකාරකාදීන් මේ වගේ යහපත් දෙයක් කරගන්න එනව නම්, ඒක ලෝකයාට යහපතක් වෙන නිසා, සන්තෝසයෙන් ආශිර්වාද කරල ඊට අවස්ථාව සලසල දෙන්න ඕන. මොකද ලෝකයාට යහපතක් වෙන්න පැතුමක් තියෙනව නම් ඊට ආශිර්වාද කළ යුතුයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කේන්ද්‍රයෙන් පෙන්වන හේතු ඵල දහම ....

**6 වන කොටස**

නැකත් බලන ක්‍රමවලම තව තවත් විවිධ වූ ක්‍රම තියෙනවා. ඒ අනුව රාහු කාලය කියල වෙන් කරන වෙලාවක් තියෙනවා. යම් කිසි දවසක තියෙන නරක කාල සම්පිණ්ඩනයක් තමයි ඒකෙන් කියන්නෙ. ඒ වෙලාවෙදි කිසිම සුභ කටයුත්තක යෙදෙන්න එපා කියල තමයි ලෝක සම්මතය වෙලා තියෙන්නෙ. මොකද ඒ කාලය තුළ කරන කටයුතු වැහෙනවා කියල තමයි කියන්නෙ. නමුත් රාහු කාලය කියන එකෙත් හොඳ වෙලාවක් තියෙනවා. සෑම කළු වලාකුළකම රිදී රේඛාවක් තියෙනවා කියල ඉංග්‍රීසි කියමනක් තියෙනවා. (every dark cloud has a silver lining) ඒ කියන්නෙ පිටින් පේන්න කළු වලාකුළු හැම තැනම තිබුණට, හරියට පරීක්ෂා කරල බැලුවොත් ඒ හැම තැනම කළු නෑ. සමහර තැන්වල නොපෙනෙන්න රිදී පැහැයක් සියුම්ව තියෙනවා. ඒ වගෙ තමයි ඕනෑම නරකයි කියන වෙලාවකත් හොඳ මොහොතක් තියෙනවා. මොහොතක් කිව්වම ඇහි පිය ගහන කාලයත් මොහොතක්. තත්පරයෙන් දහයෙන් පංගුවත් මොහොතක්.

සාමාන්‍යයෙන් නැකතක් හදන්නෙ විනාඩියකට කොටු කරල. එතකොට ඇහි පිය ගහන වාර කීයක් නම් ඒකෙ තියෙනවද ? තත්පරයකටම ඇහි පිය වාර කීයක් ගහන්න පුළුවන්ද? තත්පරයෙන් දහයෙන් පංගුවත් මොහොතක් වෙන කොට, තත්පරයක් ඇතුළතත් දහයෙන් එක පංගුවක හොඳ මොහොතක් තියෙනවා. සුභ වෙලාවක් බලන කොට ග්‍රහයො පිහිටන ආකාරයක් තමයි ඒකට ගන්නෙ. ඒ සඳහා අංශකයෙන් අංශකයට ග්‍රහයො පනින වෙලාවක් බලල ඒකට විනාඩි ගණනක වෙලාවක් අල්ල ගෙන, ඒ අනුව තමයි මේ වෙලාව රවිට, මේ වෙලාව සඳුට, මේ වෙලාව කුජට ... ආදී වශයෙන් කියල විනාඩියක සීමාවක් ඇතුළත සුභ වෙලාවක් හදන්නෙ. ඉතින් මේ විනාඩිය ඇතුළතත් නරක දේවල් කොච්චර නම් තියෙන්න පුළුවන්ද? එතකොට ඒක තමයි සුභම මොහොත කියල ගන්න බෑ. ඒ නිසා තමයි බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ, **පිරිසිදු පහන් සිතකින් යහපත් කටයුත්තක් කරන කොට ඒක හරියටම සුභම වෙලාවට හිටිනව කියල. ඒ නිසාම තමයි ප්‍රසන්න මනසකින්, පහන් සිතකින් කටයුතු කරන කෙනාට හැම වෙලේම උතුරු සළ නැකතයි කියලත් බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ.** ඒ කියන්නෙ උත්තරීතරයි, යහපත් කියන එක.

යම් ගතියක් ඇත්ද ඊට සමාන වූ දේ ඒකට ආකර්ෂණය වෙනවා. ඒ පිළිබඳව





බුදුන් වහන්සේ සූත්‍ර ගණනාවකින් විග්‍රහ කරල තියෙනවා. එක් අවස්ථාවකදි බුදුන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට මෙහෙම පෙන්වා දෙනවා. "ආනන්ද, සැරියුත් හාමුදුරුවො ළඟ පිරිසක් ඉන්නවා. ඒ පිරිස ධර්මධරයි. මුගලන් හාමුදුරුවො ළඟ ඉන්නෙ ඍද්ධි ලාභීන් පිරිසක්. උපාලි හාමුදුරුවො ළඟ ඉන්නෙ විනය ගරුක පිරිසක්. විනය ගරුක අය එතැනට එකතු වෙනවා. දේවදත්ත ළඟ අසත් පුරුෂ ගති ලක්ෂණ ඇති පිරිසක් එකතු වෙලා ඉන්නවා. මෙහෙම හැදෙන්නෙ ගතියට ගතිය එකතු වෙලා." එතකොට ඒ ඒ ගති ලක්ෂණ ඇති අය, ඒ ඒ ගති ලක්ෂණ ඇත්තන්ට එකතු වෙනවා. මේක ලෝක ස්වභාවයක්. කිසියම් ගති ලක්ෂණයක් කර්මයේ විපාක වශයෙන් ක්‍රියාත්මක වෙන්න එනකොට, ඒ ගතියට අනුකූල දේ බාහිර විශ්වයෙන් ඇදි ඇදී එකතු වෙනවා. අනුන්ට ගිනි දීපු, අනුන්ට හිංසා පීඩා කරපු විපාකයක් තිබුණ නම්, ඊට අදාල පැහැයකින් යුත් කිරණ මාලාවක් මිනිස් කය වටා විපාක වශයෙන් පිහිටනවා. එතකොට විශ්වයේ ඊට අනුකූල වන්නා වූ යම් ග්‍රහ වස්තු තියෙනව නම්, ඊට අනුකූල විස කිරණක් තියෙනව නම්, ගති ආකර්ශන නියමය අනුව ඒ කිරණ ඇදිල එනවා. එතකොට කියනවා ග්‍රහ අපල ළං වුණා කියල.

ඒ වගේම තමයි යම් හොඳ ගති ලක්ෂණවලටත හොඳ කිරණත් ඇදිල එනවා. කෙනෙකුට හිතෙන්න පුළුවන්, හිරු එළියේ ඔය කියන කිරණ තියෙනවද කියල. බැලු බැල්මට නම් කිසිම වර්ණයක් පේන්න නෑ. ඒත් වතුර ටිකක් කටට අරගෙන හිරු එළිය වැටෙන තැනකට අල්ලල, වාෂ්ප වගේ යන විදියට පිඹිබොත් දේදුන්නක් වගේ පාට පේනවා. සූර්යාලෝකයේ තිබුණ දේවල් වර්ණවලට බෙදිල විහිදිලා යාමක් පෙන්නුම් කරනවා. ඒ කියන්නෙ පාරජම්බුල කිරණ වගේ විස සහිත කිරණත් තියෙනවා. මනුස්සයින්ට යහපතක් වෙන කිරණත් තියෙනවා. මනුස්සයින්ට තියෙන ගති ලක්ෂණ අනුව ඊට අනුකූල දෙයක් ඇදිල එනවා. එකම සූර්යාගෙන් (රවිගෙන්) යම් කිසි කාලයකදි කෙනෙකුට අපලයි, තවත් කෙනෙකුට සපලයි. ඒ වගේම තමයි දීප්තිමත් හොඳ පැත්තක් තියෙනවා. දීප්තිමත් ගති ලක්ෂණ ඇති වෙන්නා වූ කර්මයේ විපාක එන වෙලාවට හෝ කර්මයක් කරන වෙලාවට සූර්යාට සම්බන්ධ ඒ දීප්තිමත් කොටස ඇදල එනවා. ඉතින් යහපත්, දීප්තිමත් පුණ්‍ය කර්ම කරන්න පටන් ගත්ත නම්, එබඳු වූ දේට නිතර හිත හසුරුවන්න පටන් ගත්ත නම්, ඊට අනුකූලව ශක්තිය ඇදිල එනවා. ඒ ශක්තිය බලවත් වෙන කොට ඊට ☞

විරුද්ධව තිබුණු අපල ශක්තිය ඈතට යනවා. එතකොට අපලවලින් දුරු වෙන්න ක්‍රමයක් තියෙනවා. සමහර මැණික් වර්ගවල ඒ ඒ ශක්ති විශේෂ ගැබ් වෙලා තියෙනවා. ඉතින් පෙර හිටපු ඍෂිවරු මේක දැකල, මෙන්න මේ මැණික උපක්‍රමශීලීව තමන් ළඟ තියා ගන්න කියල ආභරණයක් විදියට හරි මේක පැළඳ ගන්න කියල උපදෙස් දුන්නා.

මේ ආකාරයට බාහිර ලෝකයේ තිබුණු ශක්ති විශේෂයකට ඊට සමාන ශක්ති විශේෂයක් ඇදිල එනවා. ඉතින් අපලවලට මැණික් පළඳිනව කියන්නෙත් මෙහෙම ක්‍රමයක්. මේ වගේ ප්‍රයෝග සම්පත්තිවලින් ප්‍රයෝජන ගන්න පුළුවන්. හැබැයි සියළුම දේවල් එහෙම කරන්න බෑ. ප්‍රයෝග සම්පත්තියෙන් ප්‍රයෝජන ගන්නත් හේතුවක් තියෙන්න ඕන. එතකොට තමයි ප්‍රයෝගයක් තියෙනව නම් ඒකට මග සැලසෙන්නෙ, ඒක කර ගන්න හිතෙන්නෙ. එහෙම හේතුවක් නැත්නම් ඒ වැඩේ කඩාකප්පල් වෙනවා. එක්කො හදා ගත්ත මැණික කොහේ හරි වැටිල නැති වෙනවා. එහෙම නැත්නම් ආභරණයක් විදිහට හදා ගත්තත් ඒක පළඳින්න හිතෙන්නෙ නෑ. නිකං පැත්තක තියල තියෙනවා. ඒ වගේ මොකක් හරි දෙයක් සිද්ධ වෙනවා. තමන් විසින් කරන ලද යම් පාප කර්මයක් තිබුණ නම්, ඒ වගේම ඊට අනුකූලව සහනදායී කර්ම විපාකයක් තිබුණ නම්, ඒ පාප කර්මයට අදාළව සහනයක් තියෙන අවස්ථාත් තියෙනවා. එතකොට ප්‍රයෝග සම්පත්තියෙන් ප්‍රයෝජන ගන්න පුළුවන්. හැබැයි ප්‍රයෝග සම්පත්තීන් තිබුණ පළියටම ප්‍රයෝජන ගන්න පුළුවන්කමක් නෑ.

ඉස්සර මෙහෙම ක්‍රමයක් තිබුණා. සත්තු දඩයමේ ගිය මිනිස්සු, සත්තු කන බොන වෙලාවට විද්දෙ නෑ, හැංගිලා හොරෙන් ගිහින් විද්දෙ නෑ. සතාට සද්දයක් අහන්න සලස්වල, පැනල යන්න අවස්ථාව දීල, පැනල දුවන කොට තමයි විද්දෙ. ඒ කියන්නෙ බේරෙන්න හේතු තියේ නම් ඒකට අවස්ථාව දීල තමයි දඩයම් කළේ. ඒ වගේම තමයි යුද්ධ කරන්න ගියාමත් හොරෙන් යුද්ධ කළේ නෑ. යුද්ධ ප්‍රකාශ කරල තුන් වතාවක් දැනුම් දීම් කළා. යටත් වෙනවද යුද්ධ කරනවද කියල අවස්ථා තුනක් දීල තමයි යුද්ධ කරන්න පටන් ගත්තෙ. පවක් කරන්න සිද්ධ වුණත්, ඒකෙන් ඉදිරි කාලයේ තමන්ටත් විපාකයක් එන කොට යම් කිසි සහනයක් ලැබෙන විදිහට ඒකට අවස්ථාව තියාගෙන තමයි ඒක කළේ. එහෙම අවස්ථාවක් දීල කටයුතු කරන කෙනාට උපක්‍රමශීලීව බේරෙන්න ක්‍රමයක් යොදා ගන්න හැකියාව ලැබෙනවා. කරපු පාප කර්මයේ විපාකය විඳින්න නිරයක උපන්නත් ඔසුපත් නිරයක තමයි උපදින්නෙ. ඔසුපත් කියන්නෙ ඖෂධ ප්‍රත්‍ය වෙනවයි කියන එක. ඒ කියන්නෙ මේ ඔසුපත් නරකයක වැටුණු කෙනෙකුට, තමන්ට හෝ අනෙක් කෙනෙක් මගින් හෝ ඒ ස්ථානයෙන් ගැලවෙන්න හේතු යෙදෙන ක්‍රමයක් තියෙනවා. ඒ පුද්ගලයා වෙනුවෙන් යම් පිනක් කරල පුණ්‍යානුමෝදනාවක් කළාම, ඒ පුණ්‍ය ශක්තිය මගින් හේතු ලැබිල ගැලවෙන්න අවස්ථාවක් ලැබෙනවා.

අද වුනත් කෙනෙක් වරදක් කරල හිර දඬුවම් නියම වුනොත් වෙසක් පෝය දිනය, නිදහස් දිනය, ජනාධිපති උපන් දිනය .... ආදී යම් කිසි විශේෂ අවස්ථාවලදි නිදහස ලැබෙන අවස්ථා තියෙනවා. හැබැයි එහෙම නිදහසක් ලැබෙන්නෙ සාමාන්‍ය මට්ටමේ වැරදි කරපු අයට විතරයි. බරපතල වැරදි කරපු අයට එහෙම නිදහසක් ලැබෙන්නෙ නෑ. මෙන්න මේ



වගේ, ඔසුපත් නිරයෙත් මෙහෙම ක්‍රම වේදයක් තියෙනවා. ඔසුපත් නිරයේ උපදින අයටත් කිසියම් විශේෂ දෙයක් මුල් කරගෙන තමන් ලබපු දඬුවමෙන් නිදහස් වෙන්න අවස්ථාව තියෙනවා. නමුත් අවීචි මහා නරකාදියේ උපන් කෙනෙකුට එහෙම නිදහස් වෙන්න ක්‍රමවේදයක් නෑ. මොකද ඒ කරල තියෙන පාප කර්ම ඒ තරම් බලවත්.

සෙනසුරු ග්‍රහයගෙන් සිද්ධ වන අපල උපද්‍රවවලට කාකනිල් ගල් සහිත මුදු පැළඳීමක් කරනවා. කාකනිල් කියන්නෙ සෙනසුරු ග්‍රහයගෙ ස්වභාවය ඇත්තා වූ මානසිකත්වය. හෙණයට හුරු කරපු නිසා හෙනහුරු කියනවා. අනුන්ගෙ විනාසයට, සාපයට යම් කෙනෙක් හුරු වුනොත්, කවද හරි සසරේ හෙනහුරුගෙ අපලවලට හේතු ලබනවා. හෙණයට හුරු වෙච්ච කෙනාට, හෙනහුරු විපාකයක් විඳින්නත් වෙනවා. අනුන් වනසල දාන්න, අනුන්ට පහර ගහන්න, අනුන්ට දුක් පීඩා දෙන්න ආදියට හුරු වුණොත් ඒක හෙණයට හුරු වීමක්. මේ තත්වයට පත් වුණාම ඒකට හේතු කාරක වන්නා වූ සිරුරේ තිබිච්ච ශක්ති විශේෂ තමයි පිට වෙලා යන්නෙ. එහෙම පිට වෙලා ගිහින් බාහිර ලෝකයේ ඈත් වෙලා පිහිටනවා. හිතේ තිබුණු කහට නිසා ගුණ ක්ෂය වෙලා ගිහින් පිහිටනවා. ළය නිවිච්ච ගුණය ඈත් වෙලා කාකනිලය කියන නම ඇතුව මැණිකක් හේතු ඵලයක් වශයෙන් හට ගන්නවා. ඒ ගුණය දුරස් වුනා මිසක් හිතේ නැති වෙලා නෑ. ඒ ගුණ ධර්ම හිත අභ්‍යන්තරයේ තියෙනවා. නමුත් විපාක වශයෙන් එන කොට ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් කාකනිල ගලක් අරගෙන මුද්දක් හදල පැළඳීමෙන්, අර ආකර්ෂණය නැවත ශරීරයට ලබා දීමක් සිද්ධ වෙනවා. මුල් කාලයක ශරීරගතව තිබිල ඈත් වෙලා තිබුණු යහපත් ශක්තිය අඩු වීමෙන් ඇතිවුණු රෝගාබාධ දුරු වෙන්න, නැවත අර ශක්ති කිරණ ලබා ගන්න ක්‍රමයක් තමයි කාකනිල් ගල් පැළඳවීම කියන්නෙ. එතකොට අර කියන්නා වූ බාධක බොහෝ කොට දුරු වෙනවා.

කෙනෙක්ව බඩ ගින්නෙ තියල, ඉන්න තැන් නැති කරල, අනුන්ගෙ පංගුව කාල කෲර විදියට ජීවත් වුණා නම්, බඩගින්නෙ ඉන්න වෙන ගති ලක්ෂණයෙන්ම තමයි කාක්කො වෙන්නෙ. කරපු අවැඩට කෲර වෙනවා. කෲරකම් කරල කාක්කා කියල ඉපදෙනවා. කා + අක්ක - කාපු දේ අක්‍රිය වෙනවා, කාපු දේ ක්‍රියාත්මක වෙන්නෙ නෑ. කනවත් එක්කම අනිත් පැත්තෙන් පිට වෙනවා. කා + පුටා - කපුටා කිව්වමත් කාපු තැන පුට කරන අදහස තමයි එන්නෙ. කෑවට පස්සෙ යන්න ලැබෙන්නෙ නෑ, එතැනම පහරනවා. පෙර වඩපු සංඛාරයත් ඒ වගේමයි. ඒ ගති ලක්ෂණය නිසා බඩේ කෑම හිටින්නෙ නෑ. විපාකයත් ඒ විදිහටම එනවා. කාක්කා කියන සතා නිතරම බඩගින්නෙ තැවෙන සතෙක්. ඒ තමයි උගේ විපාකයේ හැටි. බඩ පිරෙන්න වෙනත් ක්‍රමයක් නැති නිසා, උන්ට දෙන දානයක් හැටියට එළඟි තෙල් සහිත පාන්කඩ, කිරිබත් එක්ක දෙනවා. ඒ ටික කෑවම උගේ දවසකට බඩ පිරෙනවා. **බඩගින්නෙ ඉන්න අයට කන්න දීම, දුගී මගී යාචකයින්ට කන්න දීම, බලු කපුටු දාන දීම, තම තමන්ගෙන් සංසාරෙදි වෙච්ච අවැඩ අසාධාරණ විදිහට අනුන්ට නොදී කාපු විපාක නැවත ගෙවල බේරෙන ක්‍රමයක්.**

ඉතින් ග්‍රහ ලෝකවල කිරණ පුද්ගලයන්ට බලපාන්නෙත් මේ ☞

ආකාරයෙන්ම වූ හේතු ඵල ක්‍රමයකට. එතනදි ඒරාෂ්ටක කියල දෙයක් තියෙනවා. මේ කාරණය මීට කලිනුත් පැහැදිලි කළා. රංචුවක් එකතු කරගෙන ගිහින් එකෙකුට පහර ගැහුවම, ඒකෙ විපාක වශයෙන් ඒරාෂ්ටක කියන බලවත් අපලයකට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. සමූහයක් එකතු වෙලා එක්කෙනෙකුට පහර ගහන කොට ඒ පුද්ගලයට ඒකෙන් මිදෙන්න බැරි වෙනවා. මේ වගේ කර්මයක් කළාම සෙනසුරු ඒරාෂ්ටක වුණ කාලයක බලපානවා. සෙනසුරුගෙ බලය වැඩි වෙලා අනිත් ග්‍රහයින්ගෙ බලය යටපත් වෙනවා. කර්ම විපාකයක් වශයෙන් ඒකෙන් විඳින්න යම් පසුතලයක් නිර්මාණය වෙලා තිබුණ නම් ඒක ඇදිල එනවා. ඊට පස්සෙ රංචුවක් එකතු වෙලා තමන්ටත් පහර ගහනව වගේ, සියළු ග්‍රහයින්ගෙ තියෙන නරක විස කිරණ තමන්ට ගෝචර වෙන්න පසුතලය හැදෙනවා. ග්‍රහයො නව දෙනෙක්ගෙන් අට දෙනෙක්ගෙ බලය එක අතට ගන්නවා කියන එකයි ඒරාෂ්ටක කියන්නෙ. එක් කෙනෙක්ගෙ රාජ්‍යයට අටක් මෙල්ල කර ගන්නවා. සෙනසුරුගෙ රාජ්‍යයට, සෙනසුරුගෙ බලයට අනික් ග්‍රහයො අට දෙනාගෙ බලය මෙල්ල කර ගන්නවා.

සාසනය තුළ එක් කෙනෙක් දානයක් හදල සීයකට විතර අතගස්සනවා. ඒ කියන්නෙ එක් කෙනෙක්ගෙ සත් ක්‍රියාවකින් තව සිය දෙනෙකුට ඒකට සහභාගි වෙන්න අවස්ථාව ලැබිල, ඔවුන්ටත් අනුමෝදන් වෙන්න පුළුවන් වෙනවා. මෙහෙම ලොකු පිරිසක් හවුල් කරගෙන දාන දීම ඒරාෂ්ටක අපල ගෙවා ගන්න තියෙන හොඳ ක්‍රමයක්. නමුත් මේක අද ඉන්න ගොඩක් අය දන්නෙ නෑ. අද ඉන්න බොහෝ උදවිය දානයක් වුණත් බෙදාගෙන කරන්න කැමති නෑ. ''අද තියෙන්නෙ අපේ දානය. වෙන අය දාන ගෙනාවම අපේ දානයෙන් වැඩක් තියෙනවද ?" මේ කියන අනවබෝධයෙන් තමයි අද ගොඩක් උදවිය කටයුතු කරන්නෙ. නමුත් එක් කෙනෙක් දන් දෙන කොට සීයක් අත ගැහුව නම්, ඒ තරමටම සන්තෝස වෙන්න පුළුවන්. දාහක් අත ගැහුව නම් ඊටත් වඩා සන්තෝස වෙන්න පුළුවන්. එක් කෙනෙක් නිසා තව සමූහයක් යහපතක් කර ගත්තොත්, ඒකෙ කුසල විපාකයත් තමන්ට එකතු කර ගත් පිරිස අනුවම ලැබෙනවා. විසාල පිරිසකගෙ ආධාර උපකාර තමන්ගෙ දියුණුවට හේතු වෙනවා. හරියට හොඳ ව්‍යාපාරිකයෙකුට තමන්ට අවංකව සේවය කරන විසාල සේවක පිරිසක් ලැබෙනව වගේ.

ඒරාෂ්ටක අපල තියෙන කාලෙ වෙන කොට අපලකාරයට පළාතෙ ඉන්න බැරුව යනවා. ඒ කියන්නෙ සෙනසුරුගෙ බලය වැඩි වෙනවා. එතකොට නැගිට ගන්න හයි හත්තිය නැති වෙන පිහිටීමක් එනවා. එහෙම වුනාම කවුරු උදව් වෙන්න ලෑස්ති වෙලා හිටියත් පුද්ගලයව ගොඩ ගන්න විදියක් නැතුව යනවා. මේ විදියට විපාක චක්‍රය පිහිටන ක්‍රමවේදයක් තියෙනවා. කෙනෙකුට කියන්න පුළුවන්, මේවා බුදු දහම නෙවෙයිනෙ කියල. ඒත් නුවණින් හිතල බැලුවම මෙතැන තියෙන්නෙත් හේතු ඵල දහමම තමයි, පටිච්ච සමුප්පාද දහමම තමයි කියල ධර්මය අවබෝධ කර ගත් අයට වැටහෙනවා.

බෝසතාණන් වහන්සේට වුනත් බුද්ධත්වයට පත්වෙන්න මේ විශ්වයෙන් සිදු වන පරිසර බලපෑම් තියෙනවා. සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය, සොළොසාසංඛ්‍ය කල්ප ලක්ෂයක් ආදී වශයෙන් පාරමිතා පූර්ණ කර ගෙන ආවත්, ලෝකයේ ඕනෑම තැනක බුදු වෙන්න බෑ. මහා ශක්ති බල පිහිටපු මධ්‍ය මණ්ඩලයේ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ පිහිටන එක් ස්ථානයක් තියෙනවා. කොච්චර පෙරුම් පිරුවත් එතැන හැර වෙන කිසිම තැනක ඉඳ ගෙන ලොව්තුරා බුදු වෙන්න හැකියාවක් නෑ. එතැන ඉඳලත් ඕනෑම පැත්තක් බලාගෙන බුදු වෙන්න බෑ. ඒ බලය පිහිටල, ඒ ඥාන පිහිටන්නෙ නැගෙනහිර දිසාව බලාගෙන හිටියොත් තමයි. ඒ කියන්නෙ බෝධීන් වහන්සේට පිට දීල නැගෙනහිර පැත්තට මුහුණ දීල ඉඳ ගන්න ඕන.

ඊළඟට එතැනම තමයි පාරමිතා ශක්තියෙන් වජ්‍රාසනයක් පැන නැගෙන්නෙත්. නැගෙනහිර බලාගෙන ඉඳ ගත්තත් ඒක වෙසක් පුර පසළොස්වක පොහොය දිනයක උදෑසනක් වෙන්නත් ඕන. එතකොට ඖෂධ ශක්තියකුත් අවශ්‍ය වෙනවා. ඒ සඳහා කුස තණ ඕන වෙනවා. ඒ වගේම ඊට පෙර දිනයේ දහවල් දිය නුමුසු කිරි බත් දානයක් වළඳල තියෙන්නත් ඕන. කුස තරුණ බවට පත් කිරීම තමයි කුස තණ කියන්නෙ. මේ අවස්ථාවෙ ගන්න දානය බත් පිඬු 49 ක් බවට පත් කරල තමයි ගන්නෙ. ඒව එක පාරටම දිරවන්නෙ නැතිව කාලයක් තියාගෙන තරුණ බවට පත් කරනවා. දවසකට එක බත් පිඬ ගානෙ දින 49 ක් (සති 7 ක්) ඇතුළත තමයි ඒ ටික දිරවන්නෙ. ඉතින් මේ කුස තණ මිටි 8 ක් දාල ඉඳ ගත්තම සම්පූර්ණයෙන් පා වෙලා හිටින මානසිකත්වයක් එනවා. ඒක උන් වහන්සේගෙ බුද්ධත්වයටම ලැබෙන ප්‍රත්‍යයක්. ඒකෙන් මුළු ශරීරයේම ස්නායු ප්‍රාණවත් කරල තියා ගන්නවා. අදටත් යෝගීන් මේ කුස තණ විවිධ බෙත් වශයෙන් පාවිච්චි කරනවා.

මේ ආකාරයට මේවා ධර්මතාවයෙන්ම පිහිටනවා. ඒ පාරමිතා ශක්තියෙන් පෙරුම් පුරාගෙන ආපු විදිහට, කිරි බතක් ප්‍රණීත ආහාරයෙන් සැකසිලා යම් කෙනෙක්ගෙන් ලැබෙනවාමයි. ඒ වගේම පාරමිතා පුරපු කවුරු හරි කෙනෙක් කුස තණ ටිකත් ලබා දෙනවාමයි. ඒකත් සිද්ධ වෙන්නෙ ඒ පාරමිතා ශක්තියෙන්. පෙරුම් පුරන බෝසතාණන් වහන්සේ කොහේ හිටියත්, ඒ මහා ශක්ති බල පිහිටපු මධ්‍ය මණ්ඩලයේ ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ පිහිටන ස්ථානයට බුදු වෙන දවසට වඩිනවා. ඒ කියන්නෙ පාරමිතා ශක්තියත් මේ විශ්ව බලයත් එක්ක සම්බන්ධ වෙලා තමයි ලොව්තුරා බුද්ධත්වයට පත් වෙන්නෙ. අප්‍රමාණව වීර්ය වඩල, පාරමී පුරල බුද්ධත්වයට පත් වීම ඉතාමත් විශේෂ වූ දෙයක්.

අම්ම කෙනෙක් කෑම ටික උයල තමනුත් බඩගින්න නිවා ගෙන, පවුලේ අනික් අයගෙත් බඩගින්න නිවනවා. එතකොට පවුලෙ අනික් අයට තමන්ගෙ බඩගින්න නිවා ගන්න ළිප ඕනද ? හැලි වළං ඕනද ? දර ඕනද ? ගින්දර ඕනද ? නෑ, මේ මොකුත් ඕන නෑ. හැබැයි අම්මට නම් ළිප නැතුව, හැලි වළං නැතුව, දර නැතුව, ගින්දර නැතුව කෑම උයන්න, බඩගින්න නිවා ගන්න බෑ. ඒකට අම්මා විසාල පරිශ්‍රමයක් දරනවා. අම්මා මහන්සි වෙලා මේ කරපු දේ වගේ, අමා මෑණී බුදු පියාණන් වහන්සේ සියල්ල එකතු කරගෙන මූලික අවස්ථාව ලබා දෙනවා. අම්මා උයා පිහා ගත්ත ආහාරය දරුවන් අතරෙ ආදරෙන් බෙදා දුන්න වගේ, අමා මෑණී බුදු පියාණන් වහන්සේත් තමන් අවබෝධ කර ගත් ධර්මය ලෝක සත්වයාට ලබා දුන්නා. ඉතින් ඒ විදිහට දුන්න ධර්මය තුළින් අරිහත්වය පූර්ණ කර ගන්න කල් කටයුතු කර ගැනීමේ හැකියාවක් තියෙනවා. බුදුන් වහන්සේ අපට දුන්න ධර්මයෙන්, අම්මා උයල දීපු ආහාරයෙන් බඩගින්න නිවා ගන්නව වගේ වැඩක් තමයි අපට කරන්න තියෙන්නෙ. අම්මා කෑම ටික උයල කර ගත්තෙත් බඩගින්න නිවා ගත්ත එක. දරුවන් කෑම කාල කර ගත්තෙත් බඩගින්න නිවා ගත්ත එක. හැබැයි අම්ම කරපු දේ කිසිම දේකට සම කරන්න බෑ වගේ තමයි, බුදු පියාණන් වහන්සේ තනිවම අවබෝධ කර ගත්ත දහම අපට ලබා දීපු කිසිම දේකට සම කරන්නත්, ඒ වගේම ඒක වර්ණනා කරල නිම කරන්නත් බෑ.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

**6 වන කොටස**

පසුගිය කලාපයේ වාස්තු විද්‍යාව සම්බන්ධයෙන් පළවූ ලිපියේ 27 වන පිටුවේ, මනුස්ස කයත් ධන කිරණ කයක් නිසා විදුලිය ගමන් කරන්නෙ නෑ කියල සඳහන් කිරීම, සමහර විට කෙනෙකුට ගැටළුවක් වෙන්න පුළුවන්. මොකද මනුස්ස ශරීරයටත් විදුලි සැර වදින නිසා. නමුත් එතනින් අදහස් කළේ, ඒ මට්ටමේ විදුලිය සන්නයනය වීමක් ගැන නෙවෙයි. යකඩවලට සාපේක්ෂව ගත්තම මනුස්ස ශරීරයේ විදුලි සන්නායකතාවය ඉතාමත් අඩුයි. කොටින්ම කියනව නම්, කම්බියක් විදුලි කෝෂයකට සම්බන්ධ කරල විදුලි බුබුලක් දල්වනව වගේ, මනුස්ස කය හරහා ඒ මට්ටමේ විදුලිය සන්නයනය වීමක් වෙන්නෙ නෑ.

ඊළඟට අද ලිපියෙන් ප්‍රධාන වශයෙන්ම කියන්න යන්නෙ වාස්තු විද්‍යානුකූලව දිසාවන්ගෙන් මනුස්සයින්ට එන බලපෑම ගැන. එතනදි ප්‍රධාන කාරණයක් තමයි නිදාගන්න කොට හිස හිටින දිසාව. අද වෙන කොට හුඟක් අය දන්නෙ බස්නාහිරට හිස හිටින්න නිදා ගන්න හොඳ නෑ කියන කාරණය විතරයි. විශේෂයෙන් ඒ කතාවත් බෞද්ධයින් අතර තමයි විස්වාස කරන්නෙ. හේතුව විදිහට කියන්නෙ මළ මිනී බස්නාහිරට තියන නිසා ගැලපෙන්නෙ නෑ කියල. ඒ කාරණය මීට පෙරත් මේ ලිපි පෙළෙන් විග්‍රහ කරල තියෙන නිසා නැවත විස්තර කිරීම අනවශ්‍යයි.

එහෙනම් නිදා ගන්න කොට හිස තියන්න සුදුසුම දිසාව මොකක්ද? විද්‍යානුකූලව හේතු ඵල සම්බන්ධය අනුව ඒ කාරණය දැන ගැනීම වැදගත්. හොඳම දිසාව තමයි නැගෙනහිර. ඇයි එතකොට උතුරට, දකුණට හිස හිටින්න ඒ තරම් සුදුසු නැත්තෙ ? මනුස්ස ශරීරයේ 80% ක් විතර තියෙන්නෙ ජලය. ජල ධාරිතාව වැඩියි. ඒ කියන්නෙ $H_2O$ කියන හයිඩ්‍රජන් පරමාණු 2 යි, ඔක්සිජන් පරමාණුවයි සම්බන්ධ වෙලා ඇති වෙච්ච අණුවලින්. එතනදි ඔක්සිජන් සෘණ ආරෝපිතයි, හයිඩ්‍රජන් ධන ආරෝපිතයි. ජල අණුවක් ගත්තොත් අංශක 104.5 ක කෝණයකින් තමයි මේ පරමාණු 3 සම්බන්ධ වෙලා තියෙන්නෙ. එතකොට මේක ධන සෘණ මිශ්‍ර අණුවක්. හරියට පුංචි කාන්දම් කැල්ලක් වගේ. ජල අණුවක් මූලිකවම ආකෘතියක් විදිහට අරගෙන බැලුවොත්, ඒ විදිහෙ හැඩයකට තමයි හැදිල තියෙන්නෙ.

දැන් එතකොට කෙනෙක් උතුරු දිසාවට හිස දාල නිදා ගන්න කොට, ශරීරයේ දිග අතට සිද්ධ වෙන අභ්‍යන්තරයේ ලේ ගමනාගමනයෙදි, රුධිරයේ තියෙන ජල අංශුවලට උතුරෙන් එන චුම්භක ක්ෂේත්‍රය කෙළින්ම බලපානවා. එතකොට ශරීරයේ තියෙන ජල අණුවල ධ්‍රැව දෙක (ද්විධ්‍රැව) අර උතුරින් එන පෘථිවි කාන්දමට අහු වෙලා දිසාගත (Polarization) වීමක් වෙනවා.






ශරීරයේ තියෙන සියලු ජල අණු උතුරු-දකුණු දිසාවට පෙළ ගැහෙන්න පටන් ගන්නවා. මොකද අර කාන්දම් ක්ෂේත්‍රය නිසා. උදාහරණයක් විදිහට මාලිමා යන්ත්‍ර 10 - 15 ක් විතර එක දිගට පෙළට තිබ්බොත්, ඒ සියල්ලේම කටු එක අතකට දිසා ගත වෙනව වගේ. ඒ වගේ, ශරීරයේ තියෙන ජල අණු දිසාගත වෙනවා. එතකොට හරියට දම් වැලක් වගේ ශරීරය ඇතුලෙ ජල අණු එකට බැඳිල එකට ගමන් කරනවා. දැන් මොකද වෙන්නෙ, හෘදය වස්තුවට රුධිරය පොම්ප කිරීමට අවශ්‍ය බලය කලින් වගේ දෙන්න අමාරු වෙනවා. ඒ සඳහා කලින්ට වඩා පීඩනයක්, ශක්තියක් වැය වෙනවා. ඒ නිසා ශරීරයේ රුධිර සංසරණය අඩු වෙනවා. දැන් මේ විදියට පැය කිහිපයක් එක දිගට නිදා ගෙන උදේට නැගිට්ටම ඇඟට හරි අමාරුයි. ඒත් මොකද වෙලා තියෙන්නෙ කියල කියන්න තේරෙන්නෙ නෑ. හරියට නිකං අධික ලෙස මත් පැන් පානය කරපු කෙනෙක් රෑ නිදාගෙන උදේට නැගිට්ටම, පොළවෙ පය ගහන්න බෑ වගේ හරි අමාරුයි. මේ කාරණය ප්‍රායෝගිකව අත්හදා බලන්න පුළුවන්.

දැන් උතුරට නැතිව දකුණට හිස හිටින්න නිදා ගත්තත් ඒ ක්‍රියාවලියෙම අනිත් පැත්ත තමයි සිද්ධ වෙන්නෙ. මොකද එතකොට කකුල් දෙක උතුරු පැත්තට හිටින්නෙ. ඒත් චුම්භක ක්ෂේත්‍රය නිසා ශරීරයේ ජල අණු අර විදිහටම එක අතකට දිසාගත වෙනවා. හැබැයි නැගෙනහිරට හිස තියල නිදා ගත්තම ලේ ගමන් කරන්නෙ චුම්භක ක්ෂේත්‍රයට ලම්භකව නිසා, දැන් ඒ චුම්භක ක්ෂේත්‍රයේ බලපෑමක් එන්නෙ නෑ. ඒ නිසා ගැටළුවක් නැතිව සාමාන්‍ය විදිහට ලේ ගමනාගමනය සිද්ධ වෙනවා. එතකොට බටහිරට හිස හිටියත් මේ සිද්ධියෙදි ගැටළුවක් වෙන්නෙ නෑ. නමුත් අර කලින් විස්තර කරපු අමනුස්ස සිද්ධිය බලපාන්න පුළුවන්. මොකද බටහිරට ඔළුව දාන්නෙ මැරිච්ච එවුන් කියල හිතල, මැරිලද කියල බලන්න බැල්ම දාන්න අමනුස්සයො පෙළඹෙනවා. ඒකෙන් නැති ලෙඩක් එන්න පුළුවන්.

ඊළඟට ඊසාන, ගිනි කොණ, නිරිත, වයඹ වගේ අනු දිසාවන් ඒ තරම්ම නොගැළපෙන්නෙ මේ වගේ ක්‍රියාවලියක් නිසා නෙවෙයි. උතුරේ සිට දකුණට කාන්දම් කිරණ ශක්තිය නිසා හොඳ නෑ. නමුත් නැගෙනහිර සිට බටහිරට එන්නෙ කොස්මික් කිරණ. ඒ කියන්නෙ පෘථිවිය කැරකෙන කොට නැගෙනහිර පැත්තට හරියටම සම්මුඛ වෙනවා. එතකොට සූර්යාගෙන් එන කොස්මික් කිරණ නැගෙනහිර දිසාවෙන් එල්ල කරලම එනවා. හරියට වාහනයක් ගමන් කරන කොට ප්‍රතිවිරුද්ධ අතට වායුව ගමන් කරනව වගේ. ඒ එන කොස්මික් ☞

කිරණ මනුස්සයින්ට බොහොම ප්‍රයෝජනවත්. එතකොට අර අනු දිසාවලින් ඒ ක්‍රියාවලිය හරියට සිද්ධ වෙන්නෙ නැති නිසා නැගෙනහිර තමයි හොඳම දිසාව. ඒ නිසා ගෙදරක වුනත් නැගෙනහිර දිසාවෙන් දොරක් නැත්නම් ඒ කිරණ නිවසට එන්න විදිහක් නැතිව යනවා.

මෙතනදි ශක්ති ප්‍රභේද 2 ක් තියෙනවා. එකක් උතුරින් එන ශක්තිය, අනික නැගෙනහිරින් එන ශක්තිය. මේ උතුරින් එන කාන්දම් ශක්තියත් මනුස්සයින්ට අවශ්‍යයි. නමුත් අර විදිහට ශරීරයේ රුධිර ගමනාගමනය සිද්ධ වෙන දිසාවටම සෑහෙන වෙලාවක් ඒ චුම්භක ක්ෂේත්‍රය හිටියම, ජල අණුවල සිදු වන දිසාගත වීමෙන් ඒ ක්‍රියාවලියට බාධා වෙන නිසා තමයි අර විදිහට නිදා ගැනීම සුදුසු නෑ කිව්වෙ. එහෙම නැත්නම් උතුරින් එන කිරණ ශක්තියත් හුගක් ප්‍රයෝජනවත්. මොකද මේ කාන්දම් ශක්තියට අනුකූලවම තමයි විශ්වයේ සියල්ල නිර්මාණය වෙලා තියෙන්නෙ. ඒ නිසා භාවනා කරන කොට වෙනත් ඉරියව්වකින් ඉන්න නිසා, නිදා ගන්න කොට තියෙන චුම්භක ක්ෂේත්‍රයේ බලපෑම එන්නෙ නෑ. එතැනදි භවනා කටයුතුවලට වඩාත් සුදුසු වෙන්නෙ උතුර හෝ නැගෙනහිරට මුහුණ දාල ඉඳ ගැනීම. මොකද අර ශක්ති ප්‍රභේද නිසා. ඒ නිසා කරන කටයුත්ත / ඉරියව්ව අනුවත් දිසාවෙන් එන ගුණ අගුණ වෙනස් වෙනවා. ඉතින් මේ කාරණය දැන් විද්‍යාවෙන් දැන ගන්නත් පෙර, ලෝකයේ පහළ වූ මහා විද්‍යාඥයා බුදුන් වහන්සේ අතැඹුලක් සේ දැන ගත්තා. ඒ නිසා තමයි ධර්මතාවයක් විදිහටම මහ බෝසතාණන් වහන්සේ නමක් බුදු වෙන්න නැගෙනහිර දිසාවටම මුහුණ දාල ඉඳ ගන්නෙ.

දැන් මේ දිසාව කියන කාරණය මනුස්සයින්ට විතරක් නෙවෙයි, ගස් වැල්වලටත් බලපානවා. ඒ නිසා ගහක් ගලවල වෙනත් තැනකින් හිටවනව නම්, ගහ ගලවන්න කලින් මාලිමා යන්ත්‍රයක් ගහ ළඟින් තියල ඒ ගහේ උතුරු පැත්ත හොයා ගන්න ඕන. එහෙම නැතිව නිකං ගහ ගලවල ඔහේ හිටෙව්වට හරි යන්නෙ නෑ. ගහ ගලවන්න කලින් අර විදිහට ගහේ උතුරු දිසාව හොයා ගෙන ගහේම ලකුණු කර ගෙන, ඒක අරගෙන ගිහින් අලුතින් හිටවන තැන තියල, අර විදිහටම ඒ ස්ථානයේ මාලිමා යන්ත්‍රයක් ආධාරයෙන් උතුරු දිසාව හොයා ගන්න ඕන. දැන් ඒ ස්ථානයේ එන උතුරු පැත්තටම වෙන්න, අර ගහේ ලකුණු කරපු උතුරු පැත්ත හිටින්න ගහ හිටවන්න ඕන. මේක විද්‍යාත්මක ක්‍රමයක්. බුදු දහම අනුව නාම රූප හැදෙන හැටි තමයි මේකෙන් පෙන්වන්නෙ.

ගහ ගලවන්න පෙර, මුලින් එතැන පටන් ගන්න කොට ගහක් තිබුනෙ නෑ. දැන් බීජය පැළ වෙලා ගහක් හැදෙන්න පටන් ගත්තම, ඒ ස්ථානයට කාන්දම් සහ කොස්මික් කිරණ ආදියේ බලපෑම නිසා ඒක පාදක කර ගෙන යම් කිසි ආකෘතියකට අනුව තමයි ගහ හැදෙන්නෙ. දැන් ගහ හැදිල ටික දවසක් යන කොට ඒ ස්ථානයේ පරිසරයට, ඒ ආකෘතියට ගහ හොඳට හුරු වෙනවා, අනුවර්තනය වෙනවා. දැන් ඒ පුරුදු වෙච්ච ක්‍රමයට ගහ හැදෙනවා. ඒ නිසා දැන් ඒ ගහේ පැත්ත මාරු කරල වෙනත් දිසාවකට හිටෙව්වොත් ඒ ක්‍රම රටාව සම්පූර්ණයෙන් අවුල් වෙනවා. මොකද අර කලින් තත්ත්වයට අනුවර්තනය වෙලා දැන් ඒ අලුත් දිසාව




පුරුදු නෑ. එතකොට ගහ බාල වෙනවා. ගහේ සියලු ද්‍රව්‍ය, කාන්දම් චක්‍රයට අනුව හැදිච්ච භ්‍රමණ චක්‍ර දැන් අවුල් වෙනවා. නමුත් ඒ ගහ කලින් තිබ්ච්ච දිසාව අනුව හිටෙව්වම එහෙම වෙන්නෙ නෑ.

පෝච්චියක හිටෙව්ව ගහක් හරියට හැදෙන්නෙ නැත්තෙත් මේ හේතුව නිසා. මොකද පෝච්චිය නිතරම කරකවන කොට දිසානතිය වෙනස් වෙනවා. එතකොට ඒ හැඩ ගැසීමත් වෙනස් වෙනවා. දැන් ස්වභාව ධර්මය අනුව නෙවෙයි, වෙන විදිහකට තමයි ගහ හැදෙන්නෙ. හැබැයි ඒකට හුරු වෙන්න හරි අමාරුයි. මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කරනව නම්, හරියට මනුස්සයෙකුට ඔළුවෙන් හිට ගෙන ඇවිදින්න කියනව වගේ වැඩක්. දැන් මනුස්සයත් සම්පූර්ණයෙන් නන්නත්තාරයි. කොහෙ යන්නද, මොනව කරන්නද මොකවත් තේරෙන්නෙ නෑ. හැබැයි කකුල් දෙකෙන් හිට ගෙන ඉන්න කොට ඒව ඔක්කොම තේරෙනවා, හොඳට හුරුයි. නමුත් දිගු කාලයක් ඔළුවෙන් හිටවල ඇවිද්දෙව්වොත්, ඒකට අනුවර්තනය වෙලා යම් මට්ටමකට තේරෙනවා. ඒත් අර කකුල් දෙකෙන් හිටගෙන ඉන්නව වගේ පරිපූර්ණ වැටහීමක් නෑ.

ඒ වගේම මේ කාරණය උළුවස්සක උඩ සහ දෙපැත්ත කියන තුන් පැත්තෙන් ලී තියන කොටත් බලපානවා. උළුවස්සකින් හරියට ශක්තිය ඇදල ගන්න නම් ඒ උළුවස්සට ගන්න ලී ස්වභාවිකව පිහිටි ආකෘතියට අනුවම හයි කරන්න ඕන. ඒ නිසා තමයි පෙර හිටපු පැරැන්නො උළුවස්සෙ උඩ හරස් අතට සවි කරන්න, ගහක හරස් අත්තක තියෙන ලීයක්ම යොදා ගත්තෙ. මොකද ඒ අත්ත ගහට හිටල හැදිල තියෙන්නෙ හරස් අතට චුම්භක ක්ෂේත්‍රයත් එක්ක කිරණ ශක්තිය ක්‍රියාත්මක වෙන විදිහට. ඒ විදිහට තමයි අජීවී වස්තුවක් වුනත් හුරු වෙලා තියෙන්නෙ. දහමට අනුව කියනව නම්, නාම රූප සියල්ලම බැහැ ගෙන තියෙන්නෙ ඒ විදිහට. ඒ කියන්නෙ පිහිටි ස්වභාවයෙන්. දැන් ඒ පිහිටි ස්වභාවයෙන්ම ඒ ලී කෑල්ල උළුවස්සට සවි කළොත් තමයි අර කලින් වගේ ස්වභාවිකව ශක්තිය ක්‍රියාත්මක වෙලා හොඳින් ඵල දෙන්නෙ. නමුත් උළුවස්ස හදද්දි ගහේ හරස් අත්තෙන් කපා ගත්තු ලීය, උළුවස්ස හරහට නොදා දෙපැත්තෙ සිරස් අතට තියෙන ලී වෙනුවට සවි කළොත්, දැන් අර ගහේ අත්ත හැදිච්ච කාන්දම් ක්ෂේත්‍රයට, භ්‍රමණ චක්‍රවලට ප්‍රතිවිරුද්ධව තමයි ක්‍රියාත්මක වෙන්නෙ. එහෙම නැත්නම් ගහේ සිරස් අතට තියෙන කඳ කොටසේ ලී කෑල්ලක් උළුවස්සෙ තිරස් අතට සවි කළාමත් මේ වගේ දෙයක් තමයි සිද්ධ වෙන්නෙ. එතකොටත් අර චක්‍ර අවුල් වෙනවා. ඒ නිසාම තමයි උළුවස්සක දෙපැත්තෙ සිරස් අතට දාන ලී කෑලි දෙකට ගහේ කඳ කොටසින් හදා ගත්තු සිරස් ලී දෙකක් මුල් පැත්ත යටට හිටින්න යොදන්න කියන්නෙ. ඒක විශේෂයක්.

ඒ කියන්නෙ ගහක් පිහිටි පොළවෙ තියෙන විදිහට යට පැත්තෙ කොටස උළුවස්සෙ සිරස් අතට යට පැත්තට හිටින්න යොදන්න ඕන. මොකද ගහ විශ්වයට අනුගත වෙලා තියෙන්නෙ. එතකොට ලීයෙ යට (මුල) පැත්ත උළුවස්සෙ උඩට හිටින්න හරවල සවි කළොත්, අර ස්වභාවිකව හැදිච්ච ආකෘතියට ප්‍රතිවිරුද්ධව තමයි ක්‍රියාත්මක වෙන්නෙ. හරියට මනුස්සයෙක් ඔළුවෙන් හිටෙව්ව වගේ. ඒ කියන්නෙ ස්වභාව ධර්මයට උපරිම ළං වෙන විදිහට ගෙයක් වුනත් හදන්න කියන එක තමයි මේ කියන්නෙ. මොකද ස්වභාව ධර්මයට අනුවයි ගහේ ලී හැදිල තියෙන්නෙ. එතකොට ඒවායින් හරියට ප්‍රයෝජන

# අන්තරා භවයක් පිළිගැනීම අධර්මයක්ද ?

*(පසුගිය කලාපයෙන් - මත භේදාත්මක වූ අන්තරාභවිකයා හෙවත් ගන්ධබ්බයා)*

අන්තරා භවය සම්බන්ධයෙන් විස්තරාත්මක ලිපි පෙළක් මීට පෙර මේ සඟරාවෙන් ඉදිරිපත් කළා. ඒ කරුණු වඩාත් පැහැදිලි කර ගැනීම පිණිස ඒ සම්බන්ධයෙන් සාරාංශ ගත කරන ලද තවත් ආකාරයක ලිපියක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

අන්තරා භවය කියන්නෙ ඈත අතීතයේ පටන්ම වාද විවාදවලට ලක් වෙච්ච ප්‍රධාන කාරණයක්. වර්තමානයේ ථේරවාදී සංකල්පය තුළ මේ කාරණය ධර්ම විරෝධී මතයක් විදියට බැහැර කරන බව පෙනී යනවා. නමුත් හේන්පිටගෙදර ඥානසීහ, කන්නිමහර සුමංගල, බලංගොඩ ආනන්ද මෛත්‍රී වගේ විමර්ශනශීලී යතිවරුන්, අන්තරා භවයක් තියෙන බව හේතු සාධක සහිතව යම් මට්ටමකට කරුණු පෙන්වා දීල තියෙනවා. ඒ වුනත් අදත් ගිහි පැවිදි බහුතරයක් අන්තරා භවයට විරුද්ධව මත ප්‍රකාශ කරන බව පෙනී යනවා. බුද්ධ වචනය නිවැරදිව අර්ථ විවරණය කර ගැනීමට නොහැකි වීමත්, සාම්ප්‍රදායික ධර්ම විරෝධී මත කරපින්නා ගැනීමත් තමයි ඒකට හේතු වෙලා තියෙන්නෙ.

අන්තරා භව කියන වචනය බුද්ධ දේශනාවෙ නැතත්, මරණයත් උපතත් අතර අවස්ථාව බුද්ධ දේශනාවෙ හඳුන්වා දීල තියෙන්නෙ ගන්ධබ්බ, සංජාති කියන වචනවලින්. ජාතිය විග්‍රහ කරන දේශනාවෙ ජාති, සංජාති, ඔක්කන්ති, අභිනිබ්බත්ති, ඛන්ධානං පාතුභාවෝ, ආයතනානං පටිලාභෝ කියල කාරණා හයක් පෙන්වා තියෙනවා. කෙනෙක්ගෙ මරණින් පසු (කර්මක්ඛය හෝ උභයක්ඛය) ඊළඟ ජාතිය තීරණය වෙන්නෙ මරණාසන්න අන්තිම චිත්ත වීථිය තුළදි. උදාහරණයක් විදියට යම් සත්ත්වයෙක් මේ ජීවිතයෙන් පසු චුත වෙලා මනුස්ස ජාතියේ උපත ලබනව කියල හිතුවොත්, මරණාසන්න අන්තිම චිත්ත වීථියෙදි මනුස්ස ජාතියේ ඉපදීමට කර්මානුරූපව තීන්දුව ලැබෙනවා. මේ තීන්දුවෙදි සත්ත්වයා මරණයට පත්වෙන්න පෙර, අවසාන චිත්ත වීථිය තුළ මිනිස් ගන්ධබ්බයා සකස් වෙනවා. ඉහත කාරණා හයේ ජාතිය විදියට හඳුන්වන්නෙ මේ අවස්ථාව.

මේ විදියට මිනිස් ජාතියේ ඉපදීමට තීරණය වූ කෙනා, චිත්ත වීථිය අවසන් වෙනවත් එක්කම මනුස්ස ගන්ධබ්බයෙක් විදියට මේ කය අතහැරල අන්තරා භවයේ සැරිසරනවා. ඉහත කාරණා හයේ සංජාති කියල හඳුන්වා තියෙන්නෙ මේ මනෝමය කායික අන්තරා භව අවස්ථාව. මේ ගන්ධබ්බයා තමයි කර්මානුරූපීව මවු ගැබකට බැස ☞

ගන්න නම්, ඒ ස්වභාවික පිහිටීමට අනුකූල වෙන විදිහට තමයි සකස් කරන්න ඕන. ලීය අනිත් පැත්ත ගැහුවම, ස්ව කියන තමන්ගෙ භාවය අවුල් වෙනවා.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ගහක් කපල ලී ටික ඉරා ගත්තට පස්සෙ ගහේ අග මුල හොයන්නෙ කොහොමද කියල. නමුත් සරල විද්‍යාත්මක ක්‍රමයකට ඒකත් හොයා ගන්න පුළුවන්. ලීය හතරැස් කරල දෙපැත්තෙන් කපල, හරි දිග මැනල දෙකට බෙදා ගෙන, ඒ මැදින් ඇණයක් ගහල එල්ලුවොත්, පහත් වෙන පැත්ත තමයි බර පැත්ත. ඒ කියන්නෙ ගහේ මුල පැත්ත. එහෙම නැත්නම් අර විදිහට මැන ගෙන, හරි මැදට පිහි තුඩක් තියල සමබර කරන්න බැලුවොත් බර පැත්ත යටට යනවා. එතකොට ගහක බර එන්නෙ හැම තිස්සෙම පොළව පැත්තට හෙවත් මුල පැත්තට. එහෙනම් උළුවස්ස දෙපැත්තෙ සිරස් අතට යොදන ලීවලට, ගහේ කඳ කොටසින් ගත්තු ලීවල බර පැත්ත පහළට හිටින්න තමයි හයි කරන්න ඕන. මේ කාරණය උළුවස්සකට විතරක් නෙවෙයි, ගෙදරක තියෙන දොර ජනෙල් ආදියටත් යොදා ගන්න පුළුවන්. ගහක් කපල ලී ඉරන කොටත් ඒවායේ පිහිටි දිසාවන් ලකුණු කර ගෙන ඒ ලී / ලෑලි දොර ජනෙල්වලට ඒ පිහිටි දිසාවටම එන විදිහට හයි කරන්න පුළුවන් නම් වඩා හොඳයි. හැබැයි ඉතින් ඒක බොහොම මහන්සි වෙලා කරන්න ඕන වැඩක්.



දැන් මේ කාරණය ඔප්පු වෙන සිද්ධියකට වහරක අභයරතනාලංකාර හිමියන්ටත් මුහුණ දෙන්න සිද්ධ වුණා. පන්සලේ හදපු ගොඩනැගිල්ලක ප්‍රධාන උළුවස්ස හයි කරන කොට එක් අවස්ථාවක මල් කැටයමක් දාපු කොටස වරද්දල උඩ යට මාරු වෙලා තිබුණා. මල් වැලේ කැටයමක එක මනුස්සයෙක්ගෙ ඔළුව පහළටත්, කකුල් දෙක ඉහළටත් හිටින්න තමයි හයි කරල තිබුණෙ. එතකොට ප්‍රතිවිරුද්ධව ක්‍රියාත්මක වෙන්නෙ. ඊට පස්සෙ උන් වහන්සේ භාවනා කරන කොට සමාධි වැඩෙන්නෙ නැතිව ගියා, හිර වෙන්න ගත්තා. බලන කොට මේ උළුවස්සෙ දෝසය අහුවුණා. ඉතින් ඒ දෝසය ඉවත් කරල නිවැරදිව හැරෙව්වම තමයි යථා තත්ත්වයට පත් වුණේ. හැබැයි බැරි වෙලා හරි ඒ දෝසය තියෙද්දි උළුවස්ස එහෙම වැරදියට ස්ථිරව හයි කරල දිගටම තිබුණ නම් උන් වහන්සේ එක තැන් වෙන්නත් තිබුණා. නමුත් ඒවත් කර්ම විපාක අනුවම තමයි සිද්ධ වෙන්නෙ. කොහොම හරි අපි ගෙවල් හදද්දි කර්මානුරූපීව නිවැරදිව හැදිල තියෙනව කියන්නෙ කරපු පින් කුසල් නිසා. මොකද හේතුවට අනුකූලයි ඵලය. වාස්තු දෝසයක් වුනත් නරකට හිටින්නෙ කරපු අකුසල් විපාකයක් එන කොට. නමුත් ප්‍රයෝග සම්පත්තියෙන් ඒවා මග හැරල යන්න අපි දැන ගන්න ඕන.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ගන්නෙ. ගන්ධබ්බෝච පච්චුපට්ඨිතෝ හෝති, ගන්ධබ්බා අවක්ඛන්ති (ඔක්කන්ති) හොන්ති කියල සඳහන් වෙන්නෙත්, අන්තරාභවිකයා මවු ගැබකට බැස ගැනීම. මේ විදියට බැස ගත්තු ගන්ධබ්බයා මවු ගැබ තුළ වැඩීම අභිනිබ්බත්ති කියල හඳුන්වනවා. ඒ වැඩුනට පස්සෙ ස්කන්ධයන්ගේ පහළ වීමත්, ආයතන ප්‍රතිලාභයත් සිද්ධ වෙනවා. මේ කාරණා හයේ ප්‍රභේදය නිවැරදිව තෝර ගන්න බැරි වීම නිසා, සංජාතික නම් අන්තරා භවය විග්‍රහ වෙන බුද්ධ දේශනාව යටපත් වෙලා තියෙනවා.

අන්තරා භවයට විරුද්ධව කරුණු දක්වන බොහොමයක් උදවිය, තමන්ගෙ මතය සනාථ කරන්න ඉදිරිපත් කරන ප්‍රධාන සාධකයක් තමයි, දහමෙ සඳහන් වන චුති - පටිසන්ධි කතාව. අද වෙනකොට පටලවාගෙන තියෙන ප්‍රධාන න්‍යාය ධර්මයක් තමයි මේ. මේ අන්තරා භව කතාව යම් පමණකට හරි පිළිගත්තු, ඒ වගේම ඒ කාරණය ඔප්පු කරන්න උත්සාහ ගත්තු නායක හාමුදුරුවරුන් අතර එක් නමක් තමයි, අපවත් වී වදාළ බලංගොඩ ආනන්ද මෛත්‍රී හාමුදුරුවො. උන්වහන්සේ අන්තරා භවය පිළිගත්තත්, ඒ සම්බන්ධයෙන් සමහරු අහපු ප්‍රශ්නවලට උත්තර දෙන්න බැරි වෙලා තියෙනවා. අන්තරා භවයක් පිළිගත්තොත් ඒ කාරණය චුති - පටිසන්ධියට ගලපන්නෙ කොහොමද කියල එක් අවස්ථාවක ප්‍රශ්නයක් ඇහුවම, තමන්ටත් ඒ කාරණය ගැටළු සහගත බවත්, කවුරුහරි ඒ කාරණා දෙක ගලපල පෙන්වනව නම් ඒක අගය කොට සළකන බවත් උන්වහන්සේ නිහතමානීව ප්‍රකාශ කරල තිබුණා. ඒකෙන් පේන්නෙ උන්වහන්සේටත් අන්තරා භවය සහ චුති - පටිසන්ධිය අතර ලිහාගන්න බැරි ගැටළු තිබිච්ච බව.



අභිධර්මයේ මරණාසන්න චිත්ත වීථිය තුළ, චුතිය සහ පටිසන්ධිය සිද්ධ වෙන්නෙ කොතැනද කියල පැහැදිලිව පෙන්වා තිබුණත්, ඒ කාරණය තෝර ගන්න තරම් ඥානයක් නැතිවීම නිසා, ලෝක සම්මත උගතුන් පවා මේ කාරණය පටලවාගෙන තියෙනවා. ඒ නිසා මේ චුති - පටිසන්ධි කතාව වර්තමානයේ සමාජගත වෙලා තියෙන්නෙ, මරණය චුතිය හැටියටත්, නැවත උපත ලැබීම පටිසන්ධිය හැටියටත් සළකල. නමුත් ඒ කාරණයම තමයි හුග දෙනෙකුට පැටලිච්ච තැන. **මොකද බුද්ධ දේශනාව තුළ නැවත භවයක උපත ලැබීම පටිසන්ධිය කියල පෙන්වපු දේශනාවක් ත්‍රිපිටක පෙළ දහම තුළින් මේ දක්වාම හමුවෙලා නෑ.** එහෙම තියේ නම්, ඒක පෙන්වා දෙන්න කියලත් ඉල්ලා සිටිනවා.

සත්ත්වයෙක් නැවත භවයක උපතට යෑම, බුදු දහම තුළ පෙන්වා තියෙන්නෙ ඔක්කන්ති, ගබ්බාවක්කන්ති ආදී වචනවලින්. ඒ වගේම මවු ගැබක උපත ''ගන්ධබ්බෝ පච්චුපට්ඨිතෝ හෝති'' කියන කාරණයෙන් පැහැදිලි කරල තියෙනවා. හැබැයි මේ කිසිම තැනක, උපත ඇල්ලීම පටිසන්ධිය (පිළිසිඳ ගැනීම) කියල පෙන්වපු දේශනාවක් ත්‍රිපිටක දහමෙ නෑ. එහෙනම් චුතිය සහ පටිසන්ධිය, අභිධර්මයට අනුව මේ විදියට තේරුම් ගන්න ඕන. චුතිය සහ පටිසන්ධිය සිද්ධ වෙන්නෙ, කෙනෙක් මරණයට පත්වෙන්න පෙර ඇතිවන මරණාසන්න චිත්ත වීථිය තුළ. මේ මරණාසන්න චිත්ත වීථියේ චිත්තක්ෂණ 17 න් 14 වන චිත්තක්ෂණයෙදි තමයි, චුතිය සිද්ධ වෙන්නෙ. ඊළඟට චුතියට වහාම, අතරක් නැතිවම 15 වන චිත්තක්ෂණයෙදි පටිසන්ධිය සිද්ධ වෙනවා. 16, 17 කියල තවත් භවාංග චිත්තක්ෂණ 2 ක් ගියාම මරණාසන්න චිත්ත වීථිය කෙළවර වෙනවා. එතකොට තමයි සත්ත්වයා ඒ භවයෙන් කෙළවර වීම සිද්ධ වෙන්නෙ.

එහෙනම් අභිධර්මයට අනුව චුතිය සහ පටිසන්ධිය සිද්ධ වෙන්නෙ, මස් ලේ කයක් සහිත සත්ත්වයෙක්ගෙ නම් මස් ලේ කයේ මරණය සිද්ධ වීමට පෙර හෝ සිද්ධ වෙන මොහොතෙදි හෝ මරණාසන්න චිත්ත වීථිය තුළදි. එහෙම නැත්නම් මස් ලේ කයේ මරණින් පසු ශරීරයෙන් පිට වූ ගන්ධබ්බ අවස්ථාවෙදි වුනත්, චුති - පටිසන්ධිය සිද්ධ වෙන්න පුළුවන්. එතකොට චුතියට අනුව පටිසන්ධිය සිද්ධ වෙනවයි කියන්නෙ, අතරක් නැතිව මරණාසන්න අවසාන චිත්ත වීථිය තුළම චිත්තක්ෂණ දෙකක ක්‍රියාවලියක්. ඉතිං මේ කාරණය මරණය සහ උප්පත්තියට ආදේශ කරගෙන, වරදවා තේරුම් ගත් ධර්ම විවරණයක් ආයුධ කරගෙන, අන්තරා භවයක් නෑ කියන්නෙ මොන තරම් මෝඩ අදහසක්ද ?

ඒ වගේම අභිධර්මයේ පටිසන්ධිය විග්‍රහ වෙන තැනක ''පටිසන්ධික්ඛනේ විපාකා අභ්‍යාකථානං කටත්තාච රූපානං කම්ම පච්චයේන පච්චයෝ'' කියල, පටිසන්ධි ක්‍රියාවලිය බාහිර කිසිම දෙයක ආධාරයක් නැතිව, තනිකරම කර්ම බලයෙන් සිද්ධ වෙන බව පෙන්වා තියෙනවා. ඊළඟට මවු ගැබක උප්පත්ති වීම ''ඔක්කන්තික්ඛනේ නාම රූපං අඤ්ඤමඤ්ඤං සහජාත පච්චයේන පච්චයෝ'' කියල, සංජාතිකයා / ගන්ධබ්බයා මවු ගැබකට ඇතුල් වුනාම, ඒ ගන්ධබ්බයගෙ නාම රූප, මවු ගැබේ නාම රූප සමග එකිනෙකට සහජාත ප්‍රත්‍යයෙන් ප්‍රත්‍ය වන බව පෙන්වා තියෙනවා. එහෙනම් මවු ගැබකට ඇතුල් වීම ඔක්කන්තිය මිසක් පටිසන්ධිය (පිළිසිඳ ගැනීම) නොවන බව බුද්ධ දේශනාවෙන්ම පැහැදිලිව පෙන්වා තියෙනවා. එතකොට නැවත උප්පත්තිය, පටිසන්ධිය විදියට අද තෝරන්නෙ මොන ධර්මයට අනුවද කියන ගැටළුව මතු වෙනවා.

මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කරන්න පුළුවන්. යම් කිසි පුද්ගලයෙක් මැරෙන කොට, ඊළඟට තිරිසන් ජාතියේ උපතකට හේතු සකස් වෙලා තිබුන නම්, ඒ පුද්ගලයගෙ මරණාසන්න අවසන් චිත්ත වීථිය තුළ 14 වෙනි චිත්තක්ෂණයෙදි මිනිස් ගතිය අවසන් වෙනවා. එතකොට ඒ පුද්ගලයගෙ චුතිය කියල කියන්නෙ, මෙන්න මේ මනුස්ස ගතියෙන් චුත වීම හෙවත් මනුස්ස ගතිය අවසන් වීම. ඊළඟට චුතියෙන් පස්සෙ 15 වන චිත්තක්ෂණයෙදි තිරිසන් ජාතියේ පටිසන්ධිය සිද්ධ වෙනවා. ඉතිරි භවාංග චිත්තක්ෂණ දෙකත් ගිහින් චිත්තක්ෂණ 17 ම සම්පූර්ණ වෙනවත් එක්කම ඒ පුද්ගලය මරණයට පත් වෙනවා. දැන් පුද්ගලයා මැරෙනකොට මස් ලේ කය අතහැරල පිටවෙලා යන්නෙ තිරිසන් ගන්ධබ්බයෙක්. ඒ තිරිසන් ගන්ධබ්බය තමයි, කර්මානුරූපීව ඊළඟට ඒ ජාතියෙ තිරිසන් මවු කුසකට ඔක්කන්ති වෙලා තිරිසන් මස් ලේ කයකින් ලෝකයට බිහි වෙන්නෙ.

**සමහර තිරිසන් සත්තු පැටවු, බිත්තර බිහි කරන්නෙ එක කාලයකට විතරයි. අනෙක් කාලවලදි ඒ සතුන්ගෙ සංවාසයක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ වගේ පැටවු, බිත්තර බිහි නොවන කාලයට යම් සතෙක් මරණයට පත්වෙලා ඒ වගේ තිරිසන් උපතකට යන්න හේතු සකස්**

**වෙලා තිබුනොත්, කොහොමද ඒ වගේ උපතකට යන්නෙ ?** ඒ තිරිසන් සත්තු අතර සුදුසු කාලයකදි සංවාසයක් සිද්ධ වෙලා ගර්භාෂ සකස් වෙනකල්, අන්තරා භව අවස්ථාවෙ ගන්ධබ්බයින් විදියට ඉන්න සිද්ධ වෙන්නෙ නැත්ද ? ඒ විදියට වර්ෂ ගණනාවක් හෝ අන්තරා භවයෙ ඉඳල තමයි සුදුසු කාලයෙදි ගර්භාෂවලට ඔක්කන්ති වෙලා පැටවු හෝ බිත්තර හැදිල මෙලොවට බිහි වෙන්නෙ. අන්තරා භවයට විරුද්ධව කරුණු ඉදිරිපත් කරන උදවිය මේ වගේ අවස්ථාවලට දෙන උත්තරය මොකක්ද?

සත්ත්වයා මරණයට පත් වෙලා මෙලොවින් පරලොවට ගමන් කරනවා, පරලොවින් මෙලොවට එනවා (දණ්ඩ සූත්‍රය). එතකොට මෙලොව මොකක්ද ? පරලොව මොකක්ද? මනුස්ස, දේව, බ්‍රහ්ම, සතර අපා සත්ත්වයින් කියන්නෙ මෙලොව ජීවත් වන සත්ත්ව ප්‍රජාව. මරණයෙන් පස්සෙ කෙනෙක් මනුස්ස, දේව, බ්‍රහ්ම, සතර අපා ආදී තත්ත්වයක ඉපදුනාම ඒක පරලොව නෙවෙයි, මෙලොව. පරලොව කියන්නෙ ගන්ධබ්බ හෙවත් අන්තරා භව අවස්ථාව. මෙලොව කියන්නෙ ගන්ධබ්බ අවස්ථාවෙ ඉඳන් දෙවි, මිනිස්, බ්‍රහ්ම, සතර අපා ආදී භවවල ඉපදීම. සත්ත්වයා මෙලොවින් පරලොවටත්, පරලොවින් මෙලොවටත් එනව කිව්වම ඒකෙන් අදහස් කරන්නෙ, මේ ලෝකයෙන් මරණයට පත්වෙලා අන්තරා භවයටත්, අන්තරා භවයෙන් මෙලොවටත් පැමිණීම. මෙලොව පරලොව දක්නා මහණ බමුණන් සිටින බව පිළිගැනීම දස වස්තුක සම්මා දිට්ඨියේ එක් අංගයක්. එතකොට කවුරුහරි අන්තරා භවය පිළිගන්නෙ නැත්නම්, ඒ පුද්ගලය දස වස්තුක සම්මා දිට්ඨියටත් විරුද්ධ වන්නෙක්.

චුතුපපාත ඤාණයෙන් ලෝකය දෙස බලා වදාරණ තථාගතයන් වහන්සේට, හතරමං හංදියක උඩු මහලක සිට බලන කෙනෙකුට ගෙවල්වලින් පිටවෙන, ගෙවල්වලට ඇතුල් වන, අතරමග සිටින අය පැහැදිලිව පේන්නෙ යම් විදියකටද, මැරෙන අය, උපදින අය, අතර සිටින අය දිවැසින් දකින බව සඳහන් වෙනවා. මේ කාරණයෙන් පේනවා, මේ කය අතහැරල වෙන කයක උපත කරා යන ගන්ධබ්බයා ඉන්ද්‍රියන්ගෙන් පූර්ණ සත්ත්වයෙක් බව. එහෙම නොවන තත්ත්වයක් නම්, පිටවන ඇතුල් වන සත්ත්වයින් දිවැසින් දකින බව උන්වහන්සේ වදාරන්නෙ නෑ.

තිරොකුඩ්ඩ සූත්‍රයේ, පරලොව ගිය ඤාතීන් පෙර භවයේ හිටපු තමන්ගෙ නිවසට ඇවිත් ඒ පරිසරය තුළ වාසය කරන බව සඳහන් වෙනවා. මිය පරලොව යන අය මරණයත් සමගම වෙන භවයක උපත කරා යනව නම්, මරණින් පසු තමන්ගෙ නිවස ඇසුරු කරගෙන ඉන්නෙ කොහොමද? මේ මියගිය අය ඤාති ප්‍රේත කියල හඳුන්වනවා. හැබැයි මේ කියන්නෙ සතර අපායට අයිති ප්‍රේත නෙවෙයි. මේ කාරණයත් අද වරදවා වටහාගෙන තියෙන්නෙ. ප්‍රේත කියන්නෙ අනුන්ට අත පාල ජීවත් වෙන්නා කියන අදහස. (පර + හේ + අත - ප්‍රේත) මේ ඤාති ප්‍රේතයින් කියන්නෙ උපතක් කරා නොගිය, මරණින් පසු අන්තරා භව තත්ත්වයේ සිටින ගන්ධබ්බ කායිකයින්. **සත්ත්වයා මරණයත් සමගම උපත කරා යනව නම්, කෙනෙක්ගෙ මරණින් පසු සිදු කරන හත් දවසෙ, තුන් මාසෙ, අවුරුද්දෙ දානමාන පිංකම්වලින්, පරලොව ගිය අය අනුමෝදන් වෙන්නෙ කොහොමද ?**

ඤාති ප්‍රේතයින් වශයෙන් සිටින



අන්තරා භවිකයින්ට, ඤාතීන් දෙන පිංපෙත් නිසා සුගති අත්බැව් කරා යන්න බොහෝ සෙයින් උපකාර වෙනවා. දේව, බ්‍රහ්ම සහ නිරය, ප්‍රේත, අසුර වගේ අපාගත තැන්වල උපදින අයට පුණ්‍ය පාප ශක්තීන් බලවත් වීම නිසා, අන්තරා භවයක කාලයක් ඉන්න අවශ්‍ය වෙන්නෙ නෑ. නිදා පිබිදියෙකු වගේ සුගති, දුගතිවල උපත කරා යනවා. මනුස්ස, තිරිසන් වගේ අත්බැව් ලබන අය, දින කිහිපයක් හෝ ගන්ධබ්බ අවස්ථාවෙ ඉඳල උපත කරා යනවා. පර්යේෂණාත්මකව ඔප්පු කරගත් පුනරුප්පත්ති කතාවලත්, තමන්ගෙ අවසන් කටයුතු කරපු ආකාරය, තමන් වෙනුවෙන් පිංකම් සිදු කරපු ආකාරය දැක බලා ගත් හැටි කියල තියෙනවා. මරණයත් සමගම උපතක් කරා ගියා නම්, ඒ සිදුවීම් දැක ගන්නෙ කොහොමද ?

බයිපාස් වගේ සැත්කම් කරන අවස්ථාවල, මස් ලේ ශරීරයෙන් සූක්ෂම කය ඉවත් වෙලා, සැත්කම් කරපු හැටි, වෛද්‍යවරු කතා කරපු දේවල්, රෝහලට ආපු තමන්ගෙ ඤාතීන්ගෙ විස්තර, ඒ වෙලාවෙ තමන්ගෙ ගෙවල්වල සිදුවෙච්ච තොරතුරු පවා නිවැරදිව කියපු අවස්ථා ඕන තරම් තියෙනවා. මස් ලේ කයින් ඉවත් වෙච්ච සූක්ෂම කායිකයාට පෙනීම, ඇසීම, හැඳිනීම ආදිය තියෙන බව ඒකෙන් පැහැදිලි වෙනවා. පුද්ගලයෙක් මරණයට පත් වෙනකොට සිද්ධ වෙන්නෙත් සූක්ෂම කය මස් ලේ කයින් ඉවත් වීම. අන්තරා භව අවස්ථාව කියන්නෙ මේ සූක්ෂම කායිකත්වයට පත්වීම. පොට්ඨපාද සූත්‍රයේ මේ සූක්ෂම කය උපමාවලිනුත් පෙන්වා තියෙනවා. කඩුවකින් කොපුව එළියට ගැනීම, තණකොළ ගසකින් ගොබය ඉවත් කිරීම වගේ අවස්ථාවල, ඒ දෙක වෙන වෙනම තියෙන්නෙ යම් විදියකටද, මස් ලේ කය සහ සූක්ෂම කයත් එබඳු බව මේ සූත්‍රයේ පෙන්වා තියෙනවා.

එතකොට අන්තරා භවයක් නැතැයි කියල ගත්තොත්, පර්යේෂණාත්මකව වර්තමානයේ සොයාගෙන තියෙන පුනරුප්පත්ති සිද්ධාන්තවලටත් ගලපන්න බැරි වෙනවා. ඒ වගේම බුද්ධ දේශනාවන් සමගත් පරස්පරතාවයන් ගොඩ නැගෙනවා. බුදුන් වහන්සේ වච්ඡගොත්තට වදාළ දේශනාවක මෙහෙම සඳහන් වෙනවා. වච්ඡය, මේ කය බහා තබයිද (මරණය), වෙන කයකට නොපැමිණියේද, ඔහුට කුමක් උපාදාන වේද? එතකොට තණ්හාව උපාදාන කරගෙන වාසය කරන බව සඳහන් වෙනවා. මේ කය අතහැරල වෙන කයකට නොගිය, අතර මග අවස්ථාව මොකක්ද? ඒකත් මහායාන මතයක්ද? අන්තරා භවය ප්‍රතික්ෂේප කරන අය මේකට දෙන පිළිතුර මොකක්ද? ඒ කතාව ත්‍රිපිටකයට, පසුව ඇතුල් කරපු එකක් කියල ධර්මය බැහැර කරන්න පුළුවන්ද?

අනාගාමී පුද්ගලයන් අතර, අන්තරා පරිනිබ්බායී කියල ආර්ය පුද්ගලයෙක් ඉන්න බව ධර්මයේ සඳහන් වෙනවා. මේ ආර්ය පුද්ගලයා නැවත භවයක ඉපදීමට හේතු වන කාම රාග, රූප රාග, අරූප රාග කියන උප්පත්ති පටිලාභී සංයෝජන ප්‍රහීණ කරල තියෙන්නෙ. ඒ නිසා අන්තරා පරිනිබ්බායී අනාගාමී ආර්යන් වහන්සේ මරණින් පසු සුද්ධාවාසයේ උපදින්නෙ නෑ. හැබැයි මාන, උද්ධච්ච, අවිද්‍යා කියන භව පටිලාභී සංයෝජන පවතින නිසා මේ ජීවිතයෙදි පිරිනිවන් පාන්නත් බෑ. මේ වගේ අය මරණින් පසු තුන් භවයේ කිසි තැනක ඉපදෙන්නෙ නැතිව අන්තරා භව තත්ත්වයට පත්වෙනවා. ඒ අවස්ථාවෙදි සමහරෙක් මාන, උද්ධච්ච, අවිද්‍යා

කියන සංයෝජන ප්‍රහීණ කරල, අන්තරා භවයෙදි පිරිනිවන්පාන නිසා, ඒ අයත් අන්තරා පරිනිබ්බායී කියල හඳුන්වනවා. (මේ ගැන දීර්ඝ විස්තරයක් හෙළ බොදු පියුම 37 වන කලාපයෙන් ඉදිරිපත් කරල තියෙනවා.) අන්තරා භවයට විරුද්ධ වෙන අය, අතර පිරිනිවන් පාන මේ වගේ අය ගැන කියන්නෙ මොකක්ද ? කාම, රූප, අරූප රාගයන් ප්‍රහීණ කරපු මේ අනාගාමීන් සුද්ධාවාසයේ ඉපදෙන හැටි පෙන්වා දෙන්න. අටුවාවල අන්තරා පරිනිබ්බායී පුද්ගලයා විග්‍රහ කරන්න ගිහින්, සුද්ධාවාසයෙදි සම්පූර්ණ ආයුස නොගෙවා, අතර මගදි පිරිනිවන් පාන නිසා අන්තරා පරිනිබ්බායී වෙනව කියල වැරදි අර්ථ කථනයක් දීල තියෙනවා. අටුවා ඇදුරන්, අන්තරා පරිනිබ්බායී ආර්යන් වහන්සේ උප්පත්ති පටිලාභී සංයෝජන ප්‍රහීණ කරපු බව අමතක කරල තියෙන බව මේ අටුවා විවරණයෙන් පැහැදිලි වෙනවා.

බුද්ධ දේශනාවෙ සඳහන් වෙන විදියට, ලෝක විනාසයෙදි ලෝකාන්තරික නරකයේ ඉන්න සත්තු හැර අනෙක් සියලු සත්ත්වයෝම මරණින් පසු ක්‍රමයෙන් සුද්ධ වෙවී ආභස්සර බඹ ලොව ඉපදෙනවා. සත්ත්වයා මැරෙනකොටම උපත කරා යනවා කියන, අන්තරා භව විරෝධීව මත ප්‍රකාශ කරන අයට කියන්න තියෙන්නෙ, ලෝක විනාසයෙදි සියලු සත්ත්වයන් මරණයට පත් වෙලා ආභස්සර බඹ ලොව ඉපදෙන ක්‍රමය පෙන්වා දෙන්න කියල. ආභස්සර බඹ ලොව ඉපදෙන්නෙ රූපාවචර ද්විතීය ධ්‍යානය උපදවා ගත් අය පමණයි. එතකොට සතර අපාගත සත්ත්වයින් පවා ලෝක විනාසය වෙනකොට ආභස්සර බඹ ලොව ඉපදෙනව නම්, ඒ අය ධ්‍යාන ලබන ආකාරය පහදා දෙන ලෙසත්, අන්තරා භවය නැතැයි කියන අයට මතක් කරල දෙන්න ඕන.

දීඝ නිකායේ අග්ගඤ්ඤ සූත්‍රයේ සඳහන් වෙන විදියට, බ්‍රහ්මයින් පිරිහිලා මනුස්ස පරිණාමය සිද්ධ වෙලා තියෙන බව පැහැදිලියි. මේ අවස්ථාව වෙනකොට සතර අපාය, දෙව් ලොව ආදිය සකස් වෙලා නෑ. බ්‍රහ්ම කල්පිත මනුස්සයින් තුළ ඇතිවන සුචරිත, දුෂ්චරිත නිසා සුගති, දුගති දෙක නිර්මාණය වෙනවා. තිරිසන් ලෝකය මුලින්ම හැදෙන කොට, දුෂ්චරිත නිසා බ්‍රහ්ම කල්පිත මිනිස්සු මරණයට පත්වෙලා මුල්ම තිරිසන් සතුන් පහළ වුනේ කොහොමද ? ගැබක ඉපදෙන්න, තිරිසන් සතුන්ට මුල්ම කාලයේ පරිසරය නැති නිසා, සූක්ෂම කායිකව අන්තරා භවයෙ ඉඳල පොළවෙ රස ධාතු ඇසුරු කරල, ක්‍රමයෙන් ඝනීභවන ශරීර සකස් වෙනවා. මේ විදියට හට ගන්න සත්ත්වයින්ගෙන් තිරිසන් පරපුර බිහි වෙනවා. මේ කාරණයෙනුත් පැහැදිලි වෙන්නෙ, ගන්ධබ්බ අවස්ථාවකින් තොරව ආරම්භක තිරිසන් ලෝකය පහළ නොවන බව.

බුද්ධ කාලයේ හිටපු අම්බපාලි කියන ගණිකාව අඹ ගසකිනුත්, චිංචිමානවිකාව සියඹලා ගසකිනුත්, පොක්ඛසාරති බමුණා නෙළුම් මලකිනුත් උපන් බව සඳහන් වෙනවා. මේ තුන් දෙනා පෙර භවයේ මරණයත් සමග අන්තරා භවයට ඇවිත්, ඒ සූක්ෂම කය මේ ලෝකයේ පවතින අඹ, සියඹලා, නෙළුම් වගේ දේවල්වල රස ධාතුව කාලයක් තිස්සේ උරාගෙන ඝනීභවන මස් ලේ කයවල්වලින් ලෝකයට පහළ වුනා. මනුස්සයින් ඕපපාතිකව පහළ වෙන්නෙ මේ ක්‍රමයට. මරණයත් සමගම උපත සිදුවෙනව නම්, ඕපපාතික මිනිස්සු ලෝකයට පහළ වෙන ක්‍රමයක් නෑ. අන්තරා භව කතාව බැහැර කරන්න ගියොත්, ඉහතින් සඳහන් කරපු කිසිම දෙයක් හේතු ඵල සහිතව පැහැදිලි කරන්න බැරි වෙනව වගේම, බොහෝ කාරණාවන් සමග පරස්පරතාවයන් මතු වෙනවා.

අන්තරා භවයට විරුද්ධව මත ප්‍රකාශ කරන අය, කතාවත්ථු ප්‍රකරණයේ මොග්ගලීපුත්තතිස්ස මහ රහතන් වහන්සේ විසින් පරවාද ඛණ්ඩනය කරමින් අන්තරා භවය ප්‍රතික්ෂේප කරපු කාරණය ගෙනහැර දක්වනවා. කතාවත්ථුවේ සඳහන් වන අන්තරා භව වාදය මොකක්ද කියල පළමුව වටහාගත යුතුයි. එතනදි සකවාදීන්, අන්තරා භවිකයාට රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධ පහ තියේද කියල ඇහුවම, පරවාදීන් ඒක නෑ කියල ප්‍රකාශ කරනවා. මේ අනුව කතාවත්ථුවේ සඳහන් අන්තරා භවය සහ අද කතා කරන මරණයත් උපතත් අතර පවතින අන්තරා භවය හෙවත් ගන්ධබ්බ අවස්ථාව කාරණා දෙකක්. මේ ගන්ධබ්බයා ස්කන්ධයන්ගෙන් වගේම ඉන්ද්‍රියන්ගෙන් යුත්, දිවැසකට දකින්න පුළුවන් තත්ත්වයක්. ඒ නිසා කතාවත්ථුවේ ප්‍රතික්ෂේප කළ අන්තරා භවය සහ අද කතා කරන අන්තරා භවය පටලවා නොගත යුතුයි.

අන්තරා භවය නැතැයි කියන අයට අවසාන වශයෙන් කියන්න තියෙන්නෙ, මේක පිළිගන්න බැරි නම් දිවැස් පහළ කර ගෙන ඒ තුළින් හෝ බලාගෙන, සත්ත්වයා මරණයත් සමගම නැවත උපදිනවද, නැත්නම් අන්තරා භවයෙ ඉඳල උපත කරා යනවද කියල බලා ගන්න කියල. ඒ විදිහට බලන්න පුළුවන් දිවැස් ලාභී උතුමන් වර්තමානයේ ඉන්න නිසා, අන්තරා භවය ඒකාන්ත සත්‍යයක් බව සංකා විරහිතව සනාථ වෙලා තියෙනවා.

ලෝකයේ වඳ වෙලා ගියා කියන විවිධ සත්ත්වයින් සූක්ෂම කායිකව ගන්ධබ්බ ලෝකයේ තවමත් වාසය කරනවා. යම් සත්ත්ව පරපුරක අවසන් සතා මරණයට පත් වෙලා, ඒ සත්ත්ව යෝනියේ ඉපදීමට හේතු තිබුණ නම්, ඒ සතා මැරිල අන්තරා භවිකයෙක් විදිහට වාසය කරනවා. ඒ වගේම ඒ වඳ වී ගියා යැයි කියන සත්වයින්ට අදාල සංඛාර වඩන සහ වඩපු සත්වයින් තවමත් ඉන්න පුළුවන්. ඒ නිසා ඒ ජාතියේ මස් ලේ කයක් සහිත ගන්ධබ්බ සත්ත්වයින් තවදුරටත් බිහි වෙන්න පුළුවන්. නමුත් ඒ සතුන්ට නැවතත් මේ ලෝකයේ ඉපදෙන්න මස් ලේ කයක් සහිත ඒ ජාතියේ සත්ත්වයින් නැති නිසා, ගන්ධබ්බ ලෝකයේ ඉන්න සිද්ධ වෙනවා. වසර දහස් ගණනක් හෝ අන්තරා භවයෙ ඉඳල, ඒ සත්ත්වයින්ට ඉපදීමට හේතු වන භෞතික පරිසරය මේ ලෝකයේ නැවත සකස් වුනොත්, ඒ රස ධාතු ඇසුරු කර ගෙන මුලින්ම ඕපපාතිකව ඇවිත් සත්ත්ව පරපුර බිහි වෙනවා.

මෙතෙක් සොයා නොගත් අලුත් සත්ත්වයින් බිහි වෙලා තියෙන බව සත්ත්ව විද්‍යාඥයින් අදත් පවසනවා. ඒ විදිහට පහළ වෙන්නෙ, ඒ සත්ත්වයින් ගන්ධබ්බ ලෝකයේ ඉන්න නිසා. කීඩෑවන් වගේ ගොයමට හානි කරන සත්තු ඇති වෙන්න පටන් ගත්තෙ ඉතා මෑත කාලයේ. මනුස්සයින්ගෙ දූෂ්‍යතාවයනුත් මුල් වීමෙන්, අවශ්‍ය පරිසර සාධක හැදෙන කොට කීඩෑවන් ලෝකයට පහළ වුණා. ගන්ධබ්බයින් ලෝකයේ නොසිටියා නම්, ඒ සත්ත්වයින් මේ මෑත යුගයේ බිහි වුනේ කොහොමද ? විද්‍යාඥයින්, මේ විදිහට පහළ වන සත්ත්වයින් අලුත් ජීවීන් විදිහට සැලකුවත්, කවදා හරි මිහිපිට වාසය කරපු සත්ත්වයින්, ජීවත් වීමට අවශ්‍ය පරිසර සාධක නැති නිසා හෝ වෙන ක්‍රමවලින් හෝ විනාස වෙලා ගන්ධබ්බ ලෝකයට ගිය සත්ත්වයින්මයි. මේ සියලු කාරණා අනුව බලන කොට, අන්තරා භවය නැතැයි කියල හේතු සාධක සහිතව කරුණු ඉදිරිපත් කරන්න බෑ. ප්‍රඥාවන්තයෝ විමසුම් නුවණින් සත්‍යය වටහා ගනිත්වා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 46 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව♦ චිත්‍ර ශිල්පී එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඩබ්.ඒ. තිලිණවතී මහත්මිය - කඩවත ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 17,000/- ♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු.15,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස- රු. 10,000/-♦ යූ. ජී. එච්. සමන් චිත්තානන්ද මහතා ඇතුලු පවුලේ සැම - රු. 7,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ වසන්ත කොළඹආරච්චි මහතා ඇතුලු පවුලේ සැම - කොට්ටාව - රු.5,000/-♦ සුභාෂ් රණසිංහ මහතා - මගලෙගොඩ - රු. 5,000/-♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 5,000/- ♦ අමිල සුගතපාල මහතා - කඩවත - රු. 5,000/- ♦ ජී. ධර්මසේන මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 5,000/-♦ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු. 4,000/-♦ කැස්බෑව මාකන්දන සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,500/-♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/-♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු.3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/-♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්. නලිනසේකර මහතා - වලල්ලාවිට - රු. 2,500/-♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ජයනාත් සුභසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ රංජනී ජයසූරිය මහත්මිය - මීරිගම - රු.2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල - රු. 2000/-♦ ගුණපාල සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - අලපලාදෙනිය - රු. 2,000/-♦ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 2,000/- ♦ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 2,000/- ♦ චන්ද්‍රා විතාරණ මහත්මිය, චමින්ද පෙරේරා මහතා, චාන්දනී පෙරේරා මහත්මිය - රු. 2,000/- ♦ බුද්ධික නුවන් ජයලාල් මහතා - ලෙනගල - රු. 2,000/- ♦ කලගෙඩිහේනේ විසූ ඥානවතී පෙරේරා මහත්මියට පිං පිණිස - රු. 1,550/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ ජනිඳු බිම්සර පුතා - රාජකීය ක.වි. බාඳුරාගොඩ - රු.1,500/- ♦ විපුල සංජීව මහතා ඇතුලු පවුලේ සැම - හෝමාගම - රු.1,100/- ♦ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/-♦ ඉන්ද්‍රානි විසාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා-කුරුණෑගල - රු. 1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා මෙනවිය - නැදිමාල - රු.1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ මානෙල් කටුගම්පොළ මහත්මිය - මහරගම - රු. 1,000/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා -මොරටුව - රු. 1,000/-♦ අයන්ති ප්‍රේමතිලක මහත්මිය සහ පැතුම් ලොකුවිතාන මහතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු.1,000/- ♦ එස්.පද්මලතා මහත්මිය - යටවක - රු.1,000/-♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 1,000/- ♦ ඩබ්. ඒ. ගුණවතී මහත්මිය ඇතුළු පවුලේ සැම - නෙළුව - රු. 1,000/- ♦ මීගොඩ විසූ සෝමා ගරුසිංහ මහත්මියට පිං පිණිස - රු. 1,000/- ♦ ඉරේෂා ඇන්ඩෘ මහත්මිය - හෝමාගම - රු. 1,000/- ♦ එස්. එම්. පී. එස්. ආරච්චි මහත්මිය - කළුතර - රු. 1,000/- ♦ මැණිකේ දිසානායක මහත්මිය - රන්පොකුණගම - රු. 1,000/- ♦ සෙනෙවිරත්න මහතා - ගිරිඋල්ල - රු. 1,000/- ♦ ඩබ්. ඒ. සරත් වීරසිරි මහතා - දිගල - රු. 1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ගම්පහ - රු. 1,000/-♦ එම්.පී. විජේතුංග මහතා - රු. 1,000/-♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ ශාන්ත වීරසිංහ මහතා - මීගොඩ - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ අසංක සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 1,000/- ♦ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - දොරණාගොඩ - රු. 1,000/- ♦ කරුණා රත්නායක මහත්මිය - මහල්ඔළුව රු. 1,000/- ♦ අයිවල අමිතානන්ද හිමි - වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය, ඒ. ඒ. ගීතානි මහත්මිය - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනි දිසානායක මහත්මිය, පී.එම්. ගමගේ මහත්මිය- කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැලණිය, සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල, දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ 02, තිස්ස බී අතාවුද මහතා - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා - වැලිපැන්න - එන්. ඒ. නන්දිමිත්‍ර මහතා - අකුරැස්ස, ගාමිණී

සිරිමාන්න මහතා - රදාවාන, ශ්‍යාමා සංජීවනී ගම්ලත් මහත්මිය - නාරංගස්පිටිය, මාලනී ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - ගල්කිස්ස - රු. 9,450/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 189,100/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 23,130/- ♦ සම්පූර්ණ වියදම - රු. 255,630/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net
www.aaryadharma.org විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369
10. සමනල පොත්හල - නෙළුව.
11. සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081
12. සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776
13. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
14. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
15. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
16. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023)
17. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0713228571

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# කැරකෙන විටදී ඇති වන ලෝ මායාව

කැරකෙන විටදී ඇති වන වෙනසක බලය
නරකට හොඳට දෙකටම ගෙන දෙත ඵලය
කැරකුම නතර විට සැප දුක නැති කලය
මරණය එයයි මොහොතක තුන් ලොව තලය

පස් ඉඳුරන්ට දැනෙනා සුව ලෙසට එනා
ගැස්සෙන සතර මහ භූතයො එලෙස වෙනා
අස්වාදය කියා ගත හොත් ලොවෙහි දනා
දොස් එත නතර වූ විට එහි ගමන යනා

කැරකෙන විටයි යමකින් සැප දුක දෙන්නේ
වරකට එකයි එයිනුත් ගත හැකි වන්නේ
පරමාණුවක සුදු අට කය මුල ගන්නේ
අර ගෙන ඊට හිමි ආයුස කැර කෙන්නේ

ලොව ඇති සියල්ලම හැම විට කැරකෙනවා
මවමින් දම් හයක් සත හට දනවනවා
පවතින විටදී එය සැප යැයි රැවටෙනවා
නවතින විටදී ඉන් එන සුව නැති වෙනවා

ඇති ලෙස පෙනෙන මායාවකි චලිත විට
නැති වෙයි ඵලය එහි ආයුස ගෙවෙන කොට
සිතිවිලි මුලයි මෙසියල්ලෙම තැනුම හට
හති වැටෙනකල් දිව්වත් ඔය ටිකය හෙට

පෙනෙන නොපෙනෙනා හැම දෙයකටම ඇතී
කනෙන බොනෙන දෑ මුත් එහි ඇති මෙ ගතී
දැනෙන ගතියකට කැරකුම මුලට එතී
නැණෙන වටහ ගත් විට ඇති දෙයක නැතී

දුක මුත් දැනෙන්නේ චලිතය ඇති විටය
මෙකයත් එලෙස හේතුවෙ ඵලයට යටය
නොකළොත් ඇළුම් ලෙස ගෙන මම මගෙ මටය
මෙකලත් හේතු ඇත එය මතු නිවනටය

විදු ලොව සොයා යන මෙකියන කරුණ මෙදා
බුදු හිමි දුටුවෙ නැණසින් බෝ මැඩදී එදා
නිදුකින් ඉන්න දම් ඔසු දුන් තිලොව වෙදා
අඳුරෙහි යනෙන සත හට ඇත එළිය සදා



පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# සැණකි
# නැවතුම් පොළේ...




දැනුම් ඉගෙනුම් නොයෙක - ලොව ගැන හොයන්නේ
තැනුම් මහ ගේ දොරද - වතු පිටි තියෙන්නේ
දිනුම් කියමින් විටෙක - උඩ වට පනින්නේ
වැනුම් නැත පිනුම් මිස - මතු භවට යන්නේ

උපමාව ඇසි පියකි - හෙළන එක වරයක්
අප මේ ගෙවන දිවිය - තුළම ඇති සැරයක්
සැප ගාව ඇලුන හොත් - ලෙසට දැක හරයක්
එපමාවකුත් ඇතිය - උපත ලෙස නිරයක්

අනත ආ භව ගමනෙ - සැණයකි ගෙවන්නේ
තැනක එක ඉන් ලැබුව - නැවතුමක ඉන්නේ
වැනස ගිය දා නැවත - නව පොළකි එන්නේ
මනසමය මේ හැමට - මුල් තැනම ගන්නේ

තවත් හෙව්වද තුමක - ඔය ටිකම විතරයි
භවත් ගෙවිනා පමණි - යළි සසර කතරයි
පවත් වන්නට නොහැකි - මැරෙන භව අතරයි
නවත් වන දහම ඇත - ගතොත් ලොව එතෙරයි

සැණක් පාසා ගෙවෙන - දිවි බිඳක ගාවා
තැනක් නැත හිමිකමක - රිසි ලෙස නො වූවා
කුණක් ගෙන සුව සොයන - විට දුකම ආවා
පිනක් දහමක් කරනු - හැර තුමට මේවා

පරාමායුසයි කියන - වයසක ගෙවීමත්
තුර මරණ එයි විටක - සත සිත පෙළාමුත්
අර ගෙන එකල් ටිකට - මහ වැඩ බඳාගත්
හැර යයි මෙකය සැණක - මොන දෙය ගෙනාවත්

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන


නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.